සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව. 2562 ක් වූ බිනර මස (ව්‍යවහාරික වර්ෂ 2018 සැප්තැම්බර්)

85 වෙනි කලාපය



## මත් වතුරට ඇබ්බැහි වූවන් සඳහා විශේෂ සමාධිමය ප්‍රතිකාර...

රු. 25/-

සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය



# සඟ මොක් සුව

දන් සිල් භාවනාවට සිත පුරුදු කළ
පින් වත් බොදු දනගෙ සන්සුන් මනස තුළ
තැන් පත් බවකි පව් සිතිවිලි දුවන හළ
ඉන් අත් වන සුවය සඟ මොක් මගට මුල

නැණ ගුණ මුසුව ගුණ දහමෙහි හරය දැන
නිවසන පිනැති සිල්වත් එම උවසු දන
නිතියෙන අසති තිලොවග හිමි දෙසුව බණ
අනුදැන දහම නිවසති එය සසර පින

ඇල් මෙන් බදාගෙන හැම දෙය මමය මගේ
වල් මත් වෙලා වැඩි දෙන යති සසර දිගේ
සිල් වත් පිරිස විමසති බණ දහමෙ අගේ
කල් යල් පිරුණු කල භව දුක නසනු හැඟේ

දහමට පිනට යහ ගුණයට පුරුදු නැතී
හැමවිට ලොවට පෙන්වන රුදු නපුරු ගතී
අනුනට බහට නොනැමෙන අව ගුණය ඇතී
සතහට පිහිට වනු කෙලෙසද නිරයෙ යතී

මග පැහැදිලිය සත හට හිමි දෙසන ලද
හුඟ දෙනෙකුට මෙලොව එය අමතකය අද
අග හිඟකම් අපල උවදුරු නසන ලෙද
හිඟ නැත පිරිස වෙහෙසෙන දෙවි පිහිට යැද

හිස් බව මෙම දිවිය දෙසු බුදු සමිඳු එදා
බස් එම පිළිපැදිය යුතු අප ඉවත නොදා
රැස් කළ යුතුය පින එය දෙලොවටම හොඳා
වස් දොස් එවිට දුරු වෙයි ලැබ සුවය සදා

පබැඳුම - කාව්‍ය ශිරෝමණී පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා

# ලෝක ස්වභාවය මුල් කරගෙන කමටහන් සැකසෙන අයුරු... 05



පංචස්කන්ධය ගැන විග්‍රහයක් පසුගිය කලාපවලින් ඉදිරිපත් කළා. දැන් එහෙනම් ඊළඟට පංචස්කන්ධය සම්බන්ධ කරගෙන පංචස්කන්ධ භාවනාව වඩන්නෙ කොහොමද කියල කර්මස්ථාන තුලින් දැනගන්න ඕන.

ලෝක සත්ත්වයා යම් කිසි රූපයක තිබෙන්නා වූ මායා ආකාරය මුල් කරගෙන ඒකෙ රසාස්වාදයෙන් ප්‍රිය මනාප රූපස්කන්ධය කියල මහා දුක් බරක් අරගෙන පිට ඔපයට රැවටිලා හිත බැඳ ගන්නවා. ඒ බැඳගත්ත හිත නිසා රූපස්කන්ධයෙන් වෙන් වෙන්න බෑ. ඒ රූපස්කන්ධයෙන් ලැබුනා වූ සැප වේදනා මාත්‍රයක් අල්ලගෙන, ඒ මාත්‍රය ඉක්ම ගියාම ඊට පස්සෙ දෙන්නා වූ සියලු දුක් වේදනාවන් කරගහගෙන වේදනා ස්කන්ධයක් දරාගෙන එනවා. ඒ රූපස්කන්ධයේ ප්‍රිය ස්වභාවය, මධුර ස්වභාවය නිසා හට ගන්නා වූ සංඥා ස්කන්ධයක් අල්ලගෙන ප්‍රිය මනාප වින්දනයක් විඳින්න බලාපොරොත්තු වෙනවා. ඒ සංඥා ස්කන්ධය මතකයේ රඳවගෙන එබඳුම දෙයක් බලාපොරොත්තු වෙනවා. නමුත් ඒක තාවකාලිකව කොටු කරල දැමීමක්. අර ඇමට අමුණල දැම්ම වගේ ඊට පස්සෙ කවදාවත්, හරි ලස්සනයි කියන සංඥාව නැවත ගන්න බෑ, හරි හැඩයි කියන සංඥාව තියාගන්න බෑ. මේ ප්‍රිය සංඥාව, මේ මධුර සංඥාව කියල තියාගන්න බෑ. ඒක අල්ල ගත්ත තැන් පටන්, බැඳගත්ත බෙරේ ගහනව වගේ දෙයක් සිද්ධ වෙනවා. දැන් අර දුක් සංඥා ඔක්කොම විඳ විඳා ඉදිරි ගමන යන්න සිද්ධ වෙනවා.

ප්‍රිය මධුර කියල රූපයම මුල් කරගෙන, ඒ හැඩයෙන් ගත්තා වූ දෙයින් හිත බැඳගෙන, එබඳු දේ මට මතු මතුත් ඕන කියල සිතිවිලි, ක්‍රියා, වදන් නගමින් සංඛාර පහල කර ගත්ත නම්, ඒ පහල කර ගත්ත මාත්‍රය ගෙවිල ගිය තැන් පටන් “අනේ අපොයි වෙච්ච දෙයක්” කියන දුක් සංඛාරයන්ගෙන් තමයි පුරව ගන්නෙ. යමක් ප්‍රියයි මධුරයි කිව්වත් ඒකට නියමිත කාලය අවසානයේ ඒකෙන් යන්න වෙනවා, නික්මෙන්න වෙනවා. එහෙනම් ඒවා ඔක්කොම පිහිටල හිටින හට ගන්නා හිතක් ඇත්ද, හට ගත්තා වූ ඒ චිත්ත ගති ස්වභාවය මුල් කරගෙන බොහෝ කොටම ලෝභ සිත්, ද්වේශ සිත්, මෝහ සිත් කියන ඒවා පහල වෙලා විඳිනවා. සුඛ හිතක් විඳින්න ලැබෙන්නෙ නෑ. මාත්‍රය රැවැට්ටුවා විතරයි. මායා දර්ශන චිත්ත ස්වභාවයක් පෙන්වල ඒකට රවට්ටල අනන්ත දුක් ගොඩක් විඳිනවා. මෙන්න මේක තමයි, පංචස්කන්ධය දුක්ඛස්කන්ධයයි කියල කියන්න හේතුව. මායාවකින් රැවටිලා තියෙනදෙයක්කවදාවත්සුඛස්කන්ධයක් කියල ගන්න බෑ.

එහෙනම් මෙතන මොකක්ද වෙන්නෙ? යම් කිසි ආකාර රූපස්කන්ධයක් හට ගත්ත නම්, යම් තැනක පහල වුනා නම්, ඒ හට ගත්ත තැන් පටන් කිසිවෙකුටත් වෙනස් කරන්න බැරි ඒකට උරුම ධර්මතාවයක් තියෙනවා. ඒ තැන් පටන් ඒක විපරිනාමයට පත් වෙනවා, වැනසෙනවා. යම් තැනක කෙබඳු ආකාර හෝ රූපස්කන්ධයක් හට ගත්ත නම්, මායා ලෝකයක, මායා අවස්ථාවක ඒක බැඳල තියන්න මම කරගන්නවා, මගේ කරගන්නවා, මගේ ආත්මය කියන හැඟීම තියෙනවා වගේ, මාව උම්ඹෙ කර ගනින්, මම ලස්සනයි, මම හැඩයි කියල අවස්ථාවක් දෙනව වගේ, ලෝකයා රවට්ටන්න යම් අවස්ථාවක් තියෙනවා. ඒවා ඔය කියන ආස්වාදජනක විදිහට පෙන්වන අවස්ථාවන්. අන්න ඒ මායාවේ අවස්ථාවන්ට අහුවෙලා ලෝක සත්ත්වයා මොකද කරන්නෙ, ඒක දරා ගන්නවා. හට ගත්ත දේ දරා ගත්තට පස්සෙ මොකද වෙන්නෙ? ඒකට උරුම ස්වභාවයක් තියෙනවා. හට ගත්ත නම් ඒ තත්ත්වය ඒකාන්තයෙන්ම පරිනාමයට පත්වෙනවා. නැත්නම් තත්ත්වය වෙනස් වෙවී යනවා. ඕකට කියනවා නානා භාවයට පත්වෙනව කියල. ආස්වාද මාත්‍රයක් දෙන රූපස්කන්ධය දුක් කන්දරාවක් දෙන්නා වූ රූපස්කන්ධයක් හැටියට ගෙවිල ගිහින් නානා භාවයට, විනා භාවයට පත් වෙනවා, විනාසයටපත්වෙනවා.නානත්වයට

පත්වෙන අතරෙදි හැඩ මාත්‍රයක් පෙන්වල අනික් ඔක්කොම දෙන්නෙ දුක් මාත්‍රා. ඒ වගේම ඇහැට අම්හිරි දේවල් මතු කරල දීල විනාභාවෝ කියල විනාසයට පත් වෙනවා.

එහෙනම් ඔය හැම රූපස්කන්ධයකම තිබුන රසාස්වාදයක් තිබුන නම්, ඒ හැම දෙයකම ඒ ප්‍රිය, මධුර ස්වභාවය මොහොතක් තිබිල නානා භාවයට පත් වෙලා වෙනස් වෙවී යනවා. දැන් එපා වෙන තත්ත්වයෙන් ඒවා දැකල විනාභාවෝ කියල විනාසයට පත් වෙනවා. ජීවිතයක් අරගත්තත් තරුණ කාලය කියල අන්තිම අවුරුදු 10 - 15 ක් තියෙයි. එතැන් පටන්ගෙන තමන් අකමැති විදිහට වෙනස් වෙලා යනවා. ප්‍රියෙහි, මනාපයෙහි කියන තැනට එකතු වෙලා ප්‍රිය ස්වභාවයයි මධුර ස්වභාවයයි, තරුණයි කියල බොහොම ටික කාලයක් පෙන්වනවා. එතැන් පටන් නානා භාවයට පත්වෙන මැදි වයස එනවා. මොහොතක් මොහොතක් පාසා නානා භාවය. නොයෙක් නොයෙක් ආකාරයෙන් මෝරගෙන යනවා. කෙස් ඉදෙනවා, දත් හැලෙනවා, හම රැලි වැටෙනවා, ඇඟ රැලි වැටෙනවා, ඇද කුද ගැහෙනවා, විකෘති වෙනවා. නමුත් අර ප්‍රියයි මධුරයි කියන අවුරුදු 10 - 15 ට හරියන්න තව හත් අට ගුණයක් පෙළී පෙළී ජීවත් වෙනවා. අවුරුදු අසූවක් අනූවක් යනකල් ජීවත් වෙනවා. විනා භාවයට (විනාසයට) පත් වෙනවා.

එහෙනම් නානා භාවයට පත්වෙලා යනකොට අර හැඩයි වැඩයි කිව්ව එක වෙනස් වෙච්ච කාලය වැඩියි. හැඩයි වැඩයි කිව්ව කාලය නම් ඉතා අල්පයි. ඒ හැඩයි වැඩයි කියන කාලයෙත් හත් දවසක් නොකා නොබී හිටියොත් එහෙම වැහැරිලා මැරිල යනවා.

එහෙනම් මේ කයක ඒ කියන ප්‍රිය භාවයක්, මනාප භාවයක් ඇත්ද, ඒ ප්‍රිය මනාප භාවය තියාගන්නෙ නානා ප්‍රකාර උපක්‍රමවලින් සුද්ධ කරල. එක දවසක් හරි සුද්ධ කරගන්න බැරි වුනොත් ප්‍රිය භාවයත් ඉවරයි, මනාප භාවයත් ඉවරයි. මහ බෝසතාණන් වහන්සේට රඟුම් පෙන්වන්න ගිය කාන්තාවො ටික මැදියම් රෑ යාමෙ වෙනකොට කුණු කෙළ පෙරාගෙන ඇදගෙන වැටිල, කොණ්ඩා අවුල් කරගෙන ඉන්නකොට මොකද වුනේ? ප්‍රිය මනාප භාවය ඒ ටිකටත් ඉවර වුනා. එහෙනම් ඊළඟ දවසෙ මොකද කරන්නෙ? නැවතත් සුද්ධ පවිත්‍ර කරගෙන නැති හැඩ වැඩ හදාගෙන, නැති ලස්සන මවාගෙන වෙස් මවාගෙන ඉන්න යක්ෂණියක් වගේ ලෝකයා රවට්ටන්න, මායාවෙන් රවට්ටන්න වෙස් මවාගෙන ඉදිරිපත් වෙනවා. එහෙම ඉදිරිපත් වෙන්නෙත් බොහොම ටික කාලයයි. කවල පොවල හංකඩවල තෙල් ගාල හරි කමක් නෑ, ඔප මට්ටම් කරගෙන ගස්ලබු, පිපිඤ්ඤ ගාල හරි මුහුණ හදාගෙන එන්නෙ මොකක් නිසාද? ඔය පොඩ්ඩක් හදාගෙන ලෝකයාට මාර දූවරු එනව වගේ රවට්ටනවා. තමන්ගෙ නැති හැඩය ලෝකයාට පෙන්වගෙන රවට්ටනවා. විපරිනාමයට පත්වෙන, මොහොතක්වත් එක පැයක්වත් එකාකාරව තියන්න බැරි දෙයක්, වෙනස් කරගෙන හැඩ ගහගෙන ඇවිත් මුහුණ පෙන්වල මොකද කරන්නෙ? කාම යක්ෂණියකගෙ ක්‍රියාවලිය ගන්නවා. නමුත් ඇත්තක් නෙවෙයි කළේ රැවටීමක්. තමනුත් රැවටි රැවටී අනුන්වත් රවට්ටනවා. කවුද රැවටෙන්නෙ? රවට්ටන්න ගිය කෙනත් රැවටෙනවා. ඒකට ගොදුරු වෙච්ච අයත් රැවටෙනවා. දෙන්නම රැවටෙනවා.

දැන් මොකද වෙලා තියෙන්නෙ? වැඩිකල් යන්නෙ නෑ නානා භාවයට පත්වෙන්න පටන් ගන්නවා. දැන් ඉතින් හැඩ වැඩ ගහල පෙන්වන්නද? කෙස් ටික වැටුනා, මොනව කරන්නද? හම රැලි වැටුනා, මොනව කරන්නද? දැන් පිපිඤ්ඤ, ගස්ලබු ගෑවට හරියන්නෙත් නෑ, කෝමාරිකා ගෑවට හරියන්නෙත් නෑ. දැන් රැලි වැටිල වැහැරුනාම හදන්න බෑ. ඒ මට්ටම ඉක්මවා ගිහින් ඉවරයි. එතැන් පටන් මොකද වෙන්නෙ? තව අවුරුද්දක් දෙකක් ගියා, හතරක් ගියා, මොනව කරන්නද? දැන් බැලුවම හකුත් ඇකිලිලා ඔක්කොමත් ඉවරයි. නමුත් මැරුනෙ නෑ. තවමත් නානා භාවය සිද්ධ වෙනවා. දැන් මේ නානා භාවය ප්‍රිය මනාපද? බලන්නත් කැතයි කියනවා. ඔන්න ඔය විදිහට ගිහින් මොකද වෙන්නෙ? විනා භාවයට (විනාසයට) පත්වෙනකොට, නානා භාවය තුලින් අප්‍රමාණ කාලයක් දුක් විඳල විකෘති වෙලා විනාසයට පත්වෙලා යනවා.

එහෙනම් සියලු ප්‍රිය මනාප භාවයන් ඉතා අල්පයි. ඒක මාත්‍රයක මායා කාලයක් විතරයි. ඇඳුමක් ගේනවා. හරි ලස්සනයි, හරි චාම්, හරි හොඳයි, හරි හැඩයි කියල ගෙනත් බැලුවම මොකද වෙලා තියෙන්නෙ? කාටවත් කුණු ගැවෙන්නෙ නැති ඇඳුමක් හොයාගෙන එන්න බෑ. ඇඳගෙන ගමනක් ගිහින් ඇවිත් බැලුව නම්, ඒක හෝදන්නෙ පවිත්‍ර කරන්නෙ නැතිව නැවතත් ඇඳගෙන එළියට බහින්න බෑ. එහෙනම් දැන් අපි නැවතත් හොරයක් කරනවා. නැවතත් සුද්ධ පවිත්‍ර කරල ඇකිලිච්ච ඒවා මැදල, නැවතත් නැති ඔපයක් ඇති කර ගන්නවා. දැන් හොඳ ඇඳුමක් කියල නැවතත් ඇඳගෙන යනවා. නැවතත් රැවැට්ටුවා. හැබැයි රවට්ටල පැය 2 ක් යන්න හම්බ වෙන්නෙ නෑ. නැවතත් ඒකට උරුම කුණු තැවරෙනවා, දහදිය ගඳ හමනවා. නැවතත් නානා භාවයට පත්වෙනවා. දැන් ඉතින් හැඩ වැඩ කරගත්තෙ මාත්‍රයයි. මාත්‍රයේ පටන්ගෙන මොකද වෙන්නෙ? නානා භාවයට පත්වෙනකොට ඒකෙ හැඩේ ඉවරයි, වැඩිකල් කරන්න බෑ. මේ කයත් ඔය වගේ තමයි. තරුණ කාලෙ හරි හැඩයි කියල පෙන්නුවා. මහලු වුනාට පස්සෙ නැවතත් ඒක හැඩ කරන්න බැරුව වගේ, ඇඳුමත් ටික දවසක් ගියාට පස්සෙ පාන්කඩයක් වුනා. දැන් ඉතින් මැදල පෙන්වන්නත් බෑ. බූල් ඇවිල්ල ගෝ පාට වෙලා. දැන් ඇඳගෙන කොහොමටවත් යන්න බෑ. මොන ඔපය දැම්මත් හරි ගස්සන්න බැරි තත්ත්වයක් එනවා.

ප්‍රියයි මනාපයි කියන කැටයම් මෝස්තර ආදී හැම දෙයක්ම ඇතුලත් කරල හොඳ නමකුත් දාගෙන ගෙයක් හදනවා. හරි හොඳ ගෙදර කියල ඕකට වෙලා ඉන්නවා. නමුත් වැඩිකල් යන්න පෙර අරහෙන් මෙහෙන් කැඩිල, ඇතුලෙ පාට වෙනස් වෙලා, ලී දිරල, වහලට දාල තියෙන උළු දිය සෙවල බැඳිල පරණ වෙලා, නැවතත් අලුත් ගෙයක් කරන්න බැරි තත්ත්වයට පත්වෙලා. එන්න එන්නම පරණ තත්ත්වයට පත්වෙනකොට බොරුවට සුදු හුණු ටිකක් අතුල්ලනවා, බිම ඔප දානවා. නැති ඔපයක් ඇති කරගෙන ඉන්න ලෝකයක් හදනවා. හරිම සුන්දරයි කියල ලෝකයට පෙන්වනවා. නානා භාවයට පත්වෙනවා. මේ විදිහට බොහෝ කාලයක් ඒ ගෙදර නානා භාවයට පත් වීම ප්‍රිය මනාප නැති දෙයක්. එහෙම ගිහින් විනා භාවයට පත්වෙනවා. ඒකත් ප්‍රිය මනාප නෑ.

එහෙනම් රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ කියල බැලුවත් ඒ ඔක්කොටම මොකද වෙන්නෙ? "සබ්බේහි මේ පියේහි මනාපේහි නානා භාවෝ විනා භාවෝති" මෙන්න කර්ම ස්ථානයක්. **මේ සියලු ප්‍රිය මනාපයෝ නානා භාවයට පත්වෙනවා, විනාසයට පත්වෙනවා.** දැන් මේ කරපු විග්‍රහයේ සාරාංශය තමයි කර්මස්ථානය. ඔය එක කර්මස්ථානයක්. දැන් මේ කර්මස්ථානය කවුරුවත් දුන්න නෙවෙයි. අහපු ධර්මය තුලින්



සියල්ල කැටි කරල ගන්න සාරාංශයක් ආවා. දැන් මේක සත්‍යයට අනුකූල කර්මස්ථානයක්. මේක කාගෙවත් එකක් නෙවෙයි. මේ ධර්මය දැන ගත්ත නම්, වැටහුනා නම්, ඒ ධර්මයේ සාරාංශය එකතු කරල ගත්තත්, සබ්බේහි මේ පියේහි මනාපේහි නානා භාවෝ විනා භාවෝති. බුදු පියාණන් වහන්සේ දේශනා කළා, ඔන්න ඔය කර්මස්ථානය නිතරම මෙනෙහි කරන්න කියල. "පබ්බ ජිතේන අභින්නං පච්චවෙක්ඛි තබ්බන්ති" කිව්වෙ ඒකයි. ඔන්න නිවන් මග. එහෙනම් මේ බැඳිල රැඳිල තියෙන ආසාවන් දුරු කරගන්න මූලික අවස්ථාවේ තියෙන කර්මස්ථානයක් තමයි මේ. මේකෙ අර්ථය හොඳට තේරුම් අරගෙන නිතර සිහි කරගෙන ඉන්න පුළුවන්.

**ඕනම ප්‍රිය මනාපයක් දැක්කොත් "සබ්බේහි මේ පියේහි මනාපේහි නානා භාවෝ විනා භාවෝති" කියන්න පුරුදු කරගන්න. ඒක සිහි කරන්න. වැඩිකල් යන්න පෙර මෙනෙහි කරපු සියලු ධර්මය ඔතනට කැටිවෙලා එනවා. යම් ඇලීමක් තිබුනද මුළාවක් තිබුනද, ඇලීම මුළාව අහක් වෙලා යනවා. ධර්මයට හිත පිහිටනවා. අර මායාවෙන් ගිලිහිලා යනවා. ලෝක ස්වභාවය දැනගන්න මේක මූලික කර්මස්ථානයක්.**

මීට පෙර පංචස්කන්ධය ගැන විස්තර කළා. මේ සත්ත්වයෙක් වශයෙන් කොතැනක උපන්නත් ඒ උපන් සත්ත්වයාට තියෙන්නෙ ස්කන්ධ 5 යි. රූපස්කන්ධය, වේදනාස්කන්ධය, සංඥාස්කන්ධය, සංඛාරස්කන්ධය, විඤ්ඤාණස්කන්ධය. රූපස්කන්ධය කියන්නෙ කෙබඳු ස්වභාවයක්ද කියල හොඳින් විග්‍රහ කළා. දැන් මොකද වෙන්නෙ? හට ගත්ත රූපස්කන්ධයක් ඇත්නම් නානා භාවයට පත්වෙනවා. විපරිනාමයට පත්වෙනවා. විනා භාවෝ කිව්වෙ විනාසයට පත්වෙනවා. හට ගත්ත හැම දෙයක්ම එහෙමයි. "සබ්බේපි මේ පියේහි මනාපේහි නානා භාවෝ විනා භාවෝති" ඔන්න එතන තියෙන්නෙත් ධර්මය. අරකටම ගැලපුනා. ප්‍රිය මනාප දෙයක් යම් තැනක විද්‍යමාන වෙනව නම්, ඒ සියල්ලම නානා භාවයට පත්වෙනවා කිව්වෙ විපරිනාමයට පත්වෙනවා. විනා භාවෝ කිව්වෙ විනාසයට පත්වෙලා යනවා. මේ තමයි ධර්මයේ මූලික සිද්ධාන්තය, දහම් අවබෝධයේ මූල සිද්ධාන්තය.

යං කිංචි සමුදය ධම්මං සබ්බන්තං නිරෝධ ධම්මං කිව්වෙත් ඕකමයි. මේ මාතෘකා ධර්මය විග්‍රහ කළාම කියවෙන්නෙ, හේතුවක් නිසා යමක් හට ගත්ත නම් ඒ හටගත්ත සියල්ල සැරි සරන්න නුසුදුසු ධර්ම බව. මෙතනදි රෝද කියන්නෙ රවුම් ගැසීම. නිරෝධ කියන්නෙ රවුම් නොගැසීම, රෝද නොකිරීම. මේක වෙනස් කරන්න ලෝකයේ කිසි කෙනෙකුට බෑ. කිසිම දවසක වෙනස් වෙලත් නෑ. ධර්මතාවය, සත්‍යය ඕකයි. මෙතනදි අපි එකක් දකිනවා. දුර වේවා, ළඟ වේවා, හීන වේවා, ප්‍රණීත වේවා, සියුම් වේවා, ඝන වේවා, අතීත රූපස්කන්ධයයි යමක් යම් තැනකද වුනාද, ඒ සියල්ල විපරිනාමයට පත්වුනා. දුර වේවා, ළඟ වේවා, හීන වේවා, ප්‍රණීත වේවා, සියුම් වේවා, ඝන වේවා, වර්තමාන රූපස්කන්ධයයි යමක් යම් තැනකද වෙනවද, ඒ සියල්ල විපරිනාමයට පත්වෙනවා, විනාසයට පත්වෙනවා. දුර වේවා, ළඟ වේවා, හීන වේවා, ප්‍රණීත වේවා, සියුම් වේවා, ඝන වේවා, අනාගත රූපස්කන්ධයයි යමක් යම් තැනක මතු වෙනවද, ඒ සියල්ල විපරිනාමයට පත්වන්නේමය, වැනසී යන්නේමය. ඔන්න ධර්මතාවය ආවා. ඕක තමයි සත්‍යතාවය.

රූපස්කන්ධය පිළිබඳව මේ ටික දැක්කට පස්සෙ අපි එකක් දකිනවා. එහෙනම් එබඳු වන්නා වූ රූපස්කන්ධයක් මම කොච්චර කැමති වුනත් මම කැමති සේ පවතියිද? මගේ කියල සදාතනික කියල පවතින්න රූපස්කන්ධයක් ලෝකෙ නෑ. මම කියලත් නෑ, මගේ කියලත් නෑ, මගේ කියල ස්ථිරව දෙයක් තියෙන්න පුළුවන් තැනක් නෑ. එහෙනම් මෙන්න මේක දකිනවා. හේතු නිසා හට ගත්තා වූ රූපස්කන්ධයක් ඇත්නම් හේතු වෙනස් වීමෙන් විපරිනාමයට පත්වෙනවා, වැනසෙනවා. මේක ධර්මතාවයක්. එබඳු ධර්මතාවයක් ඇත්තා වූ රූපස්කන්ධයක් කැමති සේ පවත්වන්න පුළුවන්ද කියල බැලුවම, කිසිම ආකාරයකින් අපිට විද්‍යානුකූල තීරණයක් දෙන්න බෑ, සත්‍ය තීරණයක් දෙන්න බෑ, කැමති සේ පවත්වන්න පුළුවන් කියල.

එහෙනම් මොකක්ද ගන්න තීරණය? රූපස්කන්ධයයි යමක් යම් තැනක කෙබඳු ආකාරයෙන් හෝ වේද, ඒ සියල්ලම ඉච්ඡ සේ නෑ, කැමති සේ නෑ, නිසි නෑ. ඒ නිසා පරිහරණයට අනිසියි හෙවත් අනිච්චයි. නිසි නැති බව ඉස්සෙල්ල දැන ගත්තා. නිසි සේ නැති නිසා තමයි කැමති සේ පවත්වන්න බැරි කියල දැන් දැන ගත්තා. එහෙනම් අනිච්චයි. ඉච්ඡ සේ පවත්වන්න බැරි නිසා අනිච්චයි. කැමති සේ පවතින්නෙ නැති නිසාම දුක් විඳිනවා, දුක් වෙනවා. කැමති සේ පවතින්නෙ නැති නිසා ඒක සැපයිද දුකයිද කියල ඇහුවොත්, සැපයි කියල කියන්න කිසිම විද්‍යාවක් නෑ. කැමති සේ පවතින්නෙ නැත්නම් ඒක දුකයි. කැමති සේ නැති නිසාමයි ලෝක සත්ත්වයා දුකයි කියන්නෙ. ඒ නිසාමයි පෙළෙන්නෙ. ඒක හේතු සාධක සහිතමයි. යද නිච්චං තං දුක්ඛං කිව්වෙ ඒ නිසා. නමුත් යමක් අනිත්‍ය නම් (ස්ථිර නැත්නම්) ඒක දුකයි කියල අද සමහර අටුවාවල අර්ථ තෝරනවා. එතකොට ස්ථිර නැති හැම දෙයක්ම දුකද? තමන් අප්‍රිය අමනාප දෙයක් ස්ථිර නැති වෙනකොටත් දුකද? සත්‍යය වැහිල ගියාට පස්සෙ, අර්ථය වැහිලා ගියාට පස්සෙ දහම් ගැඹුර එන්නෙ නෑ. ගැඹුර ප්‍රත්‍යක්ෂය එන්නෙ නෑ. විද්‍යාවට එකඟ නෑ. එහෙනම් මොකක්ද එකඟ වෙන්නෙ? යමක් කැමති සේ නැත්ද ඒක නම් දුකයි. ඒකෙන් දුක් සහගත පෙළීමක් ඇති කරනවා. ඒක විද්‍යාවට එකඟයි, සත්‍යයට එකඟයි. එහෙනම් යමක් කැමති සේ පවතින්නෙ නැති බව ඔප්පු වෙලා ඉවරයි. එබඳු රූපස්කන්ධයක් කැමති සේ පවතින්නෙ නැත්නම්, ඒකාන්තයෙන්ම ඒ දුක එන බව සත්‍ය නම්, එබඳු වන්නා වූ දෙයක් ඇත්නම්, මම

# නිවන් ලැබ දෙන කමටහන්...

05 කොටස



ලෝකයේ යථා ස්වභාවය දහමට අනුව අනිච්ච, දුක්ඛ, අනත්ත වශයෙන් තේරුම් ගත්තට පස්සෙ, එතනින් එහාට සසර ගමන කෙළවර කර ගන්නත්, ඉහාත්ම සුඛ විහරණය සඳහා දැහැන් වඩන්නත්, ආර්ය සමාධි ලබන්නත් පොදුවේ සියලු පින්වතුන්ට වැදගත් වන, වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේට සමාධියෙන් නැගුනු තවත් කමටහන් කිහිපයක් මෙවරත් සටහන් කරනවා. **සමහර කර්මස්ථාන බැලු බැල්මටම බොහෝ දුරට එක හා සමාන වගේ පෙනුනත්, සුළු සුළු වෙනස්කම් සහිතව සඳහන් කරල තියෙන්නෙ, ඒ ඒ පුද්ගලයන්ට ගැලපෙන විදිහට අවස්ථානුකූලව සමාධියට නැගිච්ච ආකාරය අනුව.** කාලයක් වඩාගෙන යනකොට තමන්ට වඩාත් හොඳින් ගෝචර වන, වැඩෙන කර්මස්ථාන වැඩි වැඩියෙන් භාවිතා කිරීමෙන් හේතු වාසනා තියෙන පින්වතුන්ට ඉහල ප්‍රතිඵල අත්පත් කරගන්න පුළුවන්.

කියල ගන්න, මගේ කියල ගන්න, මගේ ආත්මය කියල ගන්න, එහෙම බැඳෙන්න අදහස් කරන්න දෙයක් නෑ.

එහෙනම් මොකක්ද ඒකෙ තියෙන්න? වචනයක් තියෙනවා, ඒකට කියනවා යං දුක්ඛං තදනත්තා කියල. යමක් දුක නම් ඒක අනාත්මයි කියල අද මේක තෝරනවා. හැබැයි ආත්ම / අනාත්ම කියන්නෙ මොකක්ද කියල ඇහුවොත් දෙන්න උත්තරයක් නෑ. ඒ නිසා ඔය දෙපැත්තම හොඳට බලන්න ඕන. සියල්ල අනාත්මයි අනාත්මයි කියල අපි නිවන් දකින්න හදනවා. ඇත යනු එක අන්තයක්, නැත යනු එක අන්තයක්. මේ අන්ත දෙකටම පැමිණෙන්නෙ නැතිව බුදු පියාණන් වහන්සේ මාධ්‍යය (අවිද්‍යා තණ්හා නිරෝධය) තුලින් නිවන් සත්‍යය කරා ගමන් කළා කියල පෙන්වා දෙනවා.

එහෙනම් මොකක්ද මේ කියන මාධ්‍යය. ආත්ම අනාත්ම ඇත, නැත. ආත්ම ඇත, අනාත්ම නැත, ආත්මයක් නෑ, ආත්මයක් තියෙනවා. ඇත නැත කියන අන්ත දෙක. නමුත් අද මේක වැහිල තියෙන දෙයක්. එහෙනම් මොකක්ද හරි වචනය? අනත්තා කිව්වෙ මොකක්ද? අනත්තා කියන්නෙ පාළියෙන්. අනර්ථ කියන්නෙ සංස්කෘත. එහෙනම් අපේ වචනය මොකක්ද? අනාථ. ඒක තමයි පහසුම ළඟම තියෙන වචනය. එහෙනම් වචන පටලවා ගන්නෙ මොකටද? යං දුක්ඛං තදනත්ථා... යමක් දුක නම් ඒක අනාථයි. ඒ තමයි නිවන් දකින වචනය. එහෙනම් අපි අනාත්ම නෙවෙයි දකින්න ඕන, අනාථ දකින්න ඕන. අනාථ කියන වචනය එනකොටම අපිට දහම් අර්ථය ඇවිත් මාධ්‍යයේ පිහිටනවා. ආත්ම, අනාත්ම දෙකෙන්ම අපි අහක් වෙලා පිහිටන්න ඕන අනාථ කියන අදහසේ. තදනත්තා කිව්වෙ, ඒ නිසා ඒක අනාතයි කියන අදහස. අනාථ ධර්මය කියනකොට විසාල ගැඹුරු වැටහීමක් එනවා. අනාථ ලෝකයෙන් මිදිල නාථ තත්ත්වයට පත් වෙන්න අපිට කියල දුන්නෙ අනාථ නාථයන් වහන්සේ හෙවත් බුදු රජාණන් වහන්සේ.

එහෙනම් මොකක්ද රූපස්කන්ධය කියන්නෙ? ලෝකයේම කොටසක්. රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ කියන මේ ස්කන්ධ සියල්ලෙන්ම නම් ලෝකය හැදිල තියෙන්නෙ, පංචස්කන්ධයෙන් හැදුනා වූ ලෝකයක් ඇත්නම්, ඒක පංචස්කන්ධ ලෝකය. පංචස්කන්ධ ලෝක අනාථයි. ඔන්න කර්මස්ථානයකට වචනයක් ආවා. පංචස්කන්ධ ලෝකෙ හැටි මෙච්චර කාලයක් විග්‍රහ කළා. රූපස්කන්ධයේ හැටි විග්‍රහ කළාම, දැන් අපි නිගමනය කරනවා, එබඳු රූපස්කන්ධයක් අල්ල ගත්තොත් අනාථයි කියල. එහෙනම් රූප උපාදානස්කන්ධයත් අනාථයි කියල දකිනවා. ඒ අනුසාරයෙන් ඔය ස්කන්ධ සියල්ලටම එන ලෝක අනාථ බවත් වටහාගන්න ඕන.

දැන් සියලු ලෝක හැදිල තියෙන්නෙ ඉහත කී ස්කන්ධ තුලින් බව පෙනී යන්න ඕන. මේ පංචස්කන්ධයම ඉවත් කළොත් තවත් එතන ලෝකයයි කියල සම්මතයක් පනවන්න කිසිවක් ඉතිරි නොවන බව පේනවා. මේ ස්කන්ධ 5 ට ඇළුම් කිරීම නිසා පංච උපාදානස්කන්ධය ගොඩනැගෙනවා.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් යළි මතු කළ සැඟවුනු දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ:*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

41. හට ගත් සියල්ල
අනිච්චයි දුක්ඛයි අනත්තයි
අතහැරීම නාථයි
නොඇල්ම නාථයි
මිදීම නාථයි
නිවනම නාථයි.../‍/‍/

42. සියලු සංඛාර සියලු සංඛත
අනිච්චයි දුක්ඛයි අනත්තයි
අතහැරීම නාථයි
නොඇල්ම නාථයි
මිදීම නාථයි
නිවනම නාථයි.../‍/‍/

(සියලු සත්ත්ව, පුද්ගල, ද්‍රව්‍ය වස්තු සියලු ලෝක කෙරෙහි පහල වන ඇලීම්, බැඳීම්, ඇසුරු කිරීමට ආසාව සහමුලින්ම අත්හැරී යාද, නොඇලී යාද, මිදී යාද එකල්හි නිරෝධය ප්‍රත්‍යක්ෂ කර පූර්ණය අරිහත්වයයි.)

43. සියලු අවස්ථාවෝ
අනිච්චයි දුක්ඛයි අනත්තයි
අතහැරීම නාථයි
නොඇල්ම නාථයි
මිදීම නාථයි
නිවනම නාථයි.../‍/‍/

44. සියලු තණ්හා උපාදානයෝ
අනිච්චයි දුක්ඛයි අනත්තයි
සියලු තණ්හා උපාදානයෝ
නිරෝධ වෙත්වා

45. මමද සියලු සත්ත්වයෝ
අනිච්චයි දුක්ඛයි අනත්තයි
අතහැරීම නාථයි - නොඇල්ම නාථයි
මිදීම නාථයි - නිවනම නාථයි.../‍/‍/

46. හටගත් සියල්ල අනිච්චයි දුක්ඛයි අනත්තයි
අතහැරීම නාථයි - අතහැරීම වෙත්වා
නොඇල්ම නාථයි - නොඇල්ම වෙත්වා
මිදීම නාථයි - මිදීම වෙත්වා
නිවනම නාථයි - නිවනම වෙත්වා.../‍/‍/

47. සියලු පංචස්කන්ධ
අනිච්චයි දුක්ඛයි අනත්තයි
අතහැරීම නාථයි
නොඇල්ම නාථයි
මිදීම නාථයි
නිවනම නාථයි.../‍/‍/

48. මමද සියලු සත්ත්වයෝ
අනිච්ච වූ දුක්ඛ වූ අනත්ත වූ
පංචස්කන්ධයෙන් මිදෙත්වා
රාගක්ෂය වූ
ද්වේශක්ෂය වූ
මෝහක්ෂය වූ
නිවන් සුවයෙන් සුවපත් වෙත්වා

49. අවිජ්ජා සහගත පංචස්කන්ධයෝ
අනිච්චයි දුක්ඛයි අනත්තයි
තුච්චයි නින්දිතයි ළාමකයි
දාහ සහගතයි
අතහැරීම නාථයි
අතහැරීම වෙත්වා
නොඇල්ම නාථයි
නොඇල්ම වෙත්වා
මිදීම නාථයි - මිදීම වෙත්වා
නිවනම නාථයි - නිවනම වෙත්වා

50. පංචස්කන්ධ
අනිච්චයි දුක්ඛයි අනත්තයි
මම යැයි ගැනීමට
මගේ යැයි ගැනීමට
මගේ ආත්මය යැයි ගැනීමට
සුදුසු නොවන්නෝමය

51. සම්මා සම්බුදු සරණයි
මමද සියලු සත්ත්වයෝ
අනිච්ච වූ දුක්ඛ වූ අනත්ත වූ
සියලු පංචස්කන්ධයෙන්
නිදහස් වෙත්වා

52. සියලු සත්ත්වයෝද මමද
සංසාර ද්වේශයෙන් නිදහස් වෙත්වා
සියලු සත්ත්වයෝද මමද
සංසාර පාපයෙන් නිදහස් වෙත්වා
මමද සියලු සත්ත්වයෝ
අනිච්ච වූ දුක්ඛ වූ අනත්ත වූ
පංචස්කන්ධයෙන් නිදහස් වෙත්වා
මමද සියලු සත්ත්වයෝ
නිවන් සුවයෙන් සුවපත් වෙත්වා

53. කාම ධම්ම
අනිච්චයි දුක්ඛයි අනත්තයි
කාමාවචර ඡන්ද රාගයෝ
නිරෝධ වෙත්වා

රූප ධම්ම
අනිච්චයි දුක්ඛයි අනත්තයි
රූපාවචර ඡන්ද රාගයෝ
නිරෝධ වෙත්වා

අරූප ධම්ම
අනිච්චයි දුක්ඛයි අනත්තයි
අරූපාවචර ඡන්ද රාගයෝ
නිරෝධ වෙත්වා

ලෝක ධම්ම
අනිච්චයි දුක්ඛයි අනත්තයි
ලෝකාවචර ඡන්ද රාගයෝ
නිරෝධ වෙත්වා

54. කාමාවචර බන්ධන ඡන්ද රාගයෝ
අනිච්චයි දුක්ඛයි අනත්තයි
සැමට කාමාවචර බන්ධන
ඡන්ද රාගයෝ
නිරෝධ වෙත්වා.../‍/‍/

රූපාවචර බන්ධන ඡන්ද රාගයෝ
අනිච්චයි දුක්ඛයි අනත්තයි
සැමට රූපාවචර බන්ධන
ඡන්ද රාගයෝ
නිරෝධ වෙත්වා.../‍/‍/

අරූපාවචර බන්ධන ඡන්ද රාගයෝ
අනිච්චයි දුක්ඛයි අනත්තයි
සැමට අරූපාවචර බන්ධන
ඡන්ද රාගයෝ
නිරෝධ වෙත්වා.../‍/‍/

ලෝකාවචර බන්ධන ඡන්ද රාගයෝ
අනිච්චයි දුක්ඛයි අනත්තයි
සැමට ලෝකාවචර බන්ධන
ඡන්ද රාගයෝ
නිරෝධ වෙත්වා.../‍/‍/

55. රූපයෝ
අනිච්චයි දුක්ඛයි අනත්තයි
රූපයෙහි නොඇලෙමි

වේදනාවෝ
අනිච්චයි දුක්ඛයි අනත්තයි
වේදනාවෙහි නොඇලෙමි

සංඥාවෝ
අනිච්චයි දුක්ඛයි අනත්තයි
සංඥාවෙහි නොඇලෙමි

සංඛාරයෝ
අනිච්චයි දුක්ඛයි අනත්තයි
සංඛාරයෙහි නොඇලෙමි

විඤ්ඤාණයෝ
අනිච්චයි දුක්ඛයි අනත්තයි
විඤ්ඤාණයෙහි නොඇලෙමි

මමද සියලු ලෝක සියලු සත්ත්වයෝ
අවිද්‍යා බන්ධනයෙන් මිදෙත්වා

56. රූප ස්කන්ධයෝ
අනිච්චයි දුක්ඛයි අනත්තයි නිස්සාරයි
මම යැයි ගැනීමට
මගේ යැයි ගැනීමට
මගේ ආත්මය යැයි ගැනීමට
සුදුසු නොවන්නෝමය

වේදනා ස්කන්ධයෝ...
සංඥා ස්කන්ධයෝ...
සංඛාර ස්කන්ධයෝ...
විඤ්ඤාණ ස්කන්ධයෝ...
(පෙර සේ විස්තර කරගන්න)

57. රූප ස්කන්ධයෝ
අනිච්චයි දුක්ඛයි අනත්තයි
අතහැරීම නාථයි
නොඇල්ම නාථයි
මිදීම නාථයි
නිවනම නාථයි.../‍/‍/

වේදනා ස්කන්ධයෝ
අනිච්චයි දුක්ඛයි අනත්තයි
අතහැරීම නාථයි

නොඇල්ම නාථයි
මිදීම නාථයි
නිවනම නාථයි.../// 

සංඥා ස්කන්ධයෝ
අනිච්චයි දුක්ඛයි අනත්තයි
අතහැරීම නාථයි
නොඇල්ම නාථයි
මිදීම නාථයි
නිවනම නාථයි.../// 

සංඛාර ස්කන්ධයෝ
අනිච්චයි දුක්ඛයි අනත්තයි
අතහැරීම නාථයි
නොඇල්ම නාථයි
මිදීම නාථයි
නිවනම නාථයි.../// 

විඤ්ඤාණ ස්කන්ධයෝ
අනිච්චයි දුක්ඛයි අනත්තයි
අතහැරීම නාථයි
නොඇල්ම නාථයි
මිදීම නාථයි
නිවනම නාථයි.../// 

58 රූපස්කන්ධයෝ
අනිච්චයි දුක්ඛයි අනත්තයි
අතහැරීම නාථයි
අතහැරීම වෙත්වා
නොඇල්ම නාථයි
නොඇල්ම වෙත්වා
මිදීම නාථයි
මිදීම වෙත්වා
නිවනම නාථයි
නිවනම වෙත්වා.../// 

වේදනා ස්කන්ධයෝ
අනිච්චයි දුක්ඛයි අනත්තයි
අතහැරීම නාථයි
අතහැරීම වෙත්වා
නොඇල්ම නාථයි
නොඇල්ම වෙත්වා
මිදීම නාථයි
මිදීම වෙත්වා
නිවනම නාථයි
නිවනම වෙත්වා.../// 

සංඥා ස්කන්ධයෝ
අනිච්චයි දුක්ඛයි අනත්තයි
අතහැරීම නාථයි
අතහැරීම වෙත්වා
නොඇල්ම නාථයි
නොඇල්ම වෙත්වා
මිදීම නාථයි
මිදීම වෙත්වා
නිවනම නාථයි
නිවනම වෙත්වා.../// 

සංඛාර ස්කන්ධයෝ.....
විඤ්ඤාණ ස්කන්ධයෝ...
(පෙර සේ විස්තර කරගන්න)

59. රූපං අනිච්චං
වේදනා අනිච්චා
සංඥා අනිච්චා
සංඛාරා අනිච්චා
විඤ්ඤාණං අනිච්චංති

විඤ්ඤාණං අනිච්චං
සංඛාරා අනිච්චා
සංඥා අනිච්චා
වේදනා අනිච්චා
රූපං අනිච්චංති

රූපං දුක්ඛං
වේදනා දුක්ඛා
සංඥා දුක්ඛා
සංඛාරා දුක්ඛා
විඤ්ඤාණං දුක්ඛංති

විඤ්ඤාණං දුක්ඛං
සංඛාරා දුක්ඛා
සංඥා දුක්ඛා
වේදනා දුක්ඛා
රූපං දුක්ඛංති

රූපං අනත්තං
වේදනා අනත්තා
සංඥා අනත්තා
සංඛාරා අනත්තා
විඤ්ඤාණං අනත්තංති

විඤ්ඤාණං අනත්තං
සංඛාරා අනත්තා
සංඥා අනත්තා
වේදනා අනත්තා
රූපං අනත්තංති

60. රූපං අනිච්චං දුක්ඛං අනත්තං
වේදනා අනිච්චා දුක්ඛා අනත්තා
සංඥා අනිච්චා දුක්ඛා අනත්තා
සංඛාරා අනිච්චා දුක්ඛා අනත්තා
විඤ්ඤාණං
අනිච්චං දුක්ඛං අනත්තංති

විඤ්ඤාණං අනිච්චං දුක්ඛං අනත්තං
සංඛාරා අනිච්චා දුක්ඛා අනත්තා
සංඥා අනිච්චා දුක්ඛා අනත්තා
වේදනා අනිච්චා දුක්ඛා අනත්තා
රූපං අනිච්චං දුක්ඛං අනත්තංති

61. චක්ඛුසයෝ
අනිච්චයි දුක්ඛයි අනත්තයි නිස්සාරයි
චක්ඛුසයෝ
මම යැයි ගැනීමට
මගේ යැයි ගැනීමට
මගේ ආත්මය යැයි ගැනීමට
සුදුසු නොවන්නෝමය

රූපයෝ...
චක්ඛු විඤ්ඤාණයෝ...
චක්ඛු සම්ඵස්සයෝ...
චක්ඛු සම්ඵස්සජා වේදනාවෝ...

සෝතයෝ..
ශබ්දයෝ...
සෝත විඤ්ඤාණයෝ...
සෝත සම්ඵස්සයෝ...
සෝත සම්ඵස්සජා වේදනාවෝ...

ඝානයෝ...
ගන්ධයෝ...
ඝාන විඤ්ඤාණයෝ...
ඝාන සම්ඵස්සයෝ...
ඝාන සම්ඵස්සජා වේදනාවෝ...

ජිව්හායෝ...
රසයෝ...
ජිව්හා විඤ්ඤාණයෝ...
ජිව්හා සම්ඵස්සයෝ....
ජිව්හා සම්ඵස්සජා වේදනාවෝ...

කායයෝ...
පොට්ඨබ්බයෝ...
කාය විඤ්ඤාණයෝ...
කාය සම්ඵස්සයෝ...
කාය සම්ඵස්සජා වේදනාවෝ...

මානසයෝ...
ධර්මයෝ...
මනෝ විඤ්ඤාණයෝ...
මනෝ සම්ඵස්සයෝ...
මනෝ සම්ඵස්සජා වේදනාවෝ...
(පෙර සේ විස්තර කරගන්න)

62. ලෞකිකත්වයට බැඳීමේ
සියලු පාප අවස්ථා
අනිච්චයි දුක්ඛයි අනත්තයි
අතහැරීම නාථයි
අතහැරීම වෙත්වා
නොඇල්ම නාථයි
නොඇල්ම වෙත්වා
මිදීම නාථයි
මිදීම වෙත්වා
නිවනම නාථයි
නිවනම වෙත්වා
(ගිහි පිංවතුන්ට විශේෂයි)

63. මේ දෙතිස් කුණපය
අනිච්චයි දුක්ඛයි අනත්තයි
මේ දෙතිස් කුණපයෝ
අනිච්චයි දුක්ඛයි අනත්තයි
අතහැරීම නාථයි
නොඇල්ම නාථයි
මිදීම නාථයි
නිවනම නාථයි

සියල්ලෝ දෙතිස් කුණප ඇසුරෙන්
අතහැරෙත්වා නොඇලෙත්වා
මිදෙත්වා
නිබ්බාන පරම සුඛයෙන්
සුඛිත වෙත්වා.

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# නොපළ වූ ගුණ කඳ XIV



වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ

අභයරතනාලංකාරය - 85

## ලෝකයාට හෙළි නොවූ තවත් විස්මිත ප්‍රතිකර්ම

වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ ගිහි වතක සිටියදීත්, මහණ වුනාට පසුවත්, සාසනික වත් පිළිවෙත්වලට අනුව සිදු කරනු ලැබූ විස්මිත ප්‍රතිකර්ම මාලාවේ තවත් පැතිකඩක් තමයි මේ කලාපයෙන් ඉදිරිපත් කරන්නෙ. උන්වහන්සේව ගිහි වතක පටන් ළඟින් ඇසුරු කළ ආරණ්‍යවාසී භික්ෂූන් වහන්සේ සුපුරුදු පරිදි ඒ හා සම්බන්ධ තවත් තොරතුරු කිහිපයක් මේ විදිහට හෙළිදරව් කළා.

දවසක් අබේරත්න උපාසක මහත්තයගෙන් බණ දහම් අහල දහම් අවබෝධයක් තියෙන අපේ දායක මහත්තයෙකුට අහඹු ලෙස එක්තරා තරුණයෙක් මුණගැහුනා. ඒ තරුණයා මෙහෙමකියනවා.මටවිශ්වවිද්‍යාලයකින් මේ විදිහෙ උපාධියකුත් තියෙනවා. මේ වගේ රැකියාවක් තමයි මම කරන්නෙ. නමුත් මගේ දෙමව්පියන් වගේම ගෙදර අනෙක් අයත් මට හරියට කරදර බාධා කරනවා. මම රෑ නිදාගෙන ඉන්නකොට සමහර දවස්වලට ඇඳෙන් පවා ඇදල බිමට දානවා. මට මේ වගේ කරදර බාධා ඇතිවෙන්නෙ මගේ මියගිය ඥාතිවරයෙක් නිසා. මේ වෙනකොට විසාල මිල මුදලක් වියපැහැදම් කරල නොයෙකුත් ශාන්ති කර්ම කළත් තවම සුවයක් නම් නෑ. ඒ නිසා මට මේ කරදර බාධා නැති කරගන්න උදව් කරන්න කියල ඔහු ඉල්ලා සිටියා.

ඉතින් මේ දායක මහත්තය ඒ තරුණයගෙන් අහනවා, ඔබට ඔය තියෙන කරදර බාධා නැති කරගන්න හදන්නෙ මොකටද, ඔබේ මතු බලාපොරොත්තු මොනවද කියල. එතකොට ඔහු එකපාරටම කියනවා, මගේ එකම බලාපොරොත්තුව නිවන් දකින්න, මම නිතරම වගේ බණ දහම් එහෙමත් අහනවා කියල. එතකොට දායක මහත්තය මෙහෙම කිව්වා. ඔබට නිවන් දකින්න නම් ඕන, ඒක බොහොම හොඳයි. ඒක තමයි වෙන්න ඕන. මම ඒකට උදව් කරන්නම්. මහත්තය වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයට යන්න. ගිහින් වහරක හාමුදුරුවො මුණ ගැහිල කියන්න, ස්වාමීන් වහන්ස මට ඕන නිවන් දකින්න, නමුත් ඒකට මහ බාධාවක් තියෙනවා, මෙන්න මෙහෙම අමනුස්සයෙක් ඇවිත් මට හරියට කරදර බාධා කරනවා කියල. එතකොට ඔය ප්‍රශ්නය විසඳගෙන ඔබට නිවන් දකින විදිහ උන්වහන්සේ කියල දෙයි. ඒ අනුව කටයුතු කරන්න කියල මේ දායක මහත්තය ඔහුට කිව්වා.

ඒ තරුණ මහත්තය ඒ කියපු ආකාරයටම ගිහින් වහරක හාමුදුරුවන්ට කිව්වම උන්වහන්සේ කියල තියෙනවා, අටපිරිකර (දොළොස් පිරිකර) පූජාවක් සහිත දානමය පූජාවක් කරල පිං අනුමෝදනාවක් කරගන්න කියල. ඒ අනුව දිනයක් වෙන් කරගෙන ඇවිත් අටපිරිකර පූජාවක් සහිතව දාන පූජාව සිද්ධ කරල පිං අනුමෝදන් කළාට පස්සෙ වහරක හාමුදුරුවො කිව්වා, දැන් සසර ණය ගනුදෙනු සඳහා කරපු කරදර බාධා සියල්ල දුරු වුනා, ඔය මහත්තයගෙ කටයුතුත් කරගෙන දහම් මාර්ගයත් පූර්ණ කරගන්න කටයුතු කරන්න, දැන් ඉතින් නැවත ඔය කියන කරදර බාධා සිද්ධ වෙන්නෙ නෑ කියල. ඒ තරුණ මහත්තයගෙ අසනීප කරදර බාධා සියල්ල එයින්ම අවසන් වුනා. සියලු ප්‍රශ්න ඒ තුලින් විසඳගෙන දැන් ඔහු බොහොම සතුටින් තමන්ගෙ කටයුතු කරගෙන දහම් මාර්ගයත් අනුගමනය කරමින් කාලය ගත කරනවා.

මේ සිදුවීමෙන් ටික දවසකට පස්සෙ වහරක හාමුදුරුවන්ගෙන් මේ ගැන කරුණු කාරණා විමසුවම උන්වහන්සේ මෙහෙම කියනවා. එදා මම පිං අනුමෝදනාව සිද්ධ කරන අවස්ථාවෙ සමාධියෙන් දැක්කා, බොහොම ඈත ඉඳගෙන තඹ පාට හරි ලස්සන අමනුස්සයෙක් ඒ තරුණ ළමයට බැනගෙන බැනගෙන යනවා. අටපිරිකර... ඕවා මට වැඩක් නෑ, ඕවා මට එපා, මගෙන් ගත්ත ඒවා දීපන් කියල තමයි බැන්නෙ. මම ඒ වෙලාවෙ අධිෂ්ඨාන කළා, එහෙනම් ඔබට මොනවද අවශ්‍ය කියල. එතකොට ඒ අමනුස්සය කියනවා, මගෙන් එදා කහවණු 500 ක් ණයට ගත්තා, මට ඒවා තවම දුන්නෙ නෑ, මට මගේ කහවණු 500 ඕන කියල. මම ඒ වෙලාවෙම ණයට ගත්ත කහවණු 500 ත් එක්ක යම් පොලියක් ඒ සඳහා තියේ නම් ඒවත් එක්ක සිතූ පැතූ ආකාරයෙන් ඔබට කහවණු ලැබේවා කියල අධිෂ්ඨාන කළා. එතකොටම ඒ අමනුස්සයට කහවණු මහ පොදියක් ලැබුනා. ඔහු ඒවත් අරගෙන හරි සතුටින් ඒ පිං අනුමෝදනාව අවසන් වෙන්නත් පෙර යන්න ගියා. දැන් ඉතින් කවදාවත්ම ඒ කරදර කරපු අමනුස්සයා නැවත කරදර කරන්න එන්නෙ නෑ. ඈත අතීතයේ කහවණු පරිහරණය කරපු කාලයේ සිද්ධ වෙච්ච ණය ගනුදෙනුවක් නිසා තමයි ඔය විදිහට පස්සෙන් ඇවිත් කරදර බාධා කරන්න යෙදුනෙ... මේ විදිහට වහරක හාමුදුරුවො ඒ සිද්ධියට සම්බන්ධ අතීත කතාවත් කිව්වා.

ඉතින් අබේරත්න උපාසක මහත්තය / වහරක හාමුදුරුවො මේ විදිහට සුවපත් කරපු රෝගීන් තවත් සිය ගණනක වුනත් තොරතුරු ඉදිරිපත් කරන්න පුළුවන්. ඒ වුනත් ඒ සඳහා තවත් ඉදිරියට

කාලය මිඩංගු කළ යුතු නැති බවයි මගේ හැඟීම. මේ තරම් රෝගීන් ප්‍රමාණයක් ගැනවත් මේ විදිහට දැනුවත් කළේ, මේ කාලෙ ලෝකයට පහල වෙච්ච අතිදුර්ලභ උත්තමයෙක්ගෙ මහා ගුණ සමුදායෙන් බිඳක් පින්වතුන්ගේ දැන ගැනීම පිණිසත්, උන්වහන්සේට කෘතගුණ සැළකීමක් වශයෙනුත්, ඒ තුලින් උන්වහන්සේ ගැන යම් තරමකට හෝ චිත්ත ප්‍රසාදයක් ඇති කරගෙන යම් දහම් අවබෝධයකට මහා උපනිශ්‍රයක් වේවා කියන අදහසිනුත් තමයි. කොහොම වුනත් ඉතින් අද සමහර ආධුනික පින්වතුන්ට නම් මේ ලිපි පෙළ තුලින් යම් යම් ගැටළු මතු වෙන්න පුළුවන්. නමුත් දහම් අවබෝධය වැඩි වීම තුලින් සහ කාලයාගේ ඇවෑමෙන් ඒ සඳහා වැඩි ප්‍රමාණයකට උත්තර ලැබෙන බවයි මගේ අදහස.

අපි මේ වෙනකල්ම අබේරත්න උපාසක මහත්තය සුවපත් කරපු රෝගීන් ගැන බොහෝ කරුණු කාරණා ඉදිරිපත් කළ නිසා කෙනෙකුට හිතෙන්න පුළුවන්, එතුමන්ට සුවපත් කරන්න බැරි වෙච්ච රෝගීන් එහෙම මුණගැහුනෙ නැත්ද කියල. ඒ නිසා අපි ඒ ගැනත් තොරතුරු ටිකක් හරි මේ අවස්ථාවෙම ඉදිරිපත් කළොත් හොඳයි.

දවසක් අබේරත්න උපාසක මහත්තය එක්ක අපි දහම් සාකච්ඡාවක් කරන කොට අපිට එතුමා මෙහෙම කියනවා. ස්වාමීන් වහන්ස, දවසක් මගේ ළඟට බෙහෙත් / ප්‍රතිකර්ම කර ගන්න අම්ම කෙනෙක් එක්ක ඇස් දෙකම අන්ධ පුතෙක් ආවා. මම විවිධ රෝගීන් සාසන ආශිර්වාදයෙන් සුවපත් කරනවා කියල ආරංචි වෙලා තමයි ඒ අයත් මාව හොයාගෙන ඇවිත් තිබුනෙ. එදා බෙහෙත් / ප්‍රතිකර්ම කරන දවසක් නිසා ඔවුන් ආවම මමත් සමාධියෙන් යොමු කරල බැලුවා. එතකොට මම දැක්කා, මේ අම්මා සහ ඇස් අන්ධ පුතා මීට අත්බැව් කිහිපයකට පෙරත් අම්මා සහ පුතා හැටියට ජීවත් වෙලා ඉන්නවා. ඒ කාලෙ මේ දෙන්නම ඉතාම දුප්පත්. පොල් අතු වගේ කොළ සෙවිලි කරපු පුංචි පැල්පතක තමයි ජීවත් වෙලා හිටියෙ. ගෙදර හරියටම තිබුනෙ පුංචි බංකුවක්, මේසයක් වගේ දෙයක් විතරයි. ඒ ගෙදර තාත්ත කෙනෙක් ඉන්නව දැක්කෙත් නෑ. මේ අම්ම බොහොම අමාරුවෙන් දුක සේ තමයි කාලය ගත කළේ. මේ ළමය ඒ දවස්වල තරුණයෙක්. දවසක් මහ වැස්සක් වෙලාවෙ මේ ගෙදර හැම තැනම තෙමෙනවා. හරියට හරක් මඩුවක් වගේ. මේ අම්ම වැස්සට තෙමී තෙමීම ගෙදර සුද්ධ පවිත්‍ර කර ගන්න කොස්සක් වගේ යමක් අරගෙන වහළට ඇන ඇන තෙමෙන තැන් බල බලා හදනවා. පුදුම දුකෙන් වේදනාවෙන් පීඩාවෙන් අඬ අඬා තමයි ගෙදර තෙමෙන තැන් හද හදා හිටියෙ.

ඒ වෙලාවෙ මේ තරුණ පුතා එළියෙ ඉඳල ගෙදරට එනකොට අම්ම තෙමෙන තැන් හද හදා ඉන්නවා. ඒත් මේ ළමය ඉන්න තැන තෙමෙනවා. එතකොට මේ ළමය ඒක දැකල තරහ ගිහින් අම්මගෙන් අහනවා, ඇයි උඹ ඉන්න තැන විතරද තෙමෙන්නෙ, මම ඉන්න තැන තෙමෙනවා උඹට පේන්නෙ නැත්ද, උඹේ ඇස් පොට්ට වෙලාද කියල. මේ දර්ශන සියල්ලම මම ඒ වෙලාවෙ සමාධියෙන් දැක්කා. එදා ඒ අම්මා සහ පුතා තමයි අද මේ අම්මා සහ ඇස් අන්ධ පුතා. මම ඔවුන්ට මෙහෙම උපදෙස් දුන්නා. මේ දරුවා පෙර අත්බැව් කිහිපයකට පෙර තමන්ගෙම අම්මට මේ විදිහට බැනල තියෙනවා. ඒකෙ තදබල කර්ම විපාකයක් තමයි දැන් මේ අත්බැවේ විපාක වශයෙන් ඇවිත් තියෙන්නෙ. ඒ නිසා මට බෙහෙත් හේත් දෙන්න බෑ. ඒ සඳහා මට වෙන කරන්න දෙයක් ඇත්තෙත් නෑ. මේ ජීවිත කාලෙ ඇස් දෙක සුව කරගන්න නම් සමහර විට බැරිවෙයි. නමුත් ඉතින් මේ සංසාර ගමනෙ සැරිසරනකොට නොදැන කරන අකුසල්වල පවා විපාක ඔහොම තමයි, මොනව කරන්නද? ඒ වුනත් මේ ස්ථානයේ සිද්ධ කරන ආශිර්වාද සෙත් බුද්ධ පූජාවලට සම්බන්ධ වෙලා සාසනික කටයුතු කරගෙන ඉන්න... අබේරත්න උපාසක මහත්තය අපිත් එක්ක මේ විදිහට මහ දිග කතාවක් කිව්වා. (මේ කියන විපාකයට තවත් කරුණු කාරණා බලපාල තියෙන නිසා, ඒ පිළිබඳව ඊට අදාළ මව සහ පුතාගෙන් ලබා ගත්ත කරුණුවලින් සකස් කෙරුනු විස්තරාත්මක ලිපියක් ඉදිරි කලාපයකින් බලාපොරොත්තු වන්න.)

ඒ අවස්ථාවෙ විවිධ දහම් කරුණු කාරණා ගැනත් සාකච්ඡා කළා. එතුමා අපිට මෙහෙම කියනවා. මේ ලෝකෙ තියෙන මහා බලගතු අකුසල කර්ම තමයි අපි කියන්නෙ ආනන්තරීය පාප කර්ම කියල. ඒවා ඊළඟ අත්බැවේදි විපාක දෙන ඒවා. එබඳු අකුසල කර්ම හැරුනම ඊළඟට තියෙන මහා බලගතු අකුසල කර්ම තමයි ආර්ය උපවාද, මව්පියන්ට සිල්වතුන්ට ගුණවතුන්ට හිරිහැර හිංසා පීඩා කිරීම්, අපහාස උපහාස අගෞරව කිරීම්... ආදිය. මුගලන් මහ රහතන් වහන්සේගෙ කතා පුවතිනුත් ඒ බව පැහැදිලියි. ඒ වගේම අපිට ලැබෙන විවිධ අත්දැකීම් අනුවත් ඉහත සඳහන් සිදුවීමෙනුත් ඒ බව පැහැදිලි වෙනවා. අත්බැව් කිහිපයකට පෙර තමන්ගෙම මවට වැස්ස වහින වෙලාවෙ අර විදිහට කතා කරපු එකේ අකුසල කර්මයත් බලපාල තමයි ඇස් දෙකම අන්ධ වෙලා උපදින්න සිද්ධ වුනේ. නමුත් ඉතින් මේ ජීවිත කාලයේ ඒ කරපු අකුසල කර්මය විපාක දීල අවසන් වෙනවා. නැවතත් ඒ අකුසල කර්මය නිසා ඇස් අන්ධ වෙන්නෙ නෑ. ඊළඟ ජීවිතයේ ඇස් පෙනීම ලැබෙනවා. මේකෙන් අපිට පැහැදිලියි, වචනයෙන් කරන අකුසල කර්මයෙත් තියෙන බලගතු බව... අබේරත්න උපාසක මහත්තය මේ විදිහට පැහැදිලි කළා.

තමන්ගෙ අම්මට, දහම් අවබෝධයක් නැති කාලෙ වචනයෙන් කරපු අකුසල කර්මයකට විපාක වශයෙන් ඇස් දෙක අන්ධ වෙලා උපදින්න සිද්ධ වුනා නම්, අපිට මේකෙන් පැහැදිලි වෙන්න ඕන, වර්තමාන යුගයේ ඉන්න අපේ දූවා දරුවන් තමන්ගෙ මව්පියන්ට කරන කියන ඒවට කවදා කොහොම නම් විපාක විඳල අවසන් කරන්නද කියල. මට පසුගිය කාලයේ එක්තරා දායක මහත්තයෙක් පුවත්පත් ලිපියක කොටසක් ගෙනත් දුන්නා. ඒකෙ සටහන් වෙලා තිබුනෙ එක්තරා ප්‍රදේශයක කෙනෙක් තමන්ගෙ පියා මරල ගෙදර දුම්මැස්සෙ තියාගෙන කෑලි කෑලි කපාගෙන උයාගෙන කෑව කියල. වරක් දෙවරක් උයාගෙන කකා ඉන්නකොට ලැබුන ඔත්තුවක් අනුව විමර්ශන කටයුතු ආරම්භ කරල, ඒ පුතා සැක පිට අත්අඩංගුවට ගත්ත බවත් ඒකෙ සටහන් වෙලා තිබුනා. මේ වගේ සිදුවීම් පිළිබඳ කලාතුරකින් හරි අහන්න ලැබීම මහා අවාසනාවක්.

කොහොම නමුත් අද බොහෝ දෙනා ධර්මය රැක ගන්න කියල හෝ දයානුකම්පාවෙන් යුතුව සෙසු ලෝක සත්ත්වයින් සසර දුකෙන් නිදහස් කරල නිවන් දක්වන්න කියල හෝ තමන්ගෙ මත සෙසු ලෝක සත්ත්වයන්ට බලෙන් ලබා දෙන්න යන බවත් පේනවා. ඒ සඳහා තමන්ගෙ අනුගාමිකයන් වැඩි කර ගැනීමේ අදහසින් හෝ තමන්ගෙ ගෝල බාලයින් තමන්ව අත්හැරල වෙනත් අය කරා යන එක වළක්වා ගැනීමේ අදහසින් හෝ ලාභ කීර්ති ප්‍රසංසාවලට යටවෙලා මොන විදිහෙ අරමුණක් ඇති කරගෙන නමුත් දැන හෝ නොදැන තුන් දොරින් කරන අප්‍රමාණ වැරදි දෘෂ්ටි මතවාද,

අපවාද උපවාදවලට කොහොම මුහුණපාන්න සිද්ධ වෙයිද? කවදා කොහොම විපාක දීල අවසන් වෙයිද?

**කරන කලට පව් මිහිරිය මී සේ**
**විඳින කලට දුක් දැඩි වෙයි ගිනි සේ**
**ඇඳින එපව් දුරලන උපදේසේ**
**නුදුන මැනවි තුන් දොර අවකාසේ**

පාපය කරනකොට මී පැණි වගේ මිහිරියි. ඒකෙ විපාකය විඳින කොට ගිනි වගේ රෞද්‍රයි. ඒ පාපයන් දුරු කරන්නා වූ උපදේශය දැනගෙන සිත, කය, වචනය කියන තුන් දොරින් පාපයට අවකාස නොදෙනු මැනවි.

**පෙර මහණෙක් සඟ ගණ හට බැන නපුරු**
**නිරයේ වැටී බිම සත් ගව් වැඩෙන තුරු**
**ගොර දුක් විඳී තව පේතව සිට කුරිරු**
**පර හට එයින් නොකියව් බස් නොපියකරු**

පෙර කාලයේ හිටපු මහණ කෙනෙක් මහා සංඝරත්නයට නපුරු වචනවලින් බැන වැදිල ඒ කරගත්ත පාපයෙන් නිරයට වැටිල බිම හත් ගව්වක් වැඩෙන කල් ඉඳල නැවතත් ප්‍රේත වෙලා ඉපදිලා තවමත් දරුණු දුක් විපාක විඳිනවා. ඒ නිසා අනුන්ට අප්‍රිය වචන නොකියන්න. (<u>ලෝවැඩ සඟරාව - වීදාගම මෛත්‍රී ස්ථවිරයන් වහන්සේ</u>)

**කෝටි ගණන් මිල මුදල් විය පැහැදම් කරල වෙහෙර විහාර හැදුවත්, නා නා මාදිලියේ පුද පූජා උපහාර මොන භාෂාවෙන් මොන තරම් පැවැත් වුවත්, ලෝකයාගෙන් මොන තරම් ලාභ කීර්ති ප්‍රසංසා ලැබුවත්, අති සුඛෝපභෝගී යාන වාහනවල ගමන් බිමන් ගියත්, ජන මාධ්‍ය ඉදිරියේ මහා සමාජ සේවකයන්, දේශකයන් වශයෙන් පෙනී හිටියත්, කරගන්න ආර්ය උපවාද වගේම නින්දා අපහාස අගෞරව ආදියට ලැබෙන විපාක කොහොම නම් පියවන්නද? කොච්චර දිග කාලයක් විපාක දෙයිද?**

බලු කපුටන්ට දෙන දානය 14 වෙනි දානය විදිහටත්, අනුමත කළ දානයක් විදිහටත් දහම් පොතපතේ සඳහන් වෙනවා. **සම්මා සම්බුද්ධ සාසනය අතුරුදහන් වෙන කාලයේ අතේ හෝ කරේ හෝ කහ නූලක් දරාගෙන කටයුතු කරන කාසාව කණ්ටක අයට වුනත් සඟ ගුණ සිහි කරල දෙන දානයක විපාකත් කල්ප සත සහස්‍රයක් ගියත් අවසන් නොවෙන බව සඳහන් කරල තියෙද්දිත්, යම් කෙනෙක් කියනව නම් අහවල් භික්ෂූන් වහන්සේලාට දානය දෙන්න එපා කියල, ඒ කියමන අධර්මවාදී නෙවෙයිද? ධර්මානුකූලව ඒ කියමන දහමට ගලපල අනුමත කරන්න පුළුවන්ද? යම් කෙනෙකුට යම් දානයක් දෙනකොට කවුරුහරි ඒක වළක්වනව නම් ඔහු හෝ ඇය තුන් දෙනෙකුට අන්තරාය කළ කෙනෙක් හැටියට දහම් පොත්පත්වල සඳහන් වෙනවා.** ඒ කියන්නෙ දානය දෙන කෙනාගෙ කුසලයට පිනට බාධා කළා වෙනවා. දානය ලබන්නාගේ ප්‍රතිලාභයට බාධා කළා වෙනවා. තමන් ළඟ තියෙන සත්පුරුෂ ගුණධර්ම නැති කරගත්තා වෙනවා. මේ විදිහට තමයි අපි දහම් පොත්පත්වලින් සහ ගුරු පරපුරෙන් අහල දැනගෙන තියෙන්නෙ. මේ කාරණය මේ විදිහට සඳහන් කරන්න යෙදුනෙ, අද සමහර භික්ෂූන් වහන්සේලා තමන්ගෙ පුද්ගලික රූපවාහිනී නාලිකා පවා යොදාගෙන අහවල් භික්ෂූන් වහන්සේලාට දන් දෙන්න එපා කියල ලෝභයෙන්, ද්වේශයෙන් කරන කතා නිසා ජනතාව නොමග යෑම වළක්වන්න මිසක් කාටවත් පුද්ගලිකව දොස් කියන්න නෙවෙයි.

ඉතින් එදා අබේරත්න උපාසක මහත්තය මේ ගැන තවදුරටත් විග්‍රහ කළා. යම් කිසි රෝගියෙකුට සමාධි ප්‍රතිකාරවලින් සහ සාසන ප්‍රතිකාරවලින් යම් කිසි ප්‍රතිලාභයක් ගන්න නිකම්ම අවස්ථාවක් ලැබෙන්නෙත් නෑ. ඒකත් හේතුවක ප්‍රතිඵලයක් හැටියටයි ලැබෙන්නෙ. නමුත් විශේෂ උත්තමයෙක්ගෙන් පිහිටක් හෝ උදව්වක් උපකාරයක් ලබා ගන්නත්, කෙනෙකුට අනේ අපොයි කියන්නත් නිකම්ම බෑ. ඒකටත් සසර උරුමකමක් තියෙන්න ඕන. ඒ ඒ කෙනාගෙ කර්ම ශක්තියටත් යටත්ව බෙහෙත් හේත් ප්‍රත්‍ය වෙනවා කියන්නෙත් ඒකයි. අපි සසර ගමනෙදි උපක්‍රමශීලීව කටයුතු කරල තිබුනොත්, අදත් කිසියම් ක්‍රමයකට හරි යහපත් ප්‍රතිඵල ලබා ගන්න අවස්ථාව ඒ තුලින් ලැබෙනවා.

එදා අතීතයේ පැහැදිලි පිරිසිදු නිවැරදි ධර්මය ලෝකයේ පවතින කාලවල මිනිස්සු දහමට මුල් තැන දීල කටයුතු කරල තියෙනවා. එබඳු කාලවල මිනිස්සු අසාධාරණ වැඩක් කළත් ඒකෙත් සාධාරණකමක් තිබුන කියල අපි අහල තියෙනවා. ආදියේ හිටපු අය දුනු දිය ඇදල සතුන් දඩයම් කළා කියනවා. ඒ කියන්නෙ **එදා මිනිස්සු දඩයමේ ගිහින් සතුන් දඩයම් කරනකොට පැටවුන්ට කිරි දෙන සතෙක්, වතුර බොන සතෙක්, ආහාර අනුභව කරන සතෙක්, පැටව් ලැබෙන්න ඉන්න සතෙක්, නිදාගෙන ඉන්න සතෙක් දඩයම් කළේ නෑ කියනවා. ඒ අය යම් කිසි සතෙක් දඩයම් කරනකොට, දුන්න මානගෙන ඒ සතාට යම් කිසි ශබ්දයක් කරල සතාගෙ අවධානය යොමු කරල තමයි සතුන්ට දුන්නෙන් විද්දයි කියන්නෙ, සතුන් දඩයම් කළැයි කියන්නෙ. උඹ මරන්න හදන්නෙ පුළුවන් නම් බේරියන් කියල නොකිය කියන ක්‍රමයක් තමයි ඒ. එතකොට ඒ සතාටත් තදබල කර්ම විපාකයක් තිබුනොත් තමයි කියනවා ඒ සතා ගොදුරු වෙන්නෙ. නැත්නම් කොහොම හරි බේරිලා යනව කියනවා. ඉතින් ඔය විදිහට කෙනෙක් සතුන් දඩයම් කරනවා.**

තව කෙනෙක් සතුන් දඩයම් කරනකොට ඊට වඩා වෙනස් ක්‍රම අනුගමනය කරනවා. අපි හිතමු ඉත්තෑවෙක් දඩයම් කරනව කියල. එබඳු අවස්ථාවල ඉත්තෑවා ගල් බෙනයක් ඇතුලට ගියාට පස්සෙ සතාට එළියට එන්න බැරි විදිහට ගල් බෙනයේ සියලු තැන් අහුරල එක තැනක් විතරක් විවෘතව තියල ඒ ගල් බෙනයට දුම් ගස්සනවා. මේ විදිහට ඒ සතාට ඇතුලෙ ඉන්න බැරි වාතාවරණයක් හදල, සතා එතැනින් එළියට එනවත් එක්කම වට කරල කොටු කරල බේරිලා යන්න බැරි විදිහට මරන අයත් ඉන්නවා. අපි හිතමු මේ විදිහටත් යම් කිසි කෙනෙක් ඉත්තෑවෙක් මැරුව කියල.

දැන් මේ දෙන්නම යම් අකුසල කර්මයක් කළා තමයි. නමුත් මුලින්ම දුනු දිය ඇදල සතුන් දඩයම් කරපු තැනැත්තා ඒ සතාට නිදහස් වෙන්න, බේරෙන්න අවස්ථාවක් දීල තමයි සතාව මරල තියෙන්නෙ. ඒ වගේ අකුසල කර්මයක් විපාකයට එනකොට තමන්ටත් මොන විදිහකින් හරි බේරෙන්න අවස්ථාවක් ලැබෙනවා. අපි හිතමු කෙනෙක් යම් කිසි රෝග පීඩාවකට දීර්ඝ කාලයක් එක දිගට බෙහෙත් බොනවා. නමුත් කිසිම සුවයක් නෑ. බොහෝ කාලයක් ගියාට පස්සෙ බස් රථයක තමන් කොහේ හරි ගමනක් බිමනක් යන ගමන් තමන් ළඟ වාඩිවෙලා ඉන්න කෙනෙක් එක්ක කතාබහ කරනකොට ඔහු අහනවා කොහෙද යන්නෙ කියල. එතකොට කියනවා මම බෙහෙත් ගන්න යනව කියල. මොකක්ද තියෙන අසනීපය කියල ඇහුවම කියනවා, අනේ මට මෙන්න මේ වගේ ලෙඩක් තියෙනව කියල. එතකොට ඔහු කියනවා, අනේ

ඔය ලෙඩේ මටත් අවුරුදු ගණනාවක්ම තිබුනා, ආං අර ගමේ ඉන්නවා දක්ෂ වෙද මහත්තයෙක්... මෙහෙම කියනවත් එක්කම ඔහු, මම මෙතනින් බහිනවා කියල බැහැල යන්න යනවා. දැන් වෙද මහත්තයගෙ ගම විතරයි යාන්තමට අහගත්තෙ.

දැන් මේ පුද්ගලයා ගෙදර ඇවිත් ටික දවසක් ඉන්නකොට අර සිද්ධිය මතක් වෙනවා. එදා මට මෙහෙම වෙද මහත්තයෙක් ගැන තොරතුරක් නම් ලැබුනා. කෝ ඉතින් නමවත් හරියට අහගන්න බැරි වුනානේ. මොනව කරන්නද? ඒ වුනත් කමක් නෑ යන්න ඕන ඒ වෙද මහත්තය හොයාගෙන කියල බසයක නැගල හරි යනවා. ගිහින් ඒ ගම ආසන්නයෙන්ම බහිනවා. කාගෙන් හරි අහනවා, මේ විදිහෙ ලෙඩකට වෙදකම් කරන වෙද මහත්තයෙක් මේ පළාතෙ ඉන්නවද කියල. එතකොටම එතන ඉන්න වෙනත් කෙනෙකුට ඒක ඇහිල ඔහු දුවගෙන ඇවිත් කියනවා, ඔව් ඔව් මම ඉන්නෙත් ඒ වෙද මහත්තයගෙ ඉඩමට අල්ලපු ඉඩමේ, මම පාර පෙන්වන්නම් කියල. ඉතින් පාරත් පෙන්වල වෙද මහත්තයත් මුණ ගස්සවල ඔහු යන්න යනවා. ඒ වෙද මහත්තයගෙන් බෙහෙත් ගෙනත් බිව්වම බොහොම කෙටි කාලයකින් ලෙඩත් හොඳ වෙනවා.

අන්න අර මුලින් කියපු විදිහට දුනු දිය ඇදල, එහෙමත් නැත්නම් සතාට බේරෙන්න අවස්ථාව සලසල දීල සතෙක් මැරුවම, එහෙමත් නැත්නම් කරගන්න දෙයක් නැතිකමට කරපු අකුසල කර්ම විපාකයට එන්නෙත් ඔය විදිහට තමයි. ඒකෙන් මොන විදිහකින් හරි උපක්‍රමශීලීව යම් සහනයක් සලස ගන්න පුළුවන් විදිහට ඉඩ ප්‍රස්ථාව ලැබෙනවා. අපි හිතමු දෙවෙනියට සත්තු මරපු කෙනා සත්තු මැරුවෙ කිසිම විදිහකින් බේරෙන්න අවස්ථාවක් නොදී සියලු ඉඩකඩ අහුරල කියල. එතකොට ඒ අයට ඒවා විපාකයට එනකොට ලෙඩක් අසනීපයක් හැදුන නම් කොච්චර දක්ෂ වෙද මහත්තයෙක්ගෙන් බෙහෙත් බිව්වත් ලෙඩේ හොඳ වෙන්නෙ නෑ. ඉතින් කියනවා, අනේ බලන්නකෝ මේ වෙද මහත්තයගෙන් බෙහෙත් බීපු හැමෝටම ලෙඩ හොඳයි, කෝ ඉතින් මම මෙච්චර කල් බෙහෙත් බීලත් මට තවම හොඳ වුනේ නැනෙ කියල. එහෙම නැත්නම් කියනවා, අනේ ඒ වෙදාගෙ බෙහෙත් හොඳ නෑ, හැමදාම ගන්නෙ සල්ලි විතරයි, මට නම් ඔය මනුස්සයා ඇස් දෙකට පේන්න බෑ කියල. මේ විදිහට මොනව හරි කිය කිය කාලය ගත කරනවා. තමන් කරපු කර්ම ශක්තිය ගෙවිල අවසන් වෙන කල්ම ඔහොම තමයි.



**ආරාධිත නිවසකින් ලැබුනු සංග්‍රහයක් භුක්ති විඳිමින්**

දෙවෙනියට සතුන් දඩයම් කරපු කෙනා, ඒ කියන්නෙ හැම තැනින්ම ඉඩ අහුරල කොටු කරල ඒ සතාට නිදහස් වෙන්න කිසිම අවස්ථාවක් දෙන්නෙ නැතිව සත්තු මැරුවම, ඒ ආකාරයෙන් සංසාරික ජීවිතවලදී යම් යම් අකුසල කර්ම කළාම, තමන්ටත් ඒ විදිහටම හේතු ඵලයක් වශයෙන් පරිසරය හැදෙනවා. බෙහෙතක් හේතක් කළත් හරියට සුවයක් ලැබෙන්නෙ නෑ. මුණගැහුනත් මුණගැහෙන්නෙ හොර වෙදෙක්. එහෙම නැත්නම් අනෙක් හැමෝටම බෙහෙත් බිව්වම සනීප වෙනවා, තමන්ට විතරක් සනීප වෙන්නෙ නෑ. බෙහෙත් පත්තියන් වෙන්නෙ නෑ. මොනව කරන්නද?

**(හැබැයි මේකෙන් කිසිසේත්ම අදහස් කරන්නෙ නෑ, කොයි විදිහකට හරි සතුන් මැරීම හොඳයි කියල. කොයි විදිහට මැරුවත් ඒක පාපයක්මයි. නමුත් හේතුවට අනුව ඵලය ලැබෙන විදිහයි මේ පැහැදිලි කළේ.)**

ඒ නිසා තමන්ගෙ සසර දෝසවලට තම තමන්ම කරපු කර්ම විපාක අනුව තම තමන්ටම මුහුණ දෙන්න සිද්ධ වෙන බව දැනගෙන කටයුතු කරන්න ඕන. ඒ සඳහා පැහැදිලි පිරිසිදු නිවැරදි ධර්මය අහල තේරුම් අරගෙන කටයුතු කරන්න ඕන. **දහම් මාර්ගය දැන හඳුනගෙන තේරුම් අරගෙන හේතු ඵල දහම දැකල දැනුවත් වෙලා කටයුතු කරනව නම්, තව කෙනෙකුට චෝදනා කරන්න බනින්න කැකෝ ගහන්න දෙයක් නැති බව දකිනවා.** ඒ තුලින් තම තමන්ගෙ අඩුපාඩු දැකල දැනුවත් වෙලා නිවැරදි දහම් මාර්ගය අනුගමනය කරන්න ඕන. **මේ ලෝකෙ කෙසගක් තරම්වත් දෙයක් හොඳයි කියන්න තියෙනව නම් ලෝක සත්ත්වයාට නිවනක් පනවන්නෙ නෑ** කියල තමයි බුදුන් වහන්සේ දේශනා කරල තියෙන්නෙ. ඒ නිසා **මේ අති දුර්ලභ ශ්‍රී සද්ධර්මය නැවතත් පැහැදිලිව පිරිසිදුව නිවැරදිව අහන්න දකින්න තියෙන මේ කාලෙ අපිට කරන්න තියෙන්නෙ, උත්සාහයෙන් මහන්සියෙන් කැපවීමෙන් විමර්ශන බුද්ධියෙන් යුක්තව කටයුතු කරල දහම් අවබෝධ කර ගැනීම...** මේ විදිහට අබේරත්න උපාසක මහත්තය එදා දීර්ඝ වශයෙන් කරුණු කාරණා පැහැදිලි කළා.

එදා අබේරත්න උපාසක මහත්තය විවිධ උපක්‍රම භාවිතා කරමින් ලෝක සත්ත්වයාට නිවැරදි පැහැදිලි පිරිසිදු දහම් මාර්ගය ලබා දෙන්න කටයුතු කරපු ආකාරය ගැන මීට පෙරත් කරුණු ඉදිරිපත් කළා. මේ කියන්න යන්නෙත් ඒ වගේ අවස්ථාවක් ගැන. නමුත් ඉතින් මේ වගේ කාරණාවලට වැඩිපුර කාලයක් මිඩංගු කළ යුතු නෑ කියලයි මගේ අදහස. මොකද ඒ කාලෙ මේ වගේ සිදුවීම් ඕන තරම් සිද්ධ වෙලා තියෙනවා. ඒ වගේ අත්දැකීම් තියෙන අයත් ඕන තරම් ඉන්නවා. නමුත් ආධුනික පින්වතුන්ගෙ දැන ගැනීම පිණිස එබඳු එක අවස්ථාවක් පිළිබඳව හරි කෙටියෙන් සිහිපත් කිරීම හොඳයි කියල හිතුන නිසා තමයි මේ කාරණා ටික ඉදිරිපත් කරන්න අදහස් කළේ.

ඒ කාලෙ විවිධ පළාත්වලින් කුල මල ජාති ආගම් බේදයකින් තොරව බොහෝ දායක පින්වතුන්, අබේරත්න උපාසක මහත්තයට ආරාධනා කරල තම තමන්ගෙ ගෙවල් දොරවල්වලට එක් කරගෙන ගිහින් ලෞකික වශයෙන් වගේම ලෝකෝත්තර වශයෙනුත් විවිධ අවශ්‍යතාවයන් ඉටු කරවා ගත්තා.

අබේරත්න උපාසක මහත්තයගෙන් බණ දහම් අහල දහම්

අවබෝධයක් ලබා ගත්ත අය දැනගෙන හිටියා, එතුමන් සංසාරික ගමන තුල අති දීර්ඝ කාලයක පටන් ශ්‍රාවක පාරමිතා පුරාගෙන ආපු ගමනේදි දියුණු කරගත්ත අධ්‍යාත්මික ශක්තිය තුලින් පිට කරන ආශිර්වාදාත්මක එක වචනයක පවා තියෙන අසීමිත ශක්තිය බලය වටිනාකම. ඒක දැනගෙන, දැකගෙන හිටිය නිසාම විවිධ පළාත්වලින් හේතු වාසනා තියෙන විසාල ජනකායක් එතුමන් වටා එක් රොක් වුනා.

අබේරත්න උපාසක මහත්තයගෙ ඒ අසීමිත වටිනාකම දන්න අය, එතුමන් තම තමන්ගෙ ගෙවල් දොරවල්වලට ආවම බොහොම සතුටින් ගෞරවයෙන් පිළිඅරගෙන විශේෂ භෝජන සංග්‍රහ පවා සිද්ධ කරපු අවස්ථා තිබුනා. එතුමට තේ ටිකක් දෙන්න, බුලත් විටක් දෙන්න, ආහාර වේලක් දෙන්න යම් කෙනෙකුට අවස්ථාවක් ලැබෙනව නම්, ඒ බණ දහම් ශ්‍රවණය කළ ශ්‍රාවකයින්ට ඒ තරම් වටිනා විශේෂ වෙනත් දෙයක් තිබුනෙ නෑ. ඒ තරම්ම මහා චිත්ත ප්‍රසාදයකින් තමයි ඒ කාලෙ ශ්‍රාවකයින් කටයුතු කළේ.

එතුමත් බොහෝ අවස්ථාවල තමන්ට විවේක ලැබෙන ආකාරයට ඒ ඒ දායක පින්වතුන්ගෙ ගෙවල් දොරවල්වලට ගිහින් ඔවුන්ගෙ විවිධ අවශ්‍යතාවයන් දැන හඳුනගෙන, හැකි උපරිමයෙන් ඒ අවශ්‍යතාවයන් ඉටු කරල දෙනවා. ඒ වගේම අවස්ථානුකුලව ධර්ම සාකච්ඡා පවා සිද්ධ කරනවා. ඒ කටයුතු අවසන් කරල එතුමන් පිටත් වෙලා යන්න පෙර, තමන්ට ඇප උපකාර උපස්ථාන කළ, සංග්‍රහ කළ පින්වතුන් වෙනුවෙන් අවස්ථානුකුලව පිං අනුමෝදනාවකුත් කරනවා. දහම් මාර්ගය අනුගමනය කරන අයට ඇප උපකාර උපස්ථාන කටයුතු සිදු කිරීමත්, ධර්ම සාකච්ඡා කිරීම නිසා පෙනෙන නොපෙනෙන බොහෝ දෙනා වෙනුවෙන් බණ දහම් ශ්‍රවණය කරන්න අවස්ථාව ලබා දීමත් සිහිපත් කරල, සමහර අවස්ථාවල පැය 1 - 2 තරම් දීර්ඝ කාලයක් ලබාගෙන විශේෂ පින් අනුමෝදනාවන් පවා සිද්ධ කරනවා. කොහොම නමුත් අවස්ථානුකුලව කෙටියෙන් හෝ පින් අනුමෝදනාවක් සිද්ධ කරල සදේවක ලෝකයාටම ආශිර්වාද කිරීම විශේෂයෙන්ම සිද්ධ කළා.

ඒ වගේ පින් අනුමෝදනා කරන අවස්ථාවල ඒ සඳහා සහභාගි වෙන අයටත්, ඒ ගෙවල් දොරවල්වලට වගේම ඉඩකඩම් ආදියටත් බැඳිල රැඳිල ඉන්න අමනුස්ස බන්ධන, අණවින හදි හූනියන් බන්ධන, භූමි දෝස, භූමි පාළු වගේම පරම්පරා ගණනාවක් පැවත එන අමනුස්ස දෝස... ආදියත් ඇතුළු විවිධ ප්‍රශ්න කරදර බාධක ලෙඩ දුක් බොහොමයක් ඒ අවස්ථාවෙම නැතිවෙලා විසඳෙනවා. ඒ බව එතුමන් ඇසුරු කරපු බොහෝ දෙනා තමන්ගෙ අත්දැකීම් තුලින්ම දැනගෙන හිටියා.

අබේරත්න උපාසක මහත්තය එක්තරා ගෙදරකදි කරපු විශේෂ සංග්‍රහයක් භුක්ති විඳල එන ගමන් දවසක් මට මෙහෙම කියනවා. ස්වාමින් වහන්ස, ඔය දායක මහත්වරු මාව ඒ අයගෙ ගෙවල්වලට එක්කරගෙන යන්න මට ආරාධනා කරන්නෙ, සෙත් පිරිත් කියන්න, එහෙම නැත්නම් රෝගියෙක් බලන්න, එහෙමත් නැත්නම් ගෙදර බුදු කුටියක් හදන්න සුදුසු ස්ථානයක් බලා ගන්න, ඔය විදිහට මොනව හරි කියල. නමුත් ඉතින් මම ගිහින් බලනකොට මහ විසාල කෑම මේස සූදානම් කරල, තේ පැන් සංග්‍රහ සූදානම් කරල. මම එක්කරගෙන ගිහින් මට මොනවායින් හරි සංග්‍රහ කරල මම ලවා පිං අනුමෝදනාවක් කරව ගැනීම තමයි ඒ අයගෙ ප්‍රධාන බලාපොරොත්තුව. මොකද ඒ තුලින් පවා අප්‍රමාණ ගැටළු විසඳෙන බව ඒ අය දන්නවා. මාත් ඉතින් නොදන්නව වගේ ඒ ඒ ගෙවල්වලට මට ඉඩකඩ ලැබෙන විදිහට ගිහින්, අවස්ථානුකුලව බත් කටක් හරි අනුභව කරල තේ කහට උගුරක් හරි ඇල් වතුර ටිකක් හරි බීල ඔවුන්ගෙ අවශ්‍යතාවයන් පුළුවන් විදිහට විසඳල දීල ආශිර්වාදාත්මකව විශේෂ පිං අනුමෝදනාවක් කරනවා. මොකද ඇත්තටම අපේ බලාපොරොත්තුවත් මොන විදිහකින් හරි පෙනෙන නොපෙනෙන ලෝක සත්ත්වයන්ට යම් උදව්වක් උපකාරයක් කිරීම තමයි. මේ විදිහට ඒ වගේ අවස්ථාවල ලැබුන විශේෂ අත්දැකීම් කිහිපයක්ම එතුමන් ඒ වෙලාවෙම කිව්වා.

අබේරත්න උපාසක මහත්තය හරියට ඇවිදින පුස්තකාලයක් වගේ. ඒ කියන්නෙ එතුමගෙන් අහන්නෙ මොනවද, ඒ අහන ඕනම ප්‍රශ්නයකට හේතු ඵල න්‍යාය ඔස්සේ උත්තරයක් දෙන්න පුළුවන් විදිහෙ මහා පුදුම හැකියාවක් අවබෝධයක් එතුමන් තුල තිබුනා. අපිට නම් එබඳු අවස්ථාවල හිතෙන්නෙ, ශ්‍රාවක පාරමිතා පුරාගෙන ආපු මහා උත්තමයෙක් මෙහෙම නම් ලොව්තුරා බුදු පියාණන් වහන්සේ නමක් ගැන කොහොම හිතන්නද, කොහොම කියන්නද කියල.

අබේරත්න උපාසක මහත්තය ලෝක සත්ත්වයන් වෙනුවෙන් කරපු අප්‍රමාණ උදව් උපකාර අතර වාස්තු දෝස සම්බන්ධයෙනුත් බොහෝ දෙනාට තිබුන දැවෙන තැවෙන ප්‍රශ්නවලට උපක්‍රමශීලීව කටයුතු කරන්න කියල දුන්නා. ඒ සම්බන්ධයෙනුත් එතුමන් තුල මහා පුදුම විදිහෙ හසල දැනුමක් අවබෝධයක් තිබුන බව පැහැදිලියි. බොහෝ දෙනාට වාස්තු දෝස මග හරව ගන්න දුන්න සමාධිමය ක්‍රමවේද සහ උපදෙස් පිළිපැදීම තුලින් ඒ මොහොතෙම ප්‍රතිඵල අත්වින්ද අයත් එදා ඕන තරම් හිටියා. ඒත් එතුමා පැවිදි වෙන්න ආසන්නයේම සිද්ධ වුන එක සිදුවීමක් පිළිබඳව විතරක් මට දැනගන්න ලැබිච්ච තොරතුරු මතු පරපුරේ දැනුවත් වීම සඳහා මේ විදිහට සිහිපත් කරනවා.

දවසක් අබේරත්න උපාසක මහත්තය අපි දන්න හඳුනන දායක මහත්තයෙක්ගෙ ගෙදරකට ගිහින් ඔවුන්ගෙ අවශ්‍යතාවයන් ඉටු කරල දීල වෙනත්ප්‍රදේශයකතවත්නිවසක්බලන්න තුන්රෝද රථයකින් එක් කරගෙන ගියා. ඒ යන ගමන් අතරමගදි ඒ පිරිස වෙනත් ගෙදරක් පෙන්වල, මහත්තය මේ ගේ තමයි අහවලාගෙ ගෙදර, එයා තමයි අර වත්තෙ ඇත වැඩ කරනව පේන්නෙ කියල කිව්වම, අබේරත්න උපාසක මහත්තය කිව්වලු හා එහෙනම් ඒ ගෙදරට යමු කියල. යාබදව තිබුන නිවසක් නිසා ඒ රථය වත්තට ඇතුල් කරල මිදුලෙ නතර කරනවත් එක්කම අබේරත්න උපාසක මහත්තය, මේ... මහත්තයගෙ ගෙදර නේද කියල අහන ගමන්ම, ගෙදර ප්‍රධාන දොරෙන් ඇතුල් වෙලා ගේ පුරාම ඇවිදගෙන සියලු කාමරවල තත්පර 10 - 15 වගේ බොහොම සුළු වෙලාවක් ඉඳල ගෙදර පිටුපස දොරින් එළියට ඇවිත් තියෙනවා. ඒ මිදුලෙ නව නිවසක් ඉදි කරන්න අවුරුදු කිහිපයකට පෙර දාල තිබුන පැරණි අත්තිවාරම දිහා බලල, ඇයි මේ අත්තිවාරම දාල ගේ හදන්නෙ නැත්ද, දැන් හුඟක් කල් නේද කියල ඇහුවම, ඒ ගෙදර ප්‍රධාන දායක මහත්තය කියල තියෙනවා, ඔව් මහත්තය දැන් බොහොම කල් අත්තිවාරම නම් දාල ඒත් ඉතින් තවම ගේ හදන්න නම් බැරි වුනා, මේ කාලෙ මුදල් හදල් එහෙමත් ටිකක් අඩුපාඩු වුන නිසා තමයි තරමක් ප්‍රමාද වුනේ කියල. එතකොට අබේරත්න උපාසක මහත්තය හිනා වෙලා



පැවිදි දිවියට ඇතුලත් වූ පසු

කියල තියෙනවා, හා දැන් බය වෙන්න දෙයක් නෑ, බොහොම ඉක්මනට ගේ හදන්න පුළුවන් වෙයි ගේ හදන්න පටන් ගන්න කියල.

ඒ ගෙදර ප්‍රධාන දායක මහත්තය අපිත් දන්න හඳුනන කෙනෙක්. ඊට පහුවදා මම ඉන්න විහාරස්ථානයට ඇවිත් මේ දායක මහත්තය මට මෙහෙම කියනවා. ස්වාමීන් වහන්ස, ඊයෙ අබේරත්න උපාසක මහත්තය වෙනත් ගෙදරකට යන්න ඇවිත් අපේ ගේ ළඟින් යනකොට අනෙක් අය අපේ ගෙදර පෙන්නුවම, හා එහෙනම් එහේ යමු කියල අපේ ගෙදර ආවා. මහ පුදුම වැඩක්, මම හිතුවෙවත් නැති විදිහට තමයි අබේරත්න උපාසක මහත්තය අපේ ගෙදරට ආවෙ. ඔය වගේ බණ කියන, ධර්ම සාකච්ඡා කරන, ආශිර්වාද බුද්ධ පූජා තියන මහා උත්තමයෙක් අපේ ගෙදරට ආපු එක නම් මහ වාසනාවක්. මමත් ඉතින් වැඩ කර කර ඉඳල හරි සතුටින් ගේ ළඟට එනකොට අබේරත්න උපාසක මහත්තය අපේ ගෙදර ඇතුලටම ගිහින් හැම තැනමත් ඇවිදල, පස්ස දොරෙන් එළියට ගිහින් පරණ අත්තිවාරම තිබුන තැනටත් ගිහින් මට කිව්වා, ඉක්මනට ගේ හදන්න පුළුවන් වෙයි හදන්න පටන් ගන්න කියල. අබේරත්න උපාසක මහත්තය යන්න ආපු ගෙදරට ගියෙත් නෑ, ආපසු යන්න ඕන කියල තමයි ගියේ.

ඒ වුනාට ස්වාමීන් වහන්ස මම කොහොමද ගෙවල් හදන්නෙ? අපේ ගෙදර අයත් නිතරම මට බනිනවා, ඒ අයගෙ ඥාති ගෙවල් ඔක්කොම හොඳට හදල අපේ ගෙදර විතරයි හදල නැත්තෙ, ඒකට මොකද ඉන්න අය ඔක්කොම වඩුබාස්ලා මේසන්බාස්ලා කියල. අපිට අබේරත්න උපාසක මහත්තය කියල තියෙන්නෙ නොතෙමී ඉන්න තැනක් තිබුනම ඇති කියලනේ, ඒ නිසා මේ තියෙන ගෙදර ඇති කියල මමත් ඉතින් ඒ වෙලාවට ගෙදර අයට මොනව හරි කියනවා. ඒ වුනත් පසුගිය කාලෙ මට හරි වැඩක් වුනා. දවසක් රෑ වහින්න පටන් ගත්තම ගේ හැම තැනම තෙමෙනවා. කරන්න දෙයක් නැති තැන පොඩි ළමයත් එක්ක කුඩයක් ඉහලගෙන තමයි ගේ ඇතුලෙ හිටියෙ. නොතෙමී ඉන්න තැනක් තිබුනම ඇති කිව්වට, කෝ එහෙම තැනක්වත් නෑනෙ කියල එදා නම් මටත් ටිකක් දුක හිතුනා. ස්වාමීන් වහන්ස කවුරු කොහොම කිව්වත් ඒකට විය පැහැදම් කරන්න ඕන මමනෙ. මට ඉතින් පුළුවන් වෙච්ච කාලෙදි ගේ හදනවා. වෙන මොනව කරන්නද?...

මේ ආදී වශයෙන් බොහෝ දේවල් කතා කරල අබේරත්න උපාසක මහත්තයගෙ ධර්ම සාකච්ඡා ගැනත් කතා කරල තමයි ඒ දායක මහත්තය විහාරස්ථානයෙන් ගියේ.

අබේරත්න උපාසක මහත්තය ඒ ගෙදරට ඇවිත් දවසක් දෙකක් ගියාට පස්සෙ ඒ ගෙදර මහත්තයට එදා ගෙදර වැඩක් පලක් කරන්න දෙයක් තිබිලත් නෑ. කරන්න දෙයක් නැති නිසා නිකං ඉන්න බැරිකමට ගෙදර ළඟම තිබුන පරණ ගඩොල් ගොඩක් කැලෑ වෙලා තිබිල සුද්ධ පවිත්‍ර කරන්න ගත්තලු. එතකොටම තමන්ගෙම සහෝදරියක් ඇවිත්, උඹ ගේ හදන්නද යන්නෙ, හා ඒක හොඳයි මම ණයට අරගෙන තිබුන සල්ලි ටිකත් ගෙනත් දෙන්නම් ගේ හදන්න පටන් ගනින් කියල ඒ මුදලත් එදාම ගෙනත් දීල තියෙනවා. ඉතින් ඔහු මොකද කළේ, ඔව් ඔව් ගේ හදන්න තමයි හදන්නෙ කියල විහිළුවට කියල නැවතත් සුද්ධ පවිත්‍ර කර කර ඉන්නකොට තවත් කාන්තාවක් පාරෙ යන ගමන්ම, මොකද මල්ලියේ ගේවත් හදන්න හදනවද කියල ඇහුවලු. ඔව් ඔව් ගේ හදන්න තමයි හැදුවෙ ඒ වුනාට සල්ලි කොහෙන්ද ගෙවල් හදන්න කිව්වම, ඒ කාන්තාව කිව්වලු, මම සල්ලි දෙන්නම් ගේ හදාගන්න, පස්සෙ සල්ලි ටික ටික දෙන්න මට සල්ලි හදිස්සියක් නෑ කියල.

එතකොට ඒ මහත්තය නැවතත් කියල තියෙනවා, ලක්ෂ 4 - 5 වත් (වසර ගණනාවකට පෙර) දෙන්න පුළුවන් නම් ගේ හදන්න පටන් ගන්න පුළුවන්, නමුත් ඉතින් මට හදිස්සියට මුදල් ආපසු දෙන්න විදිහක් නම් නෑ කියල. කමක් නෑ ගේ හදනකොට මම සල්ලි දෙන්නම්, ගේ හදන්න පටන් ගන්න කියල ඇය කියාගෙන ගිහින් තියෙනවා. වෙනදත් ඇය පාරෙ යන ගමන් මොනව හරි විහිළුවට කියන නිසා ඒ ගැන එතරම් තැකීමක් නොකර මේ මහත්තය ඉතිරි වැඩ ටික කර කර හිටියලු. පැය 2 කට විතර පස්සෙ මහ පුදුම වැඩේ කියන්නෙ, විහිළුවට කිව්ව මුදලම මේ කාන්තාව බැංකුවට ගිහින් එන ගමන් ගෙදරටම දීල ගිහින්. දැන් ඉතින් මොනව කරන්නද, විහිළුවට කිව්ව ඒවා සියල්ල ඇත්ත වෙලා. හිතා ගන්නත් බැරි විදිහට මාස 2 - 3 ක් යන්නත් පෙර ගෙදර වැඩ කටයුතු අවසන් වෙලා. බලනකොට වැඩ කරපු අයට පොරොන්දු වෙච්ච මුදල්වලටත් වඩා වැඩිපුර පඩිනඩි ගෙවල ඒ අයත් සතුටු කරවල තමයි ගේ හදන වැඩ කටයුතු අවසන් කරල තියෙන්නෙ. කොහොම හරි අළුත් ගෙදර පදිංචි වෙන දවස වෙනකොට නම් අබේරත්න උපාසක මහත්තය පැවිදි වෙලා හිටියෙ. නමුත් ඒ මහත්තය ගිහින් උන්වහන්සේටත් මතක් කරල ආශිර්වාද ලබාගෙන ඇවිත් තමයි අලුත් ගෙදර පදිංචි වුනේ.

මේ සිදුවීමෙන් අපිට පැහැදිලියි, අත්තිවාරම විතරක් දාල අවුරුදු ගණනාවක්ම තමන්ගෙ නිවස ඉදි කරගන්න බැරිව තියෙද්දි, අබේරත්න උපාසක මහත්තය ඒ ගෙදරට ඇවිත් ඉතාම සුළු මොහොතකින් කරපු ආශිර්වාදයක ප්‍රතිඵලයක් විදිහට, හිතුවෙත් නැති විදිහට, බොහොම අඩු කාලයක් තුල නිවසේ ඉදි කිරීම් කටයුතු සිද්ධ කරල වැඩ අවසන් කර ගන්න පුළුවන් වීමම මහා ප්‍රාතිහාර්යක් නෙවෙයිද?

ඉතින් මේ වගේ අපි දන්න සිදුවීම් නම් තව ගොඩක් තියෙනවා. නමුත් ඉතින් ඒවා ලියන්න කියන්න නම් මගේ කිසිම බලාපොරොත්තුවක් නෑ. කොහොම නමුත් මේ කරුණු කාරණා ටික මේ විදිහට ඉදිරිපත් කළේ, රටේ ලෝකෙ කිසිම තැනක කිසිම

කෙනෙක් ළඟ දැනට නැති මහා වටිනා අනර්ඝ සාස්ත්‍රයක් අබේරත්න උපාසක මහත්තය ළඟ තිබුන කියන එකට පුංචි සාක්කියක් පෙන්වන්න.

වර්තමාන යුගයේ විවිධ ගැටළුවලට විසඳුම් හොයන බොහෝ දෙනා වාස්තු දෝස සඳහාත් ඉතා විසාල වශයෙන් මිල මුදල් විය පැහැදම් කරල ඒ සඳහා විවිධ උපදෙස් ලබාගෙන කටයුතු කරන බව පේනවා. ඒ සඳහා විවිධ උපදෙස් දීල කටයුතු කරන්න සැදී පැහැදී ඉන්න පින්වතුනුත් අද බොහොමයක් ඉන්නවා. නමුත් සමහර අය දෙන උපදෙස් අනුව කටයුතු කළොත්, ප්‍රශ්න විසඳීම කෙසේ වෙතත් අලුතින්ම ගෙයක් හදන්න යන මුදල් හදල් නම් විය පැහැදම් වෙන බවත්, ඒ හා සමාන කාලයකුත් යන අවස්ථා තියෙන බවත් අකමැත්තෙන් වුනත් කියන්න සිද්ධ වෙනවා. මොකද අද බොහෝ විට වාස්තු දෝස නැති කරන්න කියල කරන්නෙ, බොහොම දුක් මහන්සියෙන් මුළු ජීවිත කාලයම ගත කරල රටට ලෝකෙට ණය වෙලා හදාගත්ත ගෙදර තියෙන ජනෙල් දොරවල් ආදිය ගලවල වෙනත් තැන්වලින්සවිකරන්න,එහෙමනැත්නම් තමන්ගෙ ගෙදර පිහිටල තියෙන දිසාව වෙනස් කරල වෙනත් දිසාවකට හරවන්න, වහලෙ තියෙන දෝස ඉවත් කරන්න වහල කඩල බිඳල නැවත සකස් කරන්න උපදෙස් දීම...

මේ ආදී වශයෙන් විවිධ උපදෙස් දෙන කාලයක ඒවා කිසිවක් නොකර, සමාධිමය උපදෙස් දෙන විවිධ ක්‍රමවේද අබේරත්න උපාසක මහත්තය ළඟ තිබුනා. ඒ තුලින් හොයල බලල **සම්පූර්ණයෙන්ම ගෙවල් දොරවල්වල දොස් ඉවත් කිරීම, ඉඩකඩම්වල ළිං කපනකොට ඇතිවන දොස් සහ වැසිකිළි වළවල් කපනකොට ඇතිවෙන දොස් ඉවත් කිරීම, ඒ වගේම බොහොම පුංචි ඉඩම් කෑලිවල අලුතින් ගෙවල් ඉදි කිරීම, ළිං කැපීම, පාරවල් අයිනෙ තියෙන ඉඩම්වල දිසා ගත කිරීම්... ආදියේදී එන වාස්තු දෝස ඉවත් කිරීම, අධ්‍යාත්මය දියුණු කර ගැනීම තුලින් ඇති කරගත්ත සමාධිමය ක්‍රමවේද තුලින්, අවම වියදමකින් කරන හැටි එතුමා දැනගෙන හිටියා. විවිධ ගස්වැල් වර්ග රෝපණය කරල, විවිධාකාර තණකොළ වර්ග මල් පැළ වර්ග වගා කරල, සමහර ස්ථානවල වගා කරල තියෙන යම් යම් අහිතකර අසුද්ධ කිරණ බාහිර පරිසරයට මුදා හරින හානි දායක ගස් වැල් වර්ග ඉවත් කරන්න උපදෙස් දීල, ඒ සඳහා බොහොම සුළු ක්‍රමවේද තුලින් අප්‍රමාණ දොස් ඉවත් කරල බොහෝ දෙනාට සමගියෙන් සමාදානයෙන් ජීවත් වෙන්න අවස්ථාව ලබා දුන්න බව** එදා එතුමන් වටා හිටපු බොහෝ දායක පින්වතුන් දැන හඳුනගෙන තිබුනා. ඒ වගේම ඒ අත්දැකීම් සහිත අයත් ඕන තරම් හිටියා.

මේ කාල වකවානුවේ බොහෝ දෙනා තමන්ගෙ විවිධ රැකී රක්ෂා සඳහා යන්න තියෙන ගමනාගමන පහසුව, දූවා දරුවන් ඉහල පාසල්වලට යොමු කරවා ගැනීම, ජල විදුලි අවශ්‍යතාවයන්... මේ ආදී විවිධ හේතු මත, ස්වභාවික පරිසරයක් තියෙන සුන්දර ගම්දනව්වල තියෙන තමන්ගෙ දේපළ ඉඩකඩම් විකුණල දාල බලාපොරොත්තු වෙන්නෙ නගරාසන්නයේ පුංචි පුංචි ඉඩම් කෑලි අරගෙන විසාල වශයෙන් මිල මුදල් විය පැහැදම් කරල ගෙවල් දොරවල් හදාගෙන පදිංචි වෙලා ඉන්න. එතකොට කොහොමද ඒ අය වාස්තු දෝස ඉවත් කරගෙනසුදුසුදිසාවට මුහුණදාලගෙවල් දොරවල් හදන්නෙ? ප්‍රධාන පාරවල් අයිනෙ ඉන්න අය පාර තියෙන දිසාවට මුහුණ හරවල ගෙවල් හදනව මිසක්, කවුරු කොහොම කිව්වත් පාරට පිටුපාල ගෙවල් හදන්න කැමති නෑ. බොහොම පුංචි ඉඩම් කෑලිවල පදිංචි වෙලා ඉන්න අය පොත්පත්වල කියල තියෙන විදිහට ළිඳ, වැසිකිළි වළ කොහොම හදන්නද? එතකොට ඒවාට මොනව හරි කිය කියා ඉඳල වැඩක් නෑ. අර පොතේ මෙහෙම තියෙනවා, මේවා අපේ පාරම්පරික සාස්ත්‍ර, දැන් ඉන්න අය ඒවා ගැන සළකන්නෙ නෑ, ඒවා ගණන් ගන්නෙ නෑ, නවීන ලෝකෙ අයට මොකුත් අවශ්‍ය නෑ, හෙළ සිරිත් විරිත් චාරිත්‍ර වාරිත්‍ර නැති කරල දානවා... මේ ආදී වශයෙන් කියල දොස් කිව්වට වැඩක් නෑ. අපි දැනගන්න ඕන ඒ ඒ අයගෙ අවශ්‍යතාවයන් දැන හඳුනගෙන දොස් පරොස් ඉවත් කරල සමගිය සමාදානය රැකෙන විදිහට මෙලොව පරලොව නිවන කියන තුන් අභිවෘද්ධිය සඳහා කටයුතු කරල දෙන්න. එහෙම නැතිව පොතපත පරම කරගෙන ඉඳල, සිරිත් විරිත් ඇවතුම් පැවතුම් ටික පරම කරගෙන ඉඳල හරියන්නෙ නෑ. අවස්ථානුකූලව හේතු ඵල දහමට ගැලපෙන ආකාරයට කටයුතු කරන්න පුරුදු පුහුණු වෙන්න ඕන.

සමාධිය ප්‍රගුණ කරපු උත්තමයන් ඒ සමාධිමය හැකියාව උපයෝගී කරගෙන මහා දයානුකම්පාවෙන් ලෝක සත්ත්වයන්ට උපක්‍රමශීලීව කටයුතු කරන්න කියල දෙනව වගේම, සියලු දොස් ඉවත් කරන විවිධ ක්‍රමවේද ඔස්සේ සාමාන්‍ය ජනතාවට සුවයක් සහනයක් සලසල දෙනවා. නමුත් ඉතින් ඒ හැකියාව හැමෝටම නෑ. හැබැයි ඉතින් එහෙම කියල සාමාන්‍ය ජනතාව බොහොම අමාරුවෙන් දුක සේ ගොඩ නගා ගත්ත ගෙවල් දොරවල් හතර පස් වතාවක් කඩල බිඳල දාල අලුතින් ගෙවල් දොරවල් හැදෙව්වට හරියන්නෙ නෑ.

උදාහරණ විදිහට පෙරේත පාදය වෙන් නොකර ගෙවල් හැදුවම එන සමහර දෝස තියෙනවා, ගෙවල් කඩල බිත්ති කඩල තාප්ප කඩල ඉවත් කරන්න මහ වියදමක් දරල සෑහෙන මහන්සි වෙන්න ඕන. නමුත් බැලුවම පේනවා, ඒවාට ඒ තරම් විය පැහැදම් කරන්න ඕන නෑ කියල. කොහු ලණු කෑල්ලක් හරි කම්බි පොටක් හරි ඇදල දෙපැත්තෙන් පුංචි වැල්දොඩම් පැළ දෙකක්, ඒ වගේ මොනවහරි සුදුසු මල් වැල් දෙකක් හිටෙව්වම, ඒ දෙක පැළ වෙලා එහා වැල මෙහා පැත්තටත් මෙහා වැල එහා පැත්තටත් ගිහින් අතරමගදි වැල් දෙක දෙපැත්තට යන කල් විතරයි ඒ දෝස කරදර බාධා සියල්ල තියෙන්නෙ. ඉතින් ඒවට වැඩිපුර මහන්සි වෙන්න වියදම් කරන්න දේවල් නෑ.

ඒ වගේම තවත් බොහෝ තැන් තියෙනවා, අලුතින් ගෙවල් හදල පදිංචි වෙච්ච දවසෙ ඉඳල මහ පුදුම විදිහට කරදර බාධා එනවා. ඒ වගේ තැන්වලට අබේරත්න උපාසක මහත්තය ගිහින් හොයල බැලුවම, සමහර ගෙවල්වල කිසිම දෝසයක් නෑ බොහොම හොඳයි. තියෙන්නෙ එකම එක දෝසයයි. මුදල් විය පැහැදම් කරල මහ විසාල ගෙවල් හදල, නමුත් ඉතින් **ගෙදර වතුර ටැංකිය තියල තියෙන්නෙ කුස්සියේ පෝරණුව උඩ. කොච්චර මුදල් විය පැහැදම් කළත් සුදුසු තැනක වතුර ටැංකිය තියාගන්න ඒ අය දන්නෙ නෑ. යටින් ගින්දර දාල රත් කරනවා. උඩින් වතුර ටැංකිය තියෙනවා. ගින්දරයි වතුරයි කියන්නෙ හාත්පසින්ම ප්‍රතිවිරුද්ධ දෙකක්. මේ දෙක පරස්පරයි. ඉතින් ගෙදර සමගියක් සමාදානයක් තියෙන්නෙ කොහොමද? මේ වගේ දෝසවලට බිත්ති කඩල තාප්ප කඩල ජනෙල් දොරවල් ගලවල වෙනත් තැන්වලින් සවි කරල වැඩක් නෑ. වතුර ටැංකිය ඉවත් කරල වෙනත් සුදුසු තැනක තියා ගත්තම ගෙදර ප්‍රශ්න ඒ මොහොතෙම විසඳෙනවා.** නමුත් ඉතින් මේ වගේ ක්‍රමවේද සාමාන්‍ය ජනතාව කොහොම තේරුම්

ගන්නද, කොහොම සොයා ගන්නද? එහෙම හැකියාවක් හැමෝටම නෑ. (මේ ආදී විසඳුම් සමග වාස්තු දෝස සම්බන්ධයෙන් ලිපි පෙළක් හෙළ බොදු පියුම 38, 41 - 52 දක්වා කලාපවල පළ කරල තියෙනවා.)

මේ විදිහට සමාධිමය ප්‍රතිකාර ක්‍රම ලෝකයාට ලබා දීල කටයුතු කරන උදවිය ඉන්නවා. එබඳු ආකාරයට කටයුතු කරන්න බැරි අයට, අවබෝධයක් තියෙන උත්තමයන් විසින් යම් යම් ගණිත චක්‍ර ක්‍රම උපයෝගී කරගෙන යම් යම් න්‍යායාත්මක ක්‍රමවේද, සාස්ත්‍ර ක්‍රම ලබා දීල තියෙනවා. නමුත් ඉතින් ඒවා තේරුම් ගන්න බැරිවෙනකොට, එහෙම නැත්නම් කාලයක් යනකොට ඒ සාස්ත්‍ර ලෝකයට ආපු විදිහ දන්නෙත් නෑ. දැන ගන්න ඕනත් නෑ. මේ විදිහට කාලයක් යනකොට ඊළඟ පරම්පරාව අර පොත්පත් ටික විතරක් කර තියාගෙන ඒවා පරම කරගෙන පද පරම තත්ත්වයට පත් වෙලා කටයුතු කරනවා. ඔය කාලෙදි වෙනත් කෙනෙක් ඒවායේ අඩුපාඩුවක් පෙන්නුවොත් එහෙම ගහ මරාගන්න එනවා. අපේ සාස්ත්‍ර නැති කරනවා, ඒවා විනාස කරනවා, මේවා පාරම්පරික සාස්ත්‍රක්‍රම,කොහොමදඑහෙමනෙවෙයි කියන්නෙ... ඔය විදිහට මහා ගැටුම් පවා ඇති කරගන්නවා. මොනවා කරන්නද? අනවබෝධය නිසා අවිද්‍යාවෙන් තෘෂ්ණාවෙන් ගන්න තීරණ. ඉතින් අපි කොහොමද ඒවා හොඳයි කියන්නෙ? අපිට තියෙන්නෙ ලෝකයේ ස්වභාවය තේරුම් අරගෙන තමන්ගෙ කටයුතු කරන ගමන් තම තමන්ටත් පුළුවන් තරමින් හරි ලෝක සත්ත්වයාට යහපතක් කිරීම. අපි නෙවෙයි, ලොව්තුරා බුදු පියාණන් වහන්සේ කිව්වත් පිළිගන්නෙ නැති අය ලෝකයේ ඉන්නවා. මොනව කරන්නද? අපි ඉතින් දයානුකම්පාවෙන් ලෝක සත්ත්වයන්ටත් යමක් කරන ගමන් අපේ කටයුතු ටිකත් කරගෙන ආර්ය මාර්ගය පූර්ණ කරල සසර දුකෙන් නිදහස් වෙලා නිවන් සැනසීම ලබන්න කටයුතු කරන්න ඕන. එදා අබේරත්න උපාසක මහත්තය මේ විදිහට විවිධ මාතෘකා ඔස්සේ දීර්ඝ වශයෙන් කරුණු කාරණා පිළිබඳව පැහැදිලි කිරීම් සිද්ධ කළා.

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

---

## පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...

www.waharaka.com   webmaster@helabodhupiyuma.net

071 3046895 / 036 2267111 / 076 8092008 / 076 3639891

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සෑම පුන් පොහෝ දිනකම සහ සෑම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදනය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව. සෑම මසකම 1 වන සහ 3 වන සෙනසුරාද ආශිර්වාද පූජාව සහ ධර්ම සාකච්ඡාව. 2 වන සහ 4 වන සෙනසුරාද භාවනා වැඩසටහන්

**ගමන් මාර්ගය: නිට්ටඹුව - රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණුපස.**

---

## සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,

හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ, අග්ගඤ්ඤ සූත්‍රය, නිරුක්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව, දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.

---

## අරි සිතුම් සුවසෙත වෛද්‍ය සායනය

සුගතිය, නිවන පූර්ණ කර ගැනීමේ පහසුව පිණිස ගිලාන ප්‍රත්‍ය කටයුත්තක් වශයෙන්, වහරක අභයරතනාලංකාර මහතෙරුන් වහන්සේ විසින් බෙහෙත් සමාධියෙන් මතු කරනු ලැබූ ඖෂධ හා ප්‍රතිකාර ක්‍රම ඇසුරින් කෙරෙන, අරි සිතුම් සුව සෙත වෛද්‍ය සායනය සෑම ඉරිදා දිනකම උදෑසන 7.00 සිට වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේදී සහ අනුරාධපුර, ගල්කඩවල, බාලදක්ෂ මාවතේ පිහිටි අරිය චින්තාශ්‍රම හෙළ බොදු සෙනසුනේදී පැවැත්වෙන අතර රෝග විමර්ශනය සහ සියලු රෝග සඳහා ඖෂධ ප්‍රතිකාරද කරනු ලැබේ. වැඩි විස්තර සඳහා පහත දුරකථන අංකවලින් විමසන්න.

**077 774 1478 | 077 162 0072 | 0717492057**

# මත් වතුරට ඇබ්බැහි වූවන් සඳහා විශේෂ සමාධිමය ප්‍රතිකාර...



මත් වතුර කියන්නෙ අද වෙනකොට ලංකාව ගිලගෙන තියෙන පිළිලයක්. ඈත අතීතයේ, ඉඳල හිටල ඇඟේපතේ කාංසිය දුරු කරගන්න ස්වභාවිකව හැදුන කිතුල්, පොල්, තල් රා පොදකින් සප්පායම් වුනු අපේ ඇත්තො, පසුකාලීනව ඇති වෙච්ච විදෙස් ආක්‍රමණයන්ගේ ගොදුරු බවට පත් වෙමින් පිටරැටියන් විසින් හඳුන්වා දුන් කෘතිම සැර මත් වතුරට ඇබ්බැහි වුනා. විවිධාකාර නම්වලින් ඇතුල් වෙච්ච මේවා පසුකාලීනව දිවයින පුරා ඔඩුදුවල කසිප්පු කියන විස මත් වතුර පෙරාගෙන බොන තත්ත්වයටම පත් වුනා. මේ කියන මත් වතුර නිෂ්පාදනය කරන්න විවිධ කෘතිම රසායන, වර්ණක එකතු කරනවා. කසිප්පු කියන මත් වතුර ගත්තොත් ඒවාට විවිධ විස රසායන විතරක් නෙවෙයි, පල් වෙනකොට මීයො, කැරපොත්තො, හූනො වගේ සත්තු පවා වැටිල මැරෙනවා. දවස ගානෙ මේ වගේ දේවල් රටේ හතර කොනින්ම වාර්තා වෙනවා. ඒ විතරක් නෙවෙයි, අද වෙනකොට රජයේ ප්‍රධාන බදු ආදායම් මාර්ගයක් බවට පත් වෙලා තියෙන්නෙත් මත් වතුර. අද මගුලකට, මරණයකට, සාදයකට නැතිවම බැරි දෙයක් බවට මත් වතුර පත් වෙලා අවසන්. ඒවා නොතිබුනොත් බනින දොස් කියන තත්ත්වයටත් පත් වෙලා. ලෝකයේ වැඩියෙන්ම මත් වතුර පානය කරන රටවල් අතරින් මුල් තැනක් ගන්නත් අපේ රට සමත් වෙලා තියෙන බව සමීක්ෂණ වාර්තාවලින් කියවෙනවා.

මේකෙ අතුරු ප්‍රතිඵල විදිහට අද වෙනකොට රටේ ජනතාවගෙන් කොටසක් අක්මා, හෘද, වකුගඩු ආශ්‍රිත රෝගීන් බවට පත් වෙලා අන්තිමට ඒකෙන්ම මරු වැළඳ ගන්නත් හේතු වෙලා තියෙනවා. තවත් සමහරු මානසික රෝගීන් බවට පත් වෙලා. ඊට අමතරව අධික මත් වතුර භාවිතය නිසා පවුල් ආරවුල් සීඝ්‍රයෙන් වැඩි වෙලා තියෙනවා. එක අතකින් ජීවත් වෙන්න එදා වේල හරිහම්බ කරගන්න බැරි තරම් අධික දරිද්‍රතාවයෙන් පෙළෙන පවුල්වල අය මත් වතුරට මුදල් වියදම් කිරීම නිසා, තියෙන ප්‍රශ්න තවත් උග්‍ර වෙලා කබලෙන් ලිපට වැටිල තියෙනවා. ඒ වගේම මත් වීමෙන් පසු ඇති වෙන තත්ත්වය නිසා පහර දීම්, බැන වැදීම් සමහර වෙලාවට මිනීමැරුම්වලින් පවා කෙළවර වෙච්ච අවස්ථා තියෙනවා. කොහොමටත් ලංකාවෙ ජනමාධ්‍ය බැලුවොත්, දවසකට ඔය වගේ සිදුවීම් බොහෝ ප්‍රමාණයක් අනිවාර් යෙන්ම වාර්තා වෙනවා.

ඒවගේමඅධිකමත්වතුරභාවිතයෙන් පසු රිය පැදවීම නිසා ඇතිවෙච්ච මාරක අනතුරුත් සුළුපටු නෑ. ඒවායේ අඩුවක් තවමත් පේන්න නෑ. අවුරුද්දකට වාර්තා වෙන රිය අනතුරුවලින් 20% ක් ම බීමත්කම නිසා සිද්ධ වෙන ඒවා බවත් කියවෙනවා. ඊට අමතරව මත් වතුර විස වෙලා මරණයට පත්වෙන පුද්ගලයන් ගැන පවා මෑත කාලීනව නිතර නිතර අහන්න ලැබෙනවා. මේ ආදී වශයෙන් විපත්ති ගණනාවකින්ම කෙළවර වෙලා තියෙන මත් වතුර අද වෙනකොට සමාජයේ පිළිලයක් බවට පත් වෙලා අවසන්. අමධ්‍යපව්‍යාපාර ආදියෙන් ඒවාට විරුද්ධව හඬ නැගුවත්, ඒවා ප්‍රායෝගික නොවීම නිසා බලාපොරොත්තු වෙච්ච ප්‍රතිඵල අත්කර ගන්න බැරිවෙලා තියෙනවා.

මේ වගේ තත්ත්වයක් යටතේ, වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් ගිහි වතක සිටියදී සමාධියෙන් මතු කර ගත් විශේෂ ප්‍රතිකාර කිහිපයක් ලෝවාසීන්ගේ හිත සුව පිණිස හඳුන්වා දෙන්නයි මේ උත්සාහ කරන්නෙ. ඒ කාලෙ උන්වහන්සේ නොයෙක් සමාධිමය ප්‍රතිකර්ම, බේත් හේත් ආදිය සිද්ධ කළ නිසා රටේ විවිධ පළාත්වලින් විවිධාකාරයේ දුක් පීඩාවන්ගෙන්, රෝගාබාධයන්ගෙන් පෙළෙන අය ඇවිත් බේත් හේත් / ප්‍රතිකාර ගත්තා. ඒ අතර තමන්ගෙ සැමියා අධික ලෙස බීමට ඇබ්බැහි වෙලා නොයෙක් ආරවුල් කලකෝලාහල ඇති කරගෙන ආර්ථික වශයෙනුත් අහේනියට පත් වෙලා, පවුල් ජීවිත පවා කඩාකප්පල් වෙන මට්ටමට ආපු සමහර පවුල්වල බිරින්දෑවරුන්, තමන්ගෙ දුක් අඳෝනාව කියාගෙන අබේරත්න උපාසක මහත්තය ළඟට ප්‍රතිකර්ම බලාපොරොත්තුවෙන් ආවා. බීමත්කම නවත්වන්න බේතක් එහෙම නැත්ද කියල, අන්න එහෙම ආපු කිහිප දෙනෙකුටම උන්වහන්සේට එදා සමාධියෙන් නැගිච්ච ප්‍රතිකාර කිහිපයක් තියෙනවා.

එක් එක් අයට විවිධ හේතු ඵල අනුව විවිධාකාරයේ ප්‍රතිකාර තමයි සමාධියට නැගුනයි කියන්නෙ. එතකොට ඒවා සාර්ථක වෙලා ඒ බව දැනුම් දීපු අය වගේම එහෙම දැනුම් නොදීපු අයත් ඉන්නව කියල උන්වහන්සේ දවසක් ප්‍රකාශ කළා. කොහොමත් ඉතින් සහනයක් ලැබුනම ඒ බව නොකිය ඉන්න එකත්, වැරදුනාම දොස් කියන එකත් අපේ රටේ සිරිතක් නිසා ඒ ගැන ගැටළුවක් නෑ. නමුත් ඉතින් කෙනෙකුට යම් කිසි ප්‍රතිකර්මයක් / බේතක් ලබා දුන්නම, ඒකෙන් සුවයක් අත් වුනොත් ඒ ගැන කියන එක තමන්ගෙ යුතුකමක්. මොකද ඒක සාර්ථක වුනා නම් තවත් ඒ වගේ රෝගීන්ට ඒ ප්‍රතිකර්මයම / බේතම ලබා දීල විසාල සහනයක් අත්කර දෙන්න

පුළුවන් නිසා. කොහොම වුනත් කමක් නෑ, උන්වහන්සේට සමාධියෙන් නැගිච්ච ඒ ප්‍රතිකර්ම කිසිදු සැඟවීමකින් තොරව වර්තමාන සහ පශ්චිම ජනතාවගේ හිත සුව පිණිස මේ ආකාරයට සටහන් කරනවා.

ඒ වගේම තමයි මෙතනදි මත් වතුරට ඇබ්බැහි වෙච්ච අය සම්බන්ධයෙන් දැනගත යුතු තවත් කාරණයක් තියෙනවා. සමහරු ඉන්නවා බොහොම කැමැත්තෙන්ම පෙරේතකමට මත් වතුර පානය කරනවා. ඒ අය ඒක නරකයි, අවැඩයි කියල පිළිගන්නෙත් නෑ. ඒ නිසා ඒ ඇබ්බැහි වීම නතර කරගන්න ඒ අයට උවමනාවකුත් නෑ. හැබැයි තවත් සමහරු ඉන්නවා, ඇබ්බැහි වුනත් ඒක නතර කරගන්න අවශ්‍යතාවය තියෙනවා. ඒක නරකයි, අවැඩයි කියල දන්නවා. නමුත් නතර කරගන්න ක්‍රමවේදයක් නැතිකමින් දුක් විඳිනවා.

ඉතින් මේ දෙගොල්ලන්ගෙන් කවුරු වුනත් කමක් නෑ, තමන් දැනුවත්ව හෝ නොදැනුවත්ව හෝ මේ ක්‍රම අත්හදා බලන්න පුළුවන්. ඒ කියන්නෙ තමන් විසින්ම හෝ වෙනත් කෙනෙකු ලවා හෝ කරගන්න පුළුවන්. එහෙම නැත්නම්, ඒ මත් වතුරට ඇබ්බැහි වෙච්ච පුද්ගලයට නොදැනෙන්න වෙනත් අය විසින් රහසිගතව කරන්නත් පුළුවන්. උත්සාහ කළයි කියල කිසිම අතුරු ආබාධයක් නෑ. මුදලක් වියදම් වෙන්නෙත් නෑ. ඒ වගේම මේ ප්‍රතිකර්ම එක දිගටම කරන්න ඕන කියලත් නෑ. මොකද දිනපතා මත් වතුර පාවිච්චි කරන අය වගේම, දින ගණනාවකට සැරයක් පාවිච්චි කරන අයත් ඉන්නවා. දිනපතා පාවිච්චි කරන අයට නම් එක දිගටම මේ ක්‍රමය කරන්න පුළුවන්. අනෙක් අයට මත් වතුර ගන්න දවස්වලට කළාම ප්‍රමාණවත්. හැබැයි තමන්ට මේ ඇබ්බැහි වීම නතර කර ගන්න උවමනාව තියේ නම් එහෙම අය එක දිගටම කළත් ගැටළුවක් නෑ.

ඒ වගේම තමයි මේ ප්‍රතිකාර ක්‍රම පාවිච්චි කරනකොට කෙනෙකුට සාර්ථක වෙන්න පුළුවන් වගේම තව කෙනෙකුට ඒ තරම් සාර්ථක නොවෙන්න පුළුවන්. එහෙම නැත්නම් අසාර්ථක වෙන්නත් පුළුවන්. ඒකටත් හේතුවක් තියෙනවා. එකක් කර්ම ශක්තිය. ඒක අචින්ත්‍ය විෂයක් නිසා අපිට විග්‍රහ කරන්න බෑ. ඊළඟට මේ මත් වතුර පානය කරන අයත් එක්ක බොහෝ කොටම අමනුස්සයොත් සම්බන්ධ වෙනවා. ඒ අමනුස්සයො අතරත් විවිධාකාර ගති ලක්ෂණ තියෙන ප්‍රබල දුබල දෙකොට්ඨාසයම ඉන්න පුළුවන්. ඒ අයගෙ මෙහෙය වීම් සහ පුද්ගලයන් සසරෙ ගෙනාපු ගති ස්වභාවයන් ආදී තවත් විවිධ හේතුන් මේ ප්‍රතිකාරවල සාර්ථක අසාර්ථක බවට බලපාන්න පුළුවන්.

කොහොම හරි සියයට යම් කිසි ප්‍රතිශතයකට හෝ මේ ප්‍රතිකර්මවලින් සහනයක් ලැබුන කියන්නෙ ඒකෙ සත්‍යතාවයක්, වටිනාකමක් තියෙනවා කියන එක. ඒ නිසා තමන්ට සහනයක් නොලැබුනා කියල දොස් කියන්න බනින්න යන්න එපා. මේ සසර ස්වභාවයත් දැනගෙන කිහිප වතාවක්ම උත්සාහ කරල බලන්න. මේ සඳහන් කරන එක ක්‍රමයක් බැරිනම් ක්‍රම කිහිපයක්ම අත්හදා බලන්න පුළුවන්. ඒ නිසා තමන්ට පුළුවන්කම තියෙන අය මේ ප්‍රතිකාර ක්‍රම අත්හදා බලල මෙලොව පරලොව අභිවෘද්ධිය සලසා ගනිත්වා.

**1. <u>අශ්ව ලාඩම් ප්‍රතිකාරය</u>** දුවපු අශ්වයෙකුගෙන් ඉවත් කරපු අශ්ව ලාඩමක්, ඒ කියන්නෙ යම් කිසි කාලයක් පාවිච්චි කරපු අශ්ව ලාඩමක් සහ ඒක වැහෙන්න ප්‍රමාණවත් තරමට ස්වභාවිකව එකතු කරගත්ත පිනි දිය ටිකක් මේ ප්‍රතිකාරය සඳහා අවශ්‍යයි. පිනි දිය එක දවසින් එකතු කරගන්න බැරි වුනොත් සතියක් ඇතුලත එකතු කරගන්න. හැබැයි සතියකට වඩා පරණ වෙන්න හොඳ නෑ. ඒ වගේම අශ්ව ලාඩම එක වතාවක් පාවිච්චි කරල තවත් අයට අවශ්‍ය නම් මේ ප්‍රතිකාරය සඳහා නැවත යොදා ගන්නත් පුළුවන්.

අශ්ව ලාඩම ලේ පැහැ ගැන්වෙන කල් පොල් කටු පත්තු කරපු ගින්නට දමන්න. ඒ මට්ටමට රතු වුනාට පස්සෙ අඬුවකින් අරගෙන පිනි දිය භාජනයට දමල වහල තියන්න. මිනිත්තු 2 - 3 කින් විතර අශ්ව ලාඩම ඉවත් කරල ඒ ජලය, මත් වතුරට ඇබ්බැහි වෙච්ච පුද්ගලයගෙ එක වතාවක් හෝ පාවිච්චි කරල හෝදපු නැති ඇඳුමක් භාවිතා කරල පෙරා ගන්න. මොකද ඒ පුද්ගලයගෙ ශරීරයේ තියෙන දහදිය හෝ මොනව හරි රසායනයක් මේකට සම්බන්ධ වීම අවශ්‍යයි. දැන් ඒ පෙරා ගත්තු ජලය මේස හැඳි 2 ක් විතර මත් වතුරට මිශ්‍ර කරල බොන්න දෙන්න. ඒ විදිහට දින 5 ක් විතර මේස හැඳි 2 බැගින් මිශ්‍ර කරල බොන්න දෙන්න. සම්පූර්ණ මත් වතුර බෝතලයටම ඒ වතුර මේස හැඳි 2 බැගින් සැරින් සැරේ එකතු කරල දුන්නත් කමක් නෑ. දැන් කොච්චර බිව්වත් මත් වෙන්නෙ නෑ, ඔක්කාරෙට එනවා. ඒ නිසාම බීම එපා වෙනවා. මොකද කෙනෙක් මත් වතුර ගන්නෙ මත් වෙලා අමුතුම සිහින ලෝකයක් බලාපොරොත්තුවෙන්. ඒත් මත් වතුරවලින් ඒ තත්ත්වය ලැබෙන්නෙ නැත්නම් බීල වැඩක් නැති නිසා නතර කරනවා.

මෙතනදි ක්‍රියාත්මක වෙන යම්කිසි මූල ධර්මයක් තියෙනවා. ඒ මූල ධර්මයත් එක්තරා මට්ටමකට මේ විදිහට පහදන්න පුළුවන්. දුවපු අශ්වයෙක් කියන්නෙ මහන්සි වෙලා හති වැටිච්ච සතෙක්. ඒ මහන්සියේ, හතියේ බර යන්නෙ කකුල් හරහා යකඩ ලාඩමට. යකඩ කියන්නෙ යක්ෂ ගතිය කඩ කරන ගුණය, යක්ෂයෙක් වගේ අය මෙල්ල කරන ශක්තිය. ඔන්න ඔය ශක්තිය ස්වභාවික පිනි දියත් එක්ක එකතු වෙලා එක්තරා කිරණමය ශක්තියක් හැදෙනවා. ස්වභාවික පිනි දියෙත් විශේෂ ශක්තියක් තියෙනවා. දවල් කාලයට පොළව මට්ටමේ තියෙන විස දේවල් ඔක්කොම ඉහලට ඇදල අරගෙන සූර්ය ශක්තියෙන් පුච්චල දාල සුද්ධ කරනවා. රෑට මනුස්සයො නිදා ගත්තම රාග, ද්වේශ, මෝහ විශ්වයට පිටවීම සෑහෙන අඩුයි. පාන්දර 1 - 5 අතර තමයි විශ්වය සුද්ධ වෙලා තියෙන හොඳම කාලය. ඒකෙනුත් 2 - 3 අතර කාලය විශේෂයි. ඒ වෙලාවට තමයි මනුස්සයාට අවශ්‍ය කරන ඉහල තියෙන සුද්ධ ශක්තිය පිනිත් එක්ක පහලට එන්නෙ. ඒ නිසා ස්වභාවික පිනි දිය විශේෂයි. දැන් මේවත් එක්ක මත් වතුර කලවම් කරල බිව්වම ආමාශයේ තියෙන පේශි අනෙක් පැත්තට ක්‍රියාකාරී වෙලා අර බොන මත් වතුර ටික නැවත ඔක්කාරයට එන්න බලනවා. එතකොට අප්පිරියාවක් ඇති වෙනවා.

**2. <u>පාලම් බෝක්කු වතුර ප්‍රතිකාරය</u>**

දෙමං හන්දි, තුංමං හන්දි, සිව්මං හන්දි වගේ පෙරේත තටු දමන තැන්වල තියෙන පාලම් බෝක්කුවකින්, එහෙම නැත්නම් ඒ වගේ තටු තියන රේල් පාරවල් යටින් යන පාලම් බෝක්කුවකින් ගලා යන වතුර, කතා නොකර පිටි අතින් භාජනයකට එකතු කරගන්න. ඒ කියන්නෙ තමන්ට නුහුරු අතින් ඒ දිහා බලන්නෙ නැතිව පිටුපාල එකතු කර ගන්න ඕන. මොකද හුරු අත කියන්නෙ, මෙතුවක් කල් ලෝකයට අවැඩ අසාධාරණකම් කරන්න වැඩියෙන්ම පාවිච්චි කරපු අත. නුහුරු අත ඒ තරම්ම දූෂ්‍ය නොවෙච්ච නිසයි මෙතනදි තමන්ට නුහුරු අත යොදා ගන්නෙ. පිටිපස්ස බලන්න එපා කියන්නෙ, එක්තරා කෙමක්, ක්‍රමයක්. දැන් ඒ විදිහට ලබා






ගත්ත වතුර එක වතාවකට මේස හැඳි 2 ක් විතර මත් වතුරට දාල දින 3 ක් බොන්න දෙන්න. ඊට පස්සෙ කොච්චර බිව්වත් පල් වතුර බිව්ව වගේ රසයක් තමයි දැනෙන්නෙ. බීම එපා වෙනවා.

මෙතනදිත් ක්‍රියාත්මක වෙන එක්තරා මූල ධර්මයක් තියෙනවා. ඒකත් එක්තරා මට්ටමකට පහදන්න පුළුවන්. අර කියපු ස්ථානවල තියෙන පෙරේත තටුවලට ගෙවල්වල ඉන්න අමනුස්සයො බුරුතු පිටින් ඇදිල එනවා. ඒ තටුවලට මොනව හරි දාල උන්ට ඒ ස්ථාන කැප කරල තියෙන නිසා උන්ට ඒ ස්ථානවල දිගටම රැඳිල ඉන්න පුළුවන්. සමහර විට අවුරුදු දහස් ගණන් පරණ අමනුස්සයොත් ඔය අතර ඉන්නවා. ඒ අය අතර අරක්කු වගේ මත් වතුර බොන්න කැමති අමනුස්සයොත් ඕන තරම් ඉන්නවා. දැන් ඒ අය දන්නවා, මේ වගේ දෙයක් කරන්න යනව කියල. මොකද මේ පණිවිඩය විශ්වය හරහා නිකුත් වෙලා තියෙන්නෙ. ඒ නිසා අර වතුර ටික පාලම් බෝක්කුවෙන් ගන්නවත් එක්කම ඒ අමනුස්සයොත් ඒක දැනගෙන බැල්ම දාගෙන ඉඳල, අර මත් වතුරට මිශ්‍ර කරන කොටම ඒකට සම්බන්ධ වෙලා ඒ මත් වතුරෙ තියෙන මත් ගතිය උරා ගන්නවා. දැන් ඒකෙ මත් ගතිය නෑ. එතකොට බොන පුද්ගලයට නිකං පල් රහක් වගේ තමයි දැනෙන්නෙ. ඒකෙන් කිසිම මත්වීමක්, ආස්වාදයක් එන්නෙ නෑ. ඒ නිසාම බීම නවත්වනවා. හැබැයි මේ ප්‍රතිකාරය බල පැවැත්වෙන්නෙ අවුරුදු 5 කට කියල තමයි උන්වහන්සේට එදා සමාධියට නැගිල තියෙන්නෙ. නමුත් ඉතින් ඒ ඒ පුද්ගලයන් අනුව ඒ කාරණයත් වෙනස් වෙන්න පුළුවන් නිසා, අවුරුදු 5 කට පසුවත් බීමට ඇබ්බැහි වුනොත් ඒ ප්‍රතිකාරය නැවත කරන්න පුළුවන්.

3. **ඔළිඳ මුල් ප්‍රතිකාරය** ඔළිඳ වැලක බටහිර දිසාවට ගිය මුලක් ගලවගෙන තලල ඒකෙ ඉස්ම තේ හැඳි 2 ක් විතර වතුර නොදා ගන්න. ඒ ටික අරක්කුවලට / මත් වතුරට එකතු කරන්න. දවස් 2 ක් තියල පෙරාගෙන, මත් වතුර ගන්න කෙනාට ඒකෙන් ටිකක් බොන්න දෙන්න. ටිකක් වැඩි වෙච්ච ගමන් ඒ පුද්ගලයට වටා පිටාව පේන්නෙ තමන් ළඟ ළිං / වළවල් තියෙනව වගේ. යන යන තැන ළිං / වළවල් පේන්න පටන් ගන්නවා. එතකොට වැටෙයි කියල බය හිතෙනවා. ඒකෙන්ම බීම නතර වෙනවා. මේ ක්‍රමය සමහරුන්ට එක දවසක් කළාම ප්‍රමාණවත්. නමුත් එහෙම නොවෙනව නම් දින 3 ක් විතර කරල බලන්න.

මෙතනදි ඔළිඳ කියන වචනයේම තියෙනවා ළිඳ කියල වචනයක්. ඒ නිසා ඒ විදිහට ළිං පේන්න ගැනීමත් එක්ක ඔළිඳවල සම්බන්ධයක් තියෙන බව හිතන්න පුළුවන්. ඒ වගේම ගහක මුල් ගත්තොත් ඒ මුල් විහිදිලා තියෙන දිසාව අනුවත් ඒවායේ තියෙන ශක්තිය එකිනෙකට වෙනස් වෙනවා. ඒක බොහොම සියුම් කාරණයක්. බටහිර හෙවත් බස්නාහිර කියන්නෙ බහින පැත්ත. එතකොට බහින පැත්තට ගිය මුල්වලත් ඒ වගේ යමක් බස්සවන, අඩු කරන ශක්තියක් තමයි තියෙන්නෙ. ඒ නිසා බටහිරට ගිය ඔළිඳ මුලක් ගත්තම ඒකෙන් මත් වතුරට ඇබ්බැහි වීම බැස්ස වීමේ ශක්තියක් තියෙනවා.

මේ සම්බන්ධයෙන් වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ ගිහි කාලෙදි ලබපු අත්දැකීමක් උන්වහන්සේ එදා විස්තර කළේ මේ විදිහට.

“දවසක් මම සමාධි ප්‍රතිකර්ම කරන දවසක කාන්තාවක් ඇවිත් තමන්ගෙ මනුස්සය මෙන්න මේ විදිහට අධික ලෙස බීමට ඇබ්බැහි වෙලා කියල ඒකට මොනවත් බේතක් එහෙම නැත්ද ඇහුවා. ඒ වෙලාවෙ මට සමාධියට ආපු ප්‍රතිකර්මය තමයි ඕක. ඉතින් මේ කාන්තාව මොකද කළේ, අර කියපු ප්‍රතිකාරය ඒ විදිහට හදාගෙන දවසක් මේ මනුස්සය හොඳටම බීල රෑ ගෙදර ආවට පස්සෙ, කට ඇරපන් තව පොවන්නම් කියල කටට වැක්කෙරුවම තිබිච්ච පෙරේතකමට ඒකත් බිව්වලු. බිව්වට පස්සෙ ටික වෙලාවක් ගිහින් බයේ කෑ ගහන්න පටන් ගත්තලු වටේටම ළිං / වළවල් පේනව වැටෙයි වැටෙයි කියල. යන්න බෑ එහා පැත්තෙ ළිං තියෙනවා කියල කෑ ගැහුවම, මේ කාන්තාව මනුස්සයගෙ අතින් අල්ලගෙන මත් ගතිය හිඳෙනකල්ම ඇවිද්දෙව්වලු. ඊට පස්සෙ බොන්න බැරිව ගියාලු. ඒ ප්‍රතිකර්මය සාර්ථක වුනාට පස්සෙ, දවසක් ඇවිත් ඔය විස්තරය කිව්වා.”

4. **සරුංගල් ප්‍රතිකාරය** සුදු කොළ (සව් කඩදාසි) අලවපු සරුංගලයක් අඩි 60 කට වඩා උඩ යවල ටික වෙලාවක් තියල බාගන්න. ඊට පස්සෙ ඒ කොළ ටික හූරගෙන ඒ පුද්ගලයා බොන්න ගන්න අරක්කු හෝ මොනව හරි මත් වතුරට දාල දවසක් විතර තියල පෙරා ගන්න. දැන් ඒකෙන් ටිකක් බොන්න දුන්නම, ඒ පුද්ගලයට දැනෙන්නෙ නිකං උඩ යනව වගේ. ඔය විදිහට දින 2 - 3 ක් දෙන්න. ඊට පස්සෙ බොන්න බැරිව යනවා. බොන්න හදන කොටම උඩ යන්න වගේ දැනෙනවා. එහෙම නැත්තම් ඔක්කාරෙට එන්න වගේ දැනෙනවා. එතකොට බීම නතර වෙනවා. නැවතත් බොන්න හදන කොටම ඒක මතක් වෙලා බය වෙලා බීම නතර වෙනවා.

මෙතනදිත් එක්තරා මූල ධර්මයක් ක්‍රියාත්මක වෙනවා. එක්තරා මට්ටමකට ඒකත් පැහැදිලි කරන්න පුළුවන්. උඩ ගිය සරුංගලයක හුළං බඳල එක්තරා ආකාරයකින් ඉහලට ඇද ගැනීමේ ආකර්ශන ශක්තියක් ගැබ් වෙනවා. මෙතනදි ඒ ශක්තිය මත් වතුරත් එක්ක බඩට ගිහින් අර කලින් වගේම ඒ බීපු ඒවා නැවත ඉහලට අදින්න පෙළඹෙනවා. ඒ කියන්නෙ ඔක්කාරෙට එන්න වගේ දැනෙනවා. පිටකොන්ද පැත්තෙන් ඉස්සිලා වගේ නිකං උඩට අදින ස්වභාවයක් දැනෙනවා.

හැබැයි මේ සරුංගල් ප්‍රතිකාරය දින 3 කට වඩා එක දිගට කරන්නත් හොඳ නෑ. මොකද එහෙම වුනොත් සමහර විට මත් වතුරවලට අමතරව කන බොන අනෙක් ආහාරත් ඔක්කාරෙට එන්න පුළුවන්. නමුත් කඩින් කඩ කරනව නම් දින 3 ට වැඩි වුනාට ගැටළුවක් නෑ. යම් කිසි

විදිහකින් එක දිගට දින 3 කට වඩා කරල එහෙම අවස්ථාවක් ආවොත්, බිංකුංඩෙක් අල්ලගෙන, මැරෙන්නෙ නැතිවෙන්න පුංචි රෙදි කැල්ලක ඔතල, උගුරු දණ්ඩෙන් පහල දෙපැත්තෙ තියෙන අස්ථි දෙක අතරට හිරිවෙන්න පැය බාගයක් විතර බෙල්ලෙ ගැට ගහල තියන්න. එතකොට බිංකුංඩගෙ කරකැවීම නිසා ඒ ස්ථානයේ තියෙන නිලයක් ක්‍රියාත්මක වීමෙන් ආහාර මාර්ගයේ ඇතිවෙච්ච ව්‍යාකුල තත්ත්වය යථා තත්ත්වයට පත් වෙනවා. මේ ක්‍රමය මේ අවස්ථාවෙදි විතරක් නෙවෙයි, වමනය ඔක්කාරය එන ඕනෑම අවස්ථාවකදි පාවිච්චි කරන්න පුළුවන්.

මේ ක්‍රමවේදය ඒ කාලෙ ප්‍රතිකාර ගන්න ආපු කෙනෙකුට සමාධියෙන් මතු කරල ලබා දුන්නත්, ඒක අත්හදා බලල ප්‍රතිඵල දැනුම් දුන්නෙ නැති බවත් වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ පැවසුවා.

හැබැයි මේ ක්‍රමය මීට අවුරුදු 2 - 3 කට විතර පෙර එක්තරා මහත්තයෙක් අත්හදා බලල තියෙනවා. දවසක් ඔහු අහම්බෙන් බස් රථයක් තුලදි මට මුණගැහිල මේ ක්‍රමය අනුගමනය කිරීමෙන් තමන්ගෙ බීමත්කම නතර වෙලා මෙච්චර කාලයකට තිබ්ච්ච තවත් ලෙඩ ගණනාවක්ම සුව වුන බවත් පැවසුවා. ඒ මහත්තය මීට මාස ගණනාවකට පෙර පැවිදි දිවියට ඇතුල් වෙලා මේ වෙනකොට භික්ෂූන් වහන්සේ නමක් විදිහට මහණ දම් පුරනවා. නැවතත් ඒ ගැන කරුණු විස්තරාත්මකව දැනගන්න අවශ්‍ය නිසා උන්වහන්සේගෙන් ඒ ගැන විමසුවම, තමන් වහන්සේගෙ ගිහි කාලයේ අත්දැකීම මේ විදිහට විස්තර කළා.

"මම රජයේ රස්සාවක් කරපු කෙනෙක්. සමහර දවස්වලට රෑටත් 1 - 2 වෙනකල් වැඩ කරනවා. ඉතින් ඇඟේ පතේ මහන්සිය යන්නත් එක්ක ටිකක් බොනවා. ඔය විදිහට අවුරුදු 17 ක් තිස්සෙ ටික ටික බීමට ඇබ්බැහි වුනා. ඔහොම ගිහින් බීම නතර කර ගන්න බැරි තරමටම ඇබ්බැහි වෙලා හිටියෙ. අන්තිමට නැතිවම බැරි වුනා. ඒ කාලෙ දවසකට අරක්කු බෝතල් බාගයක් විතර අනිවාර්යයෙන්ම ගන්නවා. නතර කරගන්න උවමනාව තිබුනත් ඒකට විසඳුමක් ලැබුනෙ නෑ. සමහර දවස්වල තැබෑරුමට යනකොට, අද බොන්න ඕන නෑ කියල හිතුනත්, අර වෙලාව ආවම ඇඟට හරි අමාරුයි, ඉන්නම බැරුව යනවා. අතේ සල්ලි නැත්නම් කාගෙන් හරි ඉල්ලගෙන හරි බොනවා. පෝය දවසට තැබෑරුම් වහන නිසා ඒ දවසට හැර අනෙක් හැම දවසකම බොනවා. සමහර දවස්වලට පෝයට වහන නිසා වෙළපහෙන් අරගෙන තියා ගන්නවා. ඔය විදිහට අවුරුදු 7 ක් විතර ගියා. අන්තිමට ඒක මානසික වදයක් වුනා. ඉතින් මේ බණ දහම් ඇහුවට පස්සෙ මේකට ධර්මානුකූල විසඳුමක් නැද්ද කියලත් හොයල බැලුවා. ඊට පස්සෙ තමයි මේ ක්‍රමවේදය යාළුවෙක්ගෙන් දැන ගන්න ලැබුණෙ.

ඒ අනුව මමයි, බීමට ඇබ්බැහි වෙච්ච තවත් යාළුවෙකුයි සුදු කොළ අලවපු සරුංගලයක් උඩ යවල ඒකෙ කොළ ටික හුරල එකම අරක්කු බෝතලයකට දාල අපි දෙන්නම පාවිච්චි කළා. ඒ යාළුවටත් බීමත්කම නවත්වගන්නයි උවමනාව තිබුනෙ. නමුත් ඔහුට නම් ඒ ප්‍රතිකාරයෙන් පස්සෙ දින 2 - 3 කට වැඩිය ඒ විදිහට ඉන්න බැරි වුනා. නැවතත් බොන්න පටන් ගත්තා. මට නම් එක වතාවකින්ම පුදුම සහනයක් දැනුනා. ඇඟේ තිබ්ච්ච විකෘති ස්වභාවය පහ වෙලා ගිහින් ඇඟට පුදුම සුවයක් දැනුනා. ඒ සුවය කොච්චරද කියනව නම්, මම ඒ වෙලාවෙ යාළුවෙක් එක්ක කිව්වා, දැන් නම් මට මැරුනත් බය නෑ මෙහෙම සුවයක් මගේ ඇඟේ තියෙන්නෙ කියල. ඒක කිසිම ද්වේශයක් නැති, හරිම නිවී සැනසුන ස්වභාවයක්. මේ මස් ලේ කයෙන් මම මීට පෙර එහෙම සුවයක් විඳල නෑ. මොකද අර කලින් තිබ්ච්ච ඇඟපත රිදෙන, නින්ද නොයන, කම්මැලි ගතිය, ඇවිදිනකොට බර ගතිය, මානසික අසහනය, නිතරම සැක කරන ගතිය, කේන්ති යන ස්වභාවය... මේ ඔක්කොම නැති වෙලා ගියා. හැබැයි බොරු කියන්න ඕන නෑ, ඒ තත්ත්වය එක දිගටම මාස 4 - 5 කට වැඩිය තිබුනෙ නෑ. ඊට පස්සෙ නැවතත් බොන්න පටන් ගත්තා. නමුත් අර කලින් වගේ නම් ඇබ්බැහි වුනේ නෑ. ගත්තෙ නෑ කියල ඉන්න බැරි ස්වභාවයක්, අසහනයක් ආවෙත් නෑ.

ඔහොම ගිහින් මහණ වෙන්න පෙර ටික කාලයක් ආරණ්‍යයේ නතර වෙලා ඉන්නකොට කල්‍යාණ මිත්‍ර ඇසුරට වැටුනම ඒ තත්ත්වයත් ක්‍රමයෙන් දුරු වෙලා ගියා. හැබැයි මම මේ සරුංගල් ප්‍රතිකාරය එක වතාවකට වැඩිය කරන්න ඕන කියල නම් දැනගෙන හිටියෙ නෑ. එහෙම දැන ගත්ත නම් නැවත බොන්න අවශ්‍ය වෙච්ච වෙලාවට මම ඒක කරනවා. සමහර විට එක වතාවක් විතරක් කරපු නිසා වෙන්න ඇති මාස 4 - 5 කට වැඩිය ඒ තත්ත්වය තිබුනෙ නැත්තෙ. කොහොම හරි මේ ප්‍රතිකාරයේ විශේෂත්වයක් තියෙනවා කියන එක නම් මට අත්දැකීමෙන්ම කියන්න පුළුවන්."

ඒ වගේම මීට අවුරුදු 5 කට විතර පෙර මේ ආකාරයට මත් වතුරට තදින් ඇබ්බැහි වෙච්ච පාදුක්ක ප්‍රදේශයේ කම්කරු රැකියාවක් කරපු එක්තරා පුද්ගලයෙකුට මේ සරුංගල් ප්‍රතිකාරය ලබා දීමෙන් පසුව ඒ තත්ත්වය සම්පූර්ණයෙන්ම නතර වෙලා තියෙනවා. නමුත් මීට ටික කලකට පෙර වෙනත් රෝගී තත්ත්වයක් හේතුවෙන් ඔහු හදිසියේම මියගිහින් තියෙනවා. ඒ නිසා ඒ පවුලේ ළඟම ඥාතියෙක්ගෙන් අපේ හිතවතෙක් ඒ විස්තර ලබාගත්තා. පුද්ගලිකව නම් ගම් සඳහන් කිරීම දැනට ජීවතුන් අතර ඉන්න ඔහුගේ පවුලේ උදවියට ගැටළුවක් වෙන්න පුළුවන් නිසා නම් ගම් සඳහන් නොකර ඉතා කෙටියෙන් ඒ කතාව විතරක් ඉදිරිපත් කරනවා.

දවසක් මේ බීමට ඇබ්බැහි වෙච්ච පුද්ගලයගෙ බිරිඳ තමන්ගෙ දුක් අඳෝනාව අපේ හිතවතෙකුට මේ විදිහට කිව්වා. "මේ මිනිහ හැමදාම බීගෙන ගෙදර ඇවිත් වලං පොඩි කරනවා. අපිට ගහල ගෙදරින් පන්නනවා. උයන කෑම රස නෑ කියනවා. අපි ගැනවත් ගෙදර අඩුපාඩු ගැනවත් බලන්නෙ නෑ. අනේ මල්ලියේ පුළුවන් නම් මේ මිනිහගෙ බීම නවත්තල දෙන්න පිං සිද්ධ වෙයි. බීපු නැති වෙලාවට නම් රත්තරං මිනිහෙක්. අපිට හරිම ආදරෙයි."

මේ විදිහට කිව්වම ඒ හිතවතා, වහරක හාමුදුරුවො මතු කරපු සරුංගල් ප්‍රතිකාරය ගැන කියල තියෙනවා. ඊට පස්සෙ ඔහුගෙ බිරිඳ මොකද කළේ, දවසක් සරුංගලයක් හදල උඩ යවල ඔකෙ සව්කොළ ටික හූරල කසිප්පු බෝතලයකට දාල දවසක් තිව්වා. ඊට පස්සෙ ගෙදර මනුස්සය බොන්න ගෙනාපු කසිප්පු බෝතලය අයින් කරල අර සව්කොළ දාල පෙරපු බෝතලය ඔහුට නොදැනෙන්න එතැනින් තිව්වා. ඔහු හවස ඇවිත් නාල කියල මේ බෝතලයත් අරගෙන කුස්සියට ගිහින් බොන ගමන් තමන්ගෙ බිරිඳගෙන් අහනවලු, මේ ගෑනියේ හපන්න මුකුත් නැද්ද කියල. බිරිඳත් මොකද කළේ, ඒ වෙලාවෙ බැද බැද හිටපු හාල්මැස්සො ටිකක් දුන්නලු. මොකද එතකොට මනුස්සය වැඩිපුර බොන බව දන්න නිසා, බෙහෙත් ශරීරයට යන්න නම් අද වැඩිපුර බොන්න ඕන කියල හිතලයි එහෙම කරල තියෙන්නෙ.

# පෙළ දහමේ සැඟවුණු තැන් සොයා...

17 වන කොටස



**මජ්ජිම නිකාය - 1**



➜

ටික වෙලාවක් යනකොට මේ මනුස්සය කැගහනවලු, මේ ගැනියේ මෙහෙ වරෙං මට මොකක්ද වෙන්න යනව කියල. ගිහින් බලනකොට මේ මනුස්සය බිම බදාගෙන ඉන්නවලු. ඒ ගමන කීප දෙනෙක්ම එකතු වෙලා කෙලින් කළාලු. ඒත් එක්කම ඔක් ගාල වමනෙ ගියාලු. ඔළුවෙ ඉඳන් කකුල් පතුලටම යනකල් මුළු ඇඟම දහදියෙන් තෙමිල. ඒ ගමන මේ මනුස්සය කියනවලු, අපරාදෙ බීපු කසිප්පු ටිකත් වමනෙ ගියා ඕං ඕකත් දියං කියල. එහෙම කියල අර බෝතලේ ඉතිරි වෙලා තිබ්බ්ච කසිප්පු ටිකත් කටේ තියාගෙනම බිව්වලු. ඊට පස්සෙ උඹල පලයං කියල අනෙක් අය එළවගත්තම ඒ අයත් මේ මිනිහව අතහැරල අයින් වුනාලු. ඒත් එක්කම මේ මනුස්සය නැවත වතාවක් වැටුනලු. නැවතත් කෙලින් කරනකොටම වමනෙ යන්න පටන් ගත්තලු. නතර වෙන්නෙම නැතුව හත් අට වතාවක්ම වමනෙ ගිහින් කොහොම හරි අන්තිමට මලමුත්‍රත් පහවෙලා තමයි වමනෙ නතර වෙලා තියෙන්නෙ. එදා පටන් මැරෙනකල්ම මේ මනුස්සය මත් වතුර කටේවත් තිව්වෙ නැතිලු. ඒ විතරක් නෙවෙයි, බොන තැනක ඉන්නවත් ගියේ නැතිලු. කවුරු හරි බීල මේ මනුස්සය ඉස්සරහ කතා කළොත් ඒ ගඳ පවා ඔහුට දරාගන්න බැරි වුනාලු.

සටහන

**නීතිඥ චන්දන සිරිවර්ධන**

රෙද්දකට වර්ණ කවන විට පිරිසිදුව පෙනෙන්නා සේ පවිත්‍ර සිත සුගතිය ලබන අයුරුත් පෙන්වයි. බුදුන්, දහම්, සඟුන් සිහි කර පිරිසිදු වෙන අයුරු සහ සමථ විදර්ශනා ඵල ලබන අයුරුත්, කළු ඇට බැහැර කළ ඇල් සහල් බත් සහ නොයෙක් සූපව්‍යංජනවළඳන්නේනමුත් එබඳු අයට මාර්ග ඵල ලැබීමට බාධාවක් නොවන බවත් පෙන්වයි. මෛත්‍රී සිත දස දිසාවට පතුරමින් අරිහත්වයද ලබන එතුමා නියම ස්නානය කරන බවත්, බාහුකා නදිය හෝ ගයා තීර්ථය ආදියේ නෑම කුමන පාරිසුද්ධියක් කරන්නේ දැයි සුන්දරික භාරද්වාජ බමුණාට කළ විස්තරයද ඇතුලත්ය.

__සල්ලේඛ සූත්‍රය - 93 පිටුව__

මහා චුන්ද ස්ථවිරයන් ආත්මවාද දෘෂ්ටීන් දුරු කරන අයුරු බුදුන් වහන්සේගෙන් විමසූ විට, පංචස්කන්ධය යන යමක් වේද එය මමෙක් හෝ මගේය හෝ ආත්මයක් හෝ නොවන බව සම්‍යක් ප්‍රඥාවෙන් දුටු විට ඒ හැම දුරු වන බවත්, ප්‍රථම ධ්‍යානාදිය ඉහාත්ම සුඛ විහරණය දෙන බවත්, පාප කර්ම සලා හැරීම සල්ලේඛය බවත්, එය නිවන් මග බවත් පෙන්වා ඇත.

__සම්මා දිට්ඨි සූත්‍රය - 111 පිටුව__

සැරියුත් මහ රහතන් වහන්සේ විසින් භික්ෂුව සම්මා දිට්ඨි වන අයුරු පෙන්වා ඇත. එනම් අකුසලය, ආහාර (සතර ආහාර), දුක, ජරා මරණ, ජාති... සංඛාර, අවිද්‍යාව, ආස්‍රව යන මේවායෙන් එකක් පිළිබඳව හට ගැනීම - ඊට හේතුව - නිරෝධය - නිරෝධ මාර්ගය දනී නම් සම්මා දිට්ඨි වන අයුරු පෙන්වා ඇත.

__මහා සීහ නාද සූත්‍රය - 165 පිටුව__

සුනක්ඛත්ත නම් ලිච්ඡවී පුත්‍රයා බුදු සසුනින්බැහැරවගොස්විසාලාමහනුවර පිරිස් මැද, බුදුන් වහන්සේට මනුස්ස ධර්මය ඉක්ම වූ විශේෂ ගුණයක් නැතැයි පෙන්වූ කරුණක් මුල් කරගෙන බුදු පියාණන් වහන්සේ කළ දේශනාව මෙහි ඇතුලත්ය. බුදු පියාණන් වහන්සේගේ දස බලය පිළිබඳවද විස්තර ඇත.

__මහා දුක්ඛක්ඛන්ධ සූත්‍රය - 201 පිටුව__

අන්‍ය පරිබ්‍රාජකයන් කාම, රූප, වේදනා, ප්‍රහානය පනවන බවත්, බුදුන් වහන්සේද එසේ පනවන බවත්, මේ අතර වෙනස කුමක්දැයි අන්‍ය පරිබ්‍රාජකයන් භික්ෂූන් වහන්සේලාගෙන් ඇසූවිට කළ දේශනාව මෙහි ඇතුලත්ය. කාම, රූප, වේදනාවල ආස්වාද, ආදීනව, නිස්සරණ කුමක්දැයි අන්‍ය පරිබ්‍රාජකයන්ගෙන් ඇසිය යුතු බවත්, එය ඔවුන්ට විසඳා පහදා දිය නොහැකි බවත්, වෙහෙසට පත් වන බවත්, එය තථාගතයන් වහන්සේට හෝ තථාගත ශ්‍රාවකයෙකුට පමණක් ගෝචර වන බවත්, අන් කවරෙකුට හෝ එය කළ නොහැකි බවත් පෙන්වා ඇත. (මේ අනුව වර්තමානය වනවිට ලෝකෝත්තර වූ දහම ලෞකික අර්ථවලට යටපත්ව ගොස් ඇති බවත්, එහෙයින් සැඟවුනු දහමක් ඇති බවත් පැහැදිලි වේ.)

__චූළ දුක්ඛක්ඛන්ධ සූත්‍රය - 215 පිටුව__

මහානාම ශාක්‍ය කුමාරයා ලෝභ, ද්වේශ, මෝහ ගැන බුදු පියාණන් වහන්සේගෙන් අසා දැන සිටියත්, ඒවා තමන්ට යම් යම් විට නැගෙන අයුරු බුදු රජුන්ට කී විට කළ දේශනාව මෙහි ඇතුලත්ය.

__අනුමාන සූත්‍රය - 229 පිටුව__

මුගලන් මහ රහතන් වහන්සේ **භික්ෂූන්ට දුර්වචභාවය පහල කරන ධර්ම 16 ක් ගැන කළ විස්තරයක් මෙහි අඩංගුය. ළාමක ඉච්ඡාවෙන් (පාපයට කැමැත්තෙන්) වසඟයට යෑම, තමන් හුවා දක්වා අනුන් හෙළා දැකීම, ක්‍රෝධ කිරීම, බද්ධ වෛරය, ගැටෙන සුළු වීම, ක්‍රෝධයට හසු වන වචන පිට කිරීම, චෝදනා කරන අයට විරුද්ධව සිටීම, චෝදනා කරන්නාට ගැරහීම, චෝදනා කරන්නාට පෙරළා චෝදනා කිරීම, චෝදනාවක් වෙනත් දෙයකින් වසා දැමීම, ස්වකීය චරිතය සපයා කියන්නට නොහැකි වීම (කෙනෙක් තමන්ට හේතු සහිතව චෝදනා කරන විට තමා අතින් සිදු වූ වරද වරදක් ලෙස පිළිගැනීමට නොහැකි වීම), ගුණමකු වීමෙන් යුගග්‍රාහ (අනුන්ගේ දොස් කියන) වීම, ඊර්ෂ්‍යා කිරීම හා මසුරු බව, කපටි බව, අධික මානය, තමන්ගේ දැඩි දෘෂ්ටියේ එල්බ ගෙන සිටීම. (වර්තමානයේ මේ කාරණා ඇස් පනාපිටම දැකගත හැකි වීම අභාග්‍යයකි.)**

__චේතෝඛීල සූත්‍රය - 253 පිටුව__

බුදුන් වහන්සේ භික්ෂූන්ට චේතෝ ඛීල (සිත් උල්) 5 පිළිබඳවත්, සිතෙහි විනි බන්ධන (නොසිඳුන බැඳීම්) 5 පිළිබඳවත් කළ විස්තර ඇත. බුදුන්, දහම්, සඟුන්, සික්ෂාකෙරෙහිවිචිකිච්ඡාව,සබ්‍රහ්මචාරීන් කෙරෙහි කිපී ගැටෙන සිත් ඇති වීම (සිත් උල් 5). කාමයෙහි, කයෙහි, රූපයෙහි නොපහ කළ රාග, ප්‍රේම, පිපාසා, දැවිලි, තෘෂ්ණා ඇති බව, කුස පුරා වළඳා සැප පහසු ලෙස නිදීම, හිඳීම, දේව අත්බැව් පතා බඹසර පිරීම (නොසිඳුන බැඳීම්).

__වනපත්ථ සූත්‍රය - 265 පිටුව__

වන සෙනසුනකින් බැහැර යා යුතු සහ බැහැර නොයා යුතු කරුණු පෙන්වා ඇත. **සිවුපසය දුකින් හෝ නිදුකින් හෝ ලැබුනත් මාර්ගය වැඩේ නම් වන සෙනසුනේ සිටිය යුතු බවත්, මාර්ගය නොවැඩේ නම් ඉන් බැහැර යා යුතු බවත්,** එලෙසම ගමක්, නියම් ගමක්, නගරයක්, ජනපදයක් හෝ පුද්ගල ඇසුරක් නිසා සිවුපසය දුකින් හෝ නිදුකින් හෝ ලැබුනත් මාර්ගය වැඩේ නම් ඒවායේ සිටිය යුතු / ඇසුරු කළ යුතු බවත්, නොවැඩේ නම් බැහැරව යා යුතු බවත් පෙන්වා ඇත. (මෙය වර්තමානයේ මග වඩන භික්ෂූන් වහන්සේලාටද ඉතා වටිනා දහම් උපදේසයකි.)

__මධු පිණ්ඩික සූත්‍රය - 273 පිටුව__

බුදුන් වහන්සේ දණ්ඩ පානි සාක්‍යයා ඇසූ පැනයකට (උන්වහන්සේ කෙබඳු දෘෂ්ටි ඇත්දැයි විචාල) පිළිතුරු දෙමින් පැනය විසඳූ අයුරු ඇත. උන්වහන්සේ වෙත කෙළෙස් කහට නොතැවරෙන අයුරු උද්දේස ලෙස පෙන්වූ විට මහා කච්චායන හිමියන් විග්‍රහ කර දුන් දේශනාව ඇත.

__ද්වේධා විතක්ක සූත්‍රය - 289 පිටුව__

බුදුන් වහන්සේ බුදුවන්න පෙර විතර්කයෝ කොටස් 2 කට බෙදා කාම, ව්‍යාපාද, විහිංසා විතර්ක එක් කොටසක් ලෙස ගෙන දැන දුරු කිරීමත්, අව්‍යාපාද, අවිහිංසා, නෙක්ඛම්ම විතර්ක අනෙක් කොටස ලෙස ගෙන සිහි කළ අයුරුත් පිළිබඳව කළ දේශනයකි.

__විතක්ක සණ්ඨාන සූත්‍රය - 301 පිටුව__

ලෝභ, ද්වේශ, මෝහ විතර්ක එන විට අලෝභ, අද්වේශ, අමෝහ අරමුණු මෙනෙහි කරමින් හික්ම වන ආකාරය විස්තර කර ඇත. මෙහි **දතට දත තද කර දිවෙන් තළු පෙළා කුසල් සිතෙන් අකුසල් සිත තවන ආකාරයක්ද** පෙන්වා ඇත.

__කකචූපම සූත්‍රය - 309 පිටුව__

මෝලිය එග්ගුන භික්ෂුව මෙහෙණිවරුන් සමග මුසුව වෙසෙන බව බුදු රජුන්ට භික්ෂූන් විසින් දැන් වූ විට ගෙන්වා කළ අවවාදයක් මෙහි සඳහන් වේ. සැවැත් නුවර වේදේහිකා නම් සිටු දුවගේ කාලි දාසිය තම ස්වාමි දුවගේ යටපත්ව තිබූ ද්වේශය මතු කර පෙන්වූ ක්‍රමයද මෙහි ඇත.

එනම්, සිටු දුවට සේවිකාව විසින් සියලු අවශ්‍යතා සපුරත්දී ඇයට ද්වේශය ඇති නොවුන හැටිත්, ක්‍රමයෙන් අතපසු කිරීම් කරන විට ද්වේශය මතු වී ආ හැටිත් පෙන්වයි. එසේම **සිවුපසය ලැබෙන විට, කිසිවෙකුත් තමන්ට නොබනින විට, ද්වේශය ඇති නොවන භික්ෂුවකට, ඒවා ප්‍රතිවිරුද්ධව සිටින විට ද්වේශය නැගේ නම් ඉන් ඵලක් නැත.** පෙර උදාහරණය මෙනි. (මෙයද වර්තමාන සමාජයේ ඇස් පනාපිටම දැකිය හැක්කකි.)

<u>අලගද්දූපම සූත්‍රය - 325 පිටුව</u>

ගද්ධබාධි - පුබ්බ අරිට්ඨ භික්ෂුවට නැගුන දෘෂ්ටියක් නම්, බුදුන් වහන්සේ යම් ධර්මයක් ස්වර්ග මෝක්ෂය දෙකට අන්තරා යැයි පැවසුවත් ඒ ධර්ම සේවනය කළහුට අන්තරාය නොවේය යන්නයි. මේ අදහසට නිග්‍රහ කර බුදුන් වහන්සේ කළ දේශනාව මෙහි අඩංගුය. **වරදවා අර්ථ ගෙන වාදයට කරුණු ගොඩ නගන ලෙස බුදු දහම ගැනීම සර්පයෙකුගේ නටුවෙන් හෝ කඳෙන් ගැනීම මෙනැයි කළ විස්තරය ඇත.**

අතීත, අනාගත, වර්තමාන, අධ්‍යාත්මික, බාහිර ආදී 11 ආකාර පංචස්කන්ධය මමය, මගේය, මගේ ආත්මය යයි ගැනීමෙන් වෙන්වීමේ ක්‍රමයද පෙන්වා ඇත. **රහතන් වහන්සේටද තථාගත කියන බව** මෙහි අවසානයේ පෙන්වයි.

<u>වම්මික සූත්‍රය - 355 පිටුව</u>

කුමාර කාශ්‍යප හිමියන්ට එක්තරා දෙවියෙක් කියූ තේරවිල්ලක් මෙහි ඇත. **(බුදු සව්වන් සමග දෙවියන් කතා කරන බවට නිදසුනකි.) රාත්‍රී දුම් දමන (දවල් කළ යුතු කර්මාන්ත අරභයා රෑ කල්පනා කිරීම), දවල්ට දිලිසෙන (එසේ කල්පනා කිරීමෙන් දවල් කාලයේ තුන් දොරින් කටයුතු කිරීම) තුඹසක් (ශරීරය)** මුල් කර එය හාරන්නැයි කියා, හාරන විට **මැඩියෙක් (ක්‍රෝධය), දෙමං සන්ධියක් (විචිකිච්ඡාව), පෙරහනක් (පංච නීවරණ), ඉදිබුවෙක් (පංච උපාදානස්කන්ධය)...** ආදී වශයෙන් දුටු විග්‍රහයක් හා එය බුදුන් වහන්සේ තෝරා කළ දහම් දෙසුමක් මෙහි අඩංගුය. **(වර්තමානයේ නිවන් දකින්න දහම් දෙසන විට ඊට ධර්මය විකෘති කරනවා යැයි කෑ ගසන උදවියට දහමේ එන මෙවැනි උදාහරණ, උපමා, අධි වචන, තේරවිලි නොපෙනීම විමතියට කරුණකි.)**

<u>රථ විනීත සූත්‍රය - 363 පිටුව</u>

අල්පේච්ඡ, සන්තුට්ඨි, විවේක, අසංසර්ග... ආදී යහපත් මග අනුගමනය කරමින් අන් භික්ෂූන්ටද එමග දෙසන මන්තානිපුත්ත පුන්න හිමියන් ගැන ප්‍රසංසා කතාවක් බුදුන් වහන්සේගෙන් ඇසූ සැරියුත් හිමියන් පුණ්ණ හිමියන් මුණ ගැසී කළ සාකච්ඡාවක් මෙහි අඩංගුය. සප්ත විසුද්ධි මගින් නිවන් දකින ක්‍රමය ගැන කළ දේශනාවක්ද මෙහි ඇත. කොසොල් රජු කරත්ත 7 කින් සැවැත් නුවරින් සාකේත නුවරට එකින් එක මාරු කරමින් ආ අයුරු උපමාවද මෙහි ඇත.

සැරියුත් හිමියන් පුණ්ණ හිමියන් මුණ ගැසී, බුද්ධ සාසනයේ බඹසර වසන සේක් දැයි අසා ඒ සීල විසුද්ධිය පිණිසද, චිත්ත විසුද්ධිය, දිට්ඨි විසුද්ධිය, කංඛා විතරණ විසුද්ධිය, මග්ගාමග්ග ඥාන දස්සන විසුද්ධිය, පටිපදා ඥාන දස්සන විසුද්ධිය, ඥාන දස්සන විසුද්ධිය පිණිස දැයි වෙන වෙනම ඇසූ විට, ඒ සියල්ලටම පුණ්ණ හිමියන් නැත යැයි පිළිතුරු දුනි. එසේ නම් කුමක් සඳහා බඹසර වසන සේක් දැයි ඇසූ විට, අනුපාදිසේස පරිනිර්වාණය පිණිස බඹසර වසන බව පැවසීය. නැවතත් සැරියුත් හිමියන් පිළිවෙලින් සප්ත විසුද්ධියේ සියලු අංග අනුපාදිසේස පරිනිර්වාණය දැයි ඇසූ විට නැතැයි පැවසීය. නැවතත් ඒ සියල්ල හැර (ඉහත හතම හැර), අනුපාදිසේස පරිනිර්වාණය වේ දැයි ඇසූ විට එයටද නැතැයි කීය.

එසේ නම් මෙහි අර්ථය කුමක්දැයි ඇසූ විට" කොසොල් රජු කරත්ත 7 කින් සැවැත් නුවරින් සාකේත නුවරට එකින් එක මාරු කරමින් ආ අයුරු උපමාවකින් පෙන්වා එහි අර්ථය පැහැදිලි කළ අයුරු පෙන්වා ඇත. කොසොල් රජුට සැවැත් නුවර සිට සාකේත නුවරට ඉක්මනින් යන්න අවශ්‍ය වූ විට අසුන් යෙදූ රිය හතක් යන අතර මැද සකස් කර තබන්නේය. පළමු රථයෙන් සැවත් නුවරින් නික්ම දෙවන රථයට නගියි. එලෙස අවසන් රථයෙන් සාකේත නුවරට පැමිණෙයි. එවිට අන් අය, කෙසේ පැමිණියා දැයි අසන විට" එක රථයකින් නොව රථ හතක් යොදාගෙන ඉක්මනින් ආ හැටි පවසයි. එලෙසම සප්ත විසුද්ධියේ සියල්ල එකින් එක ගත් කල අනුපාදිසේස පරිනිර්වාණය නොවන බවත් නමුත් ඒ සියල්ලෙන් තොරව අනුපාදිසේස පරිනිර්වාණය පැනවිය නොහැකි බවත් පැහැදිලි කරයි.

<u>නිවාප සූත්‍රය - 375 පිටුව</u>

තණ වගා කර මුවන් දඩයම් කරන මුව වැද්දෙක් සහ එම තණකොළ කන මුව රැලක් උපමා කර කළ දේශනාවක් තුලින් **පංච කාමයට ගිජු නොවී ලබන භුක්තියෙන් දිවි ගෙවමින් නිවන් දකින මගක්** දේශනා කර ඇත.

<u>මහා හත්ථිපදෝපම සූත්‍රය - 449 පිටුව</u>

සැරියුත් හිමියන් ඇත් අඩි උපමා කර සියලු සතුන්ගේ අඩි ඇත් අඩියෙහි අඩංගු වන්නා සේ සියලු කුසල ධර්මයන් චතුරාර්ය සත්‍යය තුල සංග්‍රහ වී ඇති අයුරු දේශනා කර ඇත.

<u>මහා සාරෝපම සූත්‍රය - 463 පිටුව</u>

සසර දුක දැක නිවන් ලබන්න හිතා පැවිදිව ලාභ, කීර්ති, ප්‍රසංසාවලට යම් යම් අවස්ථාවලදී යොමු වන අයුරුද, හරය යැයි කියා කොළ, අතු, පොතු, එලය ගෙන ගියා සේ එලයක් නොලබන හැටි සහ කොවුල දැන ප්‍රයෝජනය ගත් සේ නිවන් එලය ලබන හැටිද පෙන්වා ඇත.

<u>චූල සාරෝපම සූත්‍රය - 479 පිටුව</u>

පිංගලකොච්ච බමුණා අජිත කේසකම්බල ආදී ෂඩ් සාස්තෘවරුන්ගේ ධර්මය කෙසේදැයි බුදු රජුන්ගෙන් ඇසූවිට, ඒවා පසෙක තබා මේ ධර්මය මෙනෙහිකරන්නැයි කොවුල ඇතිරුකක් මුල් කර පෙර සේම කළ දේශනාවක් මෙහි අඩංගුය. **(වර්තමානයේද අනුන්ගේ ඇද පළුදු හොයමින් තමන්ගේ නිවන ගැන නොසිතන අයට මෙය කදිම දේශනයකි.)**

<u>මහා ගෝපාලක සූත්‍රය - 527 පිටුව</u>

කරුණු 11 කින් සමන්විත ගොපල්ලා ගව ගාල රකින්න දක්ෂ වෙන හැටිත්, කරුණු 11 කින් යුක්ත වූ භික්ෂුව සාසන දියුණුව ලබන හැටිත් මෙහි අඩංගුය.

<u>චූල ගෝපාලක සූත්‍රය - 537 පිටුව</u>

මෝඩ ගොපල්ලා නුසුදුසු තොටින් මෙගොඩ සිට එගොඩට ගවයන් එතෙර කරන්න ගොස් ගව ගාල වැනසුන හැටිත්, එසේම ස්කන්ධ, ධාතු, ආයතන පිළිබඳ කුසලතාවය නැති භික්ෂුව ධර්මයෙහි අදක්ෂ වූවන්ගේ බස් අසා බොහෝ දුකට පාත්‍ර වන අයුරුත්, දක්ෂ ගොපල්ලා සුදුසු තොටින් ගවයන් එතෙර කළා සේ ප්‍රඥාවන්ත භික්ෂුව දක්ෂ සුමග භික්ෂුවගේ වචන අසා යහපත නිවන ලබන අයුරුත් මෙහි දැක් වේ.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් දින පොතක සටහන් තබන ලද කරුණු ඇසුරිනි.*

සටහන
**නීතිඥ චන්දන සිරිවර්ධන**


අසමෝදගම්


මඩු දළු


වැරනිය


වෙනිවැල්ල

# වස විස ආහාරවලට එරෙහි විකල්ප 12

දුර්ලභව ලැබූ මනුස්ස අත්භවය වස විස ආදී ප්‍රයෝග විපත්ති නිසා විනාස වෙන්න ඉඩ නොදී ආරක්‍ෂා කර ගැනීමේ අරමුණෙන්, වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් ද්‍රව්‍ය පදාර්ථ ඥානයෙන් සහ බෙහෙත් සමාධියෙන් මතු කර දුන් කරුණු කාරණාත් ඇසුරු කරගෙන, වස විස ආහාරවලට එරෙහිව භාවිතා කරන්න පුළුවන් තවත් වටිනා දේශීය ආහාර වර්ග කිහිපයක් පින්වත් ඔබගේ ප්‍රයෝජනය පිණිස මේ විදිහට සටහන් කරනවා.

**අසමෝදගම්** – හොඳින් තෙතමනය සහිත ස්ථානවල කුඩා පඳුරු ආකාරයෙනුත්, හිරු එළිය අවශ්‍ය ප්‍රමාණයට ලැබුනොත් විසාල පඳුරු ආකාරයටත් හැදෙන පැළෑටියක්. අද වෙනකොට වාණිජමය වටිනාකමින් යුක්ත භෝගයක් විදිහට වගා කරන නිසා වෙළඳසැල්වලින් පහසුවෙන් මිලදී ගන්න පුළුවන්. ඉතා ගුණදායක රසවත් ව්‍යංජනයක් වුනත් මඳ අම් රසයකින් යුක්ත නිසා සමහරු අප්‍රිය කරනවා. නමුත් අද වෙනකොට බහුලව තියෙන අම්ල පිත්ත ප්‍රදාහය මුල් කරගෙන හට ගන්නා අතුරු ආබාධ වන බඩ පිපුම, හුස්ම ගැනීමේ අපහසුතාවය, බඩ දැවිල්ල, ආහාර අපත්‍ය වුනාම හට ගන්නා අජීර්ණ රෝග සුව කිරීමේ මහා ගුණයෙන් යුක්තයි. ආමාශයේ සහ මහ බඩවැලේ කාරම් බැඳුනට පස්සෙ ආහාර ජීර්ණ පද්ධතියේ යම් යම් සංකූලතා ඇතිවෙනවා. ඒවා මග හරවල යථා තත්ත්වයට පත් කිරීමේ ගුණයෙන් යුක්තයි. දිරවීමට අපහසු බර ආහාර දිරවීමේ ගුණයෙන් යුක්තයි. ඒ වගේම කැස්ස, ඇදුම, හතිය... ආදී රෝග තත්ත්වයන් මැඩ පැවැත්වීමේ ගුණයෙන් යුක්තයි. ක්‍ෂණිකවම ස්නායු පද්ධතිය සක්‍රිය කිරීමේ ගුණය නිසා ඒ මගින් ශරීරයේ සංකූලතා තියෙන තැන් කරා ක්‍ෂණිකවම ගමන් කරල ඒ ඒ තැන්වල වේදනා සමනය කරනවා. ඒ වගේම **අධික ඉරුවාරදය, අධික හිසේ කැක්කුම ඇති අවස්ථාවල අසමෝදගම් ගහ සහමුලින්ම කොටාගෙන එන ඉස්ම (වතුර නොදා) රෙදි කැබැල්ලක පොඟවල නළලෙ තැබීමෙන් ඒ තත්ත්වය වහා සමනය වෙනවා.** ස්වසන පද්ධතියේ පටක ප්‍රසාරණය කරල ඒ තුල රැඳිල තියෙන දූවිලි ඇතුළු අපද්‍රව්‍ය ඉවත් කරල මනාව ඔක්සිජන් සපයනවා. ඒ මගින් හුස්ම ගැනීම පහසු කරවනවා. අසමෝදගම් ආහාරයට එකතු කර ගැනීමෙන් මස් පිඬු වේදනා, වාත වේදනා ක්‍ෂණිකව සුව වෙනවා. ආහාර ජීර්ණය පහසු කරන නිසා බහිස්‍රාවි පද්ධතියත් සක්‍රිය කරනවා. මලබද්ධය දුරු කරනවා.

සාමාන්‍ය කලවම් මැල්ලුමක් ආකාරයටත්, වඩා රසවත්ව පොල් ටිකක් වැඩිපුර එකතු කරල දෙහි ඇඹුල් සම්බෝලයක් විදිහටත්, ගහ සහමුලින්ම කොටාගෙන තවත් කොළ වර්ග එක්ක සාමාන්‍ය කොළ කැඳක් ආකාරයටත් සකස් කරල ආහාරයට ගන්න පුළුවන්.

**කෝප්ප කොළ** - බඩවැටිවල, වැට මායිම්වල ගෙවතු අලංකාරය සඳහා වවන ශාකයක්. බොහෝ කොටම ස්වභාවිකව වැවෙනවා. අධි රුධිර පීඩනය, කොලෙස්ටරෝල්, නහර අවහිරතා... ආදී රෝගී තත්ත්වයන්ට ඉතා ගුණදායකයි. අනික් ශාක පත්‍ර සමග සසඳනකොට කෝප්ප කොළවල හරිතප්‍රද ඉතා බහුලව අඩංගු වන නිසා ඇස් පෙනීම තීව්‍ර කරන්නත් උපකාරී වෙනවා. සාමාන්‍ය පලා ව්‍යංජනයක්, මැල්ලුමක් විදිහට සකස් කරල ආහාරයට ගන්න පුළුවන්. දළු හීන් වෙන්න ලියාගෙන දෙහි, රතු ළූණු, පොල්... ආදිය මිශ්‍ර කරල ඉතා රසවත් සම්බෝලයක් ආකාරයටත් ගන්න පුළුවන්. ඒ වගේම කොළ කැඳ හදනකොට වෙනත් කොළ වර්ග එක්ක කලවම් කරල ගන්නත් පුළුවන්.

**මඩු** – ගම්මැද්දාවේ බඩවැටි, ඔවිටි ආදියෙත් කැලෑ ඇතුලෙත් ස්වභාවිකවම වැවෙන මීවන කුලයට අයත් ශාකයක්. ඖෂධීය වටිනාකම ඉතා ඉහලයි. මඩු දල්ල, බරුගස්වල දළු වගේ හැකරැල්ලෙක් ආකාරයෙන් ඉහලට නැගිල වක ගැහිල කැරකිලා හිටිනවා. දළු මෝරනකොට දිග හැරිල පළල් වෙලා පොල් අත්තක් ආකාරයෙන් පිහිටනවා. මඩු ගස්වල අවුරුද්දෙ එක කාලයකදි ගෙඩි හට ගන්නවා. පොල් වලු ආකාරයෙන් කොළපුවක් සහිතව එන මල් පරාගනය වෙලා කොහොල්ල ලාවුළු ගෙඩි තරමේ ගෙඩි හට ගන්නවා.

අද මඩු ගස් යොදා ගන්නෙ බොහෝ කොටම උත්සව අවස්ථාවල සැරසිලි සඳහා විතරයි. ඒ හැර ඖෂධීය ගුණයක් ගැන හුග දෙනෙක් දන්නෙ නෑ. නමුත් මේ මඩු දළු **ලියුකේමියා රෝගයෙදිත්, ඩෙංගු රක්තපාත අවස්ථාවෙදිත් අඩු වෙන රතු රුධිරානු මට්ටම ඉතා ඉක්මනින් ඉහල දැමීමේ කදිම හැකියාවකින් යුක්තයි.** ඊට අමතරව ඇට මිදුළු සහ රුධිර පට්ටිකා වර්ධනයටත් උපකාරි වෙනවා.

**අද බහුලවම තියෙන ආතරයිටිස්, වස විස ශරීරගත වීම නිසා හට ගන්නා ඔස්ටියෝපොරෝසිස්... ආදී රෝගවලට කෘතිම රසායනික බෙහෙත් පෙති ගිලිනවට වඩා, කිසිදු අතුරු ආබාධයක් නැති ඉතා ඉහළ ඖෂධීය ගුණයක් මඩු දළු ආහාරයට එකතු කර ගැනීමෙන් ලැබෙනවා.** මස් මාංශවලින් ශරීරයට එකතු වන ප්‍රෝටීන් ප්‍රමාණයටත් වඩා අධික ප්‍රෝටීන් ප්‍රමාණයක් මඩු දළුවලින් ලැබෙන නිසා නිර්මාංශ අයටත් බොහොම වැදගත්. ඒ වගේම සෙම, කැස්ස, හතිය, ඇදුම, පපුවේ සෙම නරක් වීම, හිසේ සෙම තද වීම කියන රෝගී තත්ත්වයන්ටත් මඩු දළු ඉතා ගුණදායකයි.

තරමක් උෂ්ණාධික වුනත් මඩු ගෙඩිත් ආහාරයටගන්නවා.මඩුගෙඩිකොටාගෙන ජලයේ දිය කරල ඒ දිය පැදෙන්න තියල ඉතිරි වෙන පල්ප වගේ කොටස අව්වේ වේළ ගැනීමෙන් මඩු පිටි හදාගන්න පුළුවන්. ඒවායින් පිට්ටු, රොටි, තලප... ආදිය හදල ආහාරයට ගන්න පුළුවන්. ශරීර ශක්තිය රඳවගෙන තැන්පත් කර තබා ගැනීමේ හැකියාවක් මඩු ගෙඩිවල තියෙන නිසා මඩු පිට්ටු ආහාරයට ගත්තම දිගු වෙලාවක් බඩගිනි දැනෙන්නෙ නෑ. ඒ වගේම මඩු ගෙඩි තම්බල කෑලිවලට කපල සාමාන්‍ය ව්‍යංජනයක් ආකාරයටත්, හීන් වෙන්න ලියාගෙන පිරිසිදු පොල් තෙල් ටිකක් දාල තෙම්පරාදුවක් ආකාරයටත් සකස් කරල ආහාරයට ගන්න පුළුවන්.

ඒ වගේම ආහාර ජීර්ණයට අවශ්‍ය එන්සයිම නිසි ආකාරයට ජීර්ණ පද්ධතිය කරා එන්නෙ නැත්නම්, ඒ පද්ධතිවල කාරම් බැඳිල අකර්මණ්‍ය වෙලා තියෙනව නම්, ඒවා යථා තත්ත්වයට පත් කිරීමේ හැකියාවකුත් මඩු ගෙඩිවල තියෙනවා. ඊට අමතරව මාංශ පේශීන්ගේ ලිහිල් භාවය මග හරවල ඒවායේ බැඳීම් ශක්තිමත් කරන විශේෂ ගුණයකුත් මඩු ගෙඩිවල තියෙන නිසා ඒවා ආහාරයට එකතු කර ගැනීම ඉතා වැදගත්. හන්දිපත් වේදනා, වාත වේදනා ආදියටත් දිව ඔසුවක්. මඩු දළු සාමාන්‍ය කැරං කොකු, බරු කොකු ව්‍යංජන සකස් කරන ආකාරයටත්, මඩු පිටි කැඳක් ආකාරයටත් සකස් කරල ආහාරයට ගන්න පුළුවන්.

**සියඹලා දළු** - අද ස්වභාවික ආහාර රස කාරකයක් විදිහට විතරක් සියඹලා බොර භාවිතා කළත් සියඹලා දළුත් ඉතා වටිනා ඖෂධයක්. හෙළ වෙදකමේදී සියඹලා යොදා ගන්නෙ ශරීරයට අපත්‍ය වූ යමක් ශරීරයේ බැඳිල තියේ නම් ඒවා දිය කරල හෝ බුරුල් කරල ශරීරයෙන් බැහැර කරවන්න. විනරාජ කසායට සියඹලා කොළවල නැටි යොදා ගන්නෙත් ඒ නිසා. මාළු ව්‍යංජනයක් හදනකොට සියඹලා දාන්නෙ නැතිව ගොරක විතරක් දාන්නෙත් සියඹලා දැම්මම මාළුවල තද ගතිය ලිහිල් වෙන නිසා. ගොරකවලින් තද ගතිය වැඩි වෙනවා.

ඒ වගේම **අපත්‍ය වෙච්ච ආහාරයක් ශරීරගත වීම නිසා ඇතිවෙන අපහසුතාවයන්ට, ආහාර අරුචියට, බඩපුරවා දමනකොට, හොඳින් සියඹලා එකතු කරල තැම්බුම් හොද්දක් හදල අදත් ගමේ ගොඩේ අත් බේතක් විදිහට යොදා ගන්නවා.** එතනදි සිද්ධ වෙන්නෙත් ආමාශයේ හෝ බඩවැල් තුළ රැඳිල බැඳිල තියෙන අපද්‍රව්‍ය වහා ශරීරයෙන් බැහැර කිරීම.

සියඹලා දළු ආහාරයට එකතු කර ගැනීමෙන් ඉහත කී සියලු දේට අමතරව ආහාර රුචිය වැඩි කරනවා, ආහාර ජීර්ණ පද්ධතියේ දෝස තියේ නම් ඒවා යථා තත්ත්වයට පත් කරල ක්‍රමවත් ආහාර ජීර්ණ ක්‍රියාවලියක් ඇති කරනවා. අග්න්‍යාශයේ සහ මහ බඩවැලේ තියෙන කාරම් ගලවල යථා තත්ත්වයට පත් කරන්න උපකාරි වෙනවා. දියවැඩියාව සමනය කරනවා. විටමින් සී බහුල නිසා විටමින් සී ඌණතාවයෙන් ඇතිවෙන රෝගී තත්ත්වයන් සමනය කරනවා. සියඹලා දළු ආහාරයට ගන්නකොට මළඅපද්‍රව්‍ය ඝන බවට පත් වෙන්නෙ නැති නිසා මළබද්ධය දුරු කරනවා. අර්ශස් රෝගීන්ටත් ඉතා ගුණදායකයි.

සියඹලා දළු, නැටි ඉවත් කරල සාමාන්‍ය පලාව්‍යංජනයක්සකස්කරනආකාරයටත්, නැත්නම් පලා සම්බෝලයක් ආකාරයටත්, දළු සහමුලින්ම කැඳක් ආකාරයටත් සකස් කරල ආහාරයට ගන්න පුළුවන්.

**පේර දළු** - සාමාන්‍යයෙන් පේර ගෙඩි විතරක් පළතුරක් විදිහට ආහාරයට ගත්තත් පේර දළුත් ඉතා රසවත් ඖෂධීය ගුණයෙන් යුක්ත ආහාරයක්. නමුත් ඒ ගැන හුඟ දෙනෙක් දන්නෙ නෑ. පේරවල ශරීරයේ අපද්‍රව්‍ය පෙරල ඉවත් කිරීමේ විශේෂ හැකියාවක් තියෙනවා. පද නිරුක්තිය අනුව ගත්තමත් පේර කියන පදයේ ඒ අදහස ගැබ් වෙලා තියෙනවා. අළුහම් තියෙන අය දින 7 ක් පමණ පේර කොළ කොටල නෑමට පෙර ඒ ස්ථානවල හොඳින් අතුල්ලල නෑමෙන් ඒ තත්ත්වය සුව වෙනවා. හැබැයි ඒ දවස්වල සබන් නොගැල්විය යුතුයි. කඩුවේගන්, දද, කුෂ්ට රෝග සුව කිරීමේ විශේෂ ගුණයෙන් යුක්තයි. රුධිර නාල පිරිසිදු කරල, ඒවායේ රැඳිල බැඳිල තියෙන අපද්‍රව්‍ය ඉවත් කිරීම, බහිස්‍රාවී පද්ධතිය සක්‍රිය කිරීමට දායක වීම, රුධිර නාල තුල ලේ කැටි හට ගැනීම වැළැක්වීම, හදවත නිසි පරිදි ක්‍රියා කරවීමට උපකාරී වීම, රුධිර පීඩනය සමතුලිතව පවත්වාගෙන යාමට උපකාරී වීම, තුන් දොස් සමනය කිරීම... ආදී වටිනා ගුණ රාශියක් පේර දළුවල අන්තර්ගතයි. දෙහි, එළුණු, පොල් ආදිය එකතු කරල පලා සම්බෝලයක් විදිහටත්, තනිකරම කැඳක් ආකාරයටත් ආහාරයට ගන්න පුළුවන්. හැබැයි මේ කියන්නෙ අද නොයෙක් වස විස ගහල කෘතිමව හදන කිලෝ පේර ගැන නෙවෙයි, ස්වභාවිකව වැවෙන හැදෙන පේර ගැන.

**වැරනියා** - ඕවිටි, බඩවැටි, ලඳු කැලෑ, දෙපා වේළි අසබඩ ආදී බොහෝ තැන්වල ස්වභාවිකවම වැවෙන පඳුරු වශයෙන් හට ගන්නා ශාක විශේෂයක්. අඩි 6 – 7 ක් විතර උසට වැඩෙනවා. මේවා ගම්බදව බොහෝ විට යොදා ගන්නෙ බුලත් කොවුල් සඳහා. ඒ කියන්නෙ බුලත් වැලට ආධාරකයක් විදිහට. වැරනියා ශාකය පොළව සරු කරනව මිසක් පොළවෙන් සාරය උරාගන්නෙ නැති නිසා බුලත් වැලට හානියක් වෙන්නෙ නෑ. ඕනෑම කාෂ්ට පොළවක ඉතා හොඳින් වැවෙන නිසා පොහොර කියල අමුතුවෙන් ඕනත් නෑ. ජලය සහ හිරු එළිය හොඳින් තියෙනව නම් ඉතා හොඳින් වැඩෙනවා.

හෙළ වෙදකමේදී කෘෂ භාවය දුරු කරන්න යොදා ගන්නවා. **කලින් හොඳින් පෘෂ්ටිමත්ව ඉඳල පසුව කෘෂ වෙලා වැහැරෙනකොට වැරනියා ආහාරයට එකතු කර ගැනීමෙන් ඒ තත්ත්වය දුරු වෙලා යනවා.** මාංශ පේශී හොඳින් වර්ධනය කරල රුධිර නාල ප්‍රාණවත් කරනවා. හොඳින් ආහාර ජීර්ණය කරල ශරීරයට අවශෝෂණය කරනවා. ඒ වගේම ආහාර ඔස්සේ යම් යම් අපත්‍ය දේ ශරීරගත වීම වළක්වනවා. මේවා නිරන්තරයෙන් ආහාරයට එකතු කර ගැනීමෙන් ශරීරයේ සියලු පද්ධති සක්‍රිය වෙලා ශරීරයේ වැහැරුනු ස්වභාවය දුරු වෙලා යනවා.

වැරනියා මඳ ඇඹුල් රසයකින් යුක්තයි. ඇඹරැල්ලා දළු සම්බෝලයක්, සාමාන්‍ය පලා ව්‍යංජනයක්, කලවම් මැල්ලුමක් හෝ කලවම් කොළ කැඳක් විදිහටත් ආහාරයට එකතු කර ගන්න පුළුවන්.

**වෙනිවැල්ල** - මඳ හෙවණ සහිත තෙතමනය තියෙන ඕනෑම තැනක නිරන්තරයෙන් ස්වභාවිකව වැවෙන පලා වර්ගයක්. මුකුණුවැන්න ශාකයට ඉතාමත් සමානයි. නමුත් වෙනිවැල්ල



# නිවන් මගේ පැටළුණු තැන්...

## තණ්හා උපාදන ආර්ය මාර්ගයට සම්බන්ධ වන්නේ කෙසේද? 09 කොටස

මේ කාරණය උපමාවකින් කියනව නම්, රෝගය පිටුවහල් කරන්න බෙහෙත ඇද බැඳ ගන්නවා වගෙයි. රාගය නමැති රෝගය නසන්න වීතරාගී දහම් ඖෂධය ඇද බැඳගත යුතුයි. වීතරාගී බෙහෙත පත්‍ය අපත්‍ය දැනගෙන, රෝගයේ තරම දැනගෙන සුදුසු පරිදි ඇද බැඳගත යුතුයි. ද්වේශය නමැති රෝගය නසන්න වීතදෝසී දහම් ඖෂධය ඇද බැඳගත යුතුයි. වීතදෝසී දහම් ඖෂධය පත්‍ය අපත්‍ය දැනගෙන, ද්වේශ රෝගයේ තරම දැනගෙන සුදුසු පරිදි ඇද බැඳගත යුතුයි.

රෝගයක් නසන්න බෙහෙතක් දෙනකොට එකවරම ප්‍රබල බෙහෙතක් දෙන්නෙ නෑ. එහෙම වුනොත් දරාගන්න බැරි වෙලා ජීවිතක්‍ෂයට පත්වෙන්නත් පුළුවන්. මත්කුඩුවලට ඇබ්බැහි වෙච්ච කෙනෙක් පුනරුත්ථාපනය කරනකොට එකවරම හිර කරල තියන්නෙ නෑ. ඉස්සෙල්ලම ඊට වඩා අඩු මත් පෙත්තක් දෙනවා. ඒකට හුරු වුනාම තවදුරටත් මත අඩු පෙත්තක් දෙනවා. මේ විදිහට ක්‍රමයෙන් ප්‍රකෘතියට ගන්නවා.

කොළ ළා කොළ පාටයි. මේවායේ නිල් වෙනිවැල්ල සහ රතු වෙනිවැල්ල කියල වර්ග 2 ක් තියෙනවා. ඒ දෙවර්ගයම ආහාරයට ගන්නවා. නිල් වෙනිවැල්ල දණ්ඩ නිල් පාටයි, පත්‍ර කොළ පාටයි. රතු වෙනිවැල්ල දණ්ඩ රතට හුරු දුඹුරු පාටයි. මේ දෙවර්ගයේම පත්‍ර හට ගන්නා පුරුක් මුලින් කුඩා නැට්ටක් සහිත සුදු පාට මලක් හට ගන්නවා.

මේවා හෙළ වෙදකමේදී ස්නායු ආශ්‍රිත රෝගවලට යොදා ගන්නවා. ස්නායු සක්‍රිය කිරීමේ ගුණයෙන් යුක්තයි. පෙනීමේ දුර්වලතා ඇතුළු ඇස් ආශ්‍රිත රෝග සහ හිස ආශ්‍රිත රෝග මග හරවා ගන්නත් ඉතා ගුණදායකයි. ශරීරය සිසිල් කිරීමේ ගුණයෙන් යුක්තයි. රක්ත උෂ්ණ ආදියත් දුරු කරනවා. බහිස්‍රාවී පද්ධතිය සක්‍රිය කරනවා. අර්ශස් ඇතුළු මළබද්ධය ආශ්‍රිත රෝගවලටත් ගුණදායකයි. මුකුණුවැන්න පිළියෙල කර ගන්නා සියලු ආකාරවලට සකස් කරල ආහාරයට ගන්න පුළුවන්.

**මිංචි කොළ** - හොඳින් හෙවණ, තෙතමනය තියෙන, තද අව්ව නැති තැන්වල බහුලව වැවෙනවා. අද වෙනකොට වෙළඳපොලෙන් බොහෝ කොටම මිලදී ගන්න පුළුවන්. මිංචි කොළ අද ආහාරයට ගන්නෙ ආහාර රසවත් කරන රසකාරකයක් විදිහට. නමුත් ඖෂධීය වටිනාකම ඉතා ඉහලයි. උදරය ආශ්‍රිත රෝග සඳහා ඉතා ගුණදායකයි. ආහාර ජීර්ණය පහසු කිරීම, තෙල් මිරිස් සහිත ආහාර ඉතා හොඳින් ජීර්ණය කිරීමට උපකාරි වීම, අජීර්ණ දෝස මග හැරවීම, ශරීරයට අපත්‍ය දෑ ශරීරයෙන් බැහැර කිරීමට උපකාරි වීම, උදරය තුල වායුව එක් රැස් වීම වැළැක්වීම, ආම වාතය දුරු කිරීම, මස්පිඬු පෙරලීම සහ මාංශ පේශි අතර වාත වේදනා දුරු කිරීම, ආමාශයික යුෂ හොඳින් ගලා ඒමට සලස්වා ආහාර පහසුවෙන් ජීර්ණයට ලක් කිරීමට උපකාරි වීම, මළබද්ධය දුරු කිරීම කියන මේ ආකාර ඖෂධීය ගුණාංග රැසකින් යුක්තයි.

පලා සම්බෝලයක්, සාමාන්‍ය කලවම් මැල්ලුමක් ආකාරයටත්, ආහාර රස ගන්වන ඖෂධීය රසකාරකයක් විදිහටත් ආහාරයට එකතු කර ගන්න පුළුවන්.

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

බුදු රජාණන් වහන්සේත්, කෙනෙක් මහණකම ඉල්ලපු පළියට එකවරම මහණ කරගෙන නෑ. අන්‍ය පරිබ්‍රාජකයන් බුදු රජාණන් වහන්සේගෙන් බණ අහල පැහැදිලා මහණකම ඉල්ලා සිටිනකොට මාස හය, වසර, දෙක... ආදී වශයෙන් පරිවාස කාලයක් දීල ක්‍රමයෙන් සුදුසු බවට ගෙනත්, ඉන්පසු ඒ හික්මීම හුරු කරල සාමණේර බවට ගෙනත්, ඒ හික්මීමත් හුරු වුනාට පස්සෙ උපසම්පදා බවට ගෙනත්, මේ විදිහට අනුපූර්ව මගක්ම අනුගමනය කරල තියෙනවා.

එහෙනම් මග වඩනකොට පටිච්ච සමුප්පාද දහම් සහ පටිච්ච සමුප්පාද නිරෝධ දහම් කොයි විදිහට වෙන් කරල හඳුනගන්න ඕනද?

| | **<u>හේතු නිරෝධ ඵල නිරෝධ දහම් (පස්සාස දහම්)</u>** | **<u>හේතු ප්‍රත්‍ය ඵල ප්‍රත්‍ය දහම් (අස්සාස දහම්)</u>** |
|---|---|---|
| 1 | ප්‍රාණඝාත හිංසා නොකිරීමෙන් ද්වේශය නොවේ. | මෙත් හිත වැඩීමෙන් බ්‍රහ්ම විහරණ වැඩේ. |
| 2 | හොර මැර වංචා නොකිරීමෙන් ලෝභය නොවේ. | දෙන දෙයම අරගෙන, දුන් දෙයම බලාපොරොත්තුවෙන් අලෝභය, ත්‍යාගය වැඩේ. |
| 3 | සුරා සූදු දුරාචාර නොකිරීමෙන් මෝහය නොවැඩේ. | අරි අටඟි මග වැඩීමෙන් බ්‍රහ්ම චරියාව වැඩේ. |
| 4 | මුසා භාසිතය නොවීමෙන් මිත්‍යා දෘෂ්ටිය නොවැඩේ. | සත්‍ය භාසිතයෙන් සම්මා දිට්ඨිය වැඩේ. |
| 5 | පිසුනු බස් නොකීමෙන් භේදය නොවැඩේ. | සමගි බස් කීමෙන් සමගිය වැඩේ. |
| 6 | පරුස බස් නොකීමෙන් පරුස බව නොවේ. | ප්‍රිය තෙපුල් කීමෙන් ප්‍රිය බව වැඩේ. |
| 7 | ප්‍රලාප නොකීමෙන් නිස්සාරය නොවේ. | සරු බස් කීමෙන් හරය වැඩේ. |
| 8 | ලෝභ නොකිරීමෙන් ඇල්ම නොවැඩේ. | අලෝභ වීමෙන් ලැබීම වැඩේ. අභිවෘද්ධිය වේ. |
| 9 | වෛර නොකිරීමෙන් දාහ නොවේ. | අවෛරී වීමෙන් මිතුරු බව වේ. (මේ සංඝනිකාය දෝස සහිත මිත්‍රත්වය නොවේ, ආර්ය මිත්‍රත්වයයි.) |
| 10 | මෝහ නොවීමෙන් මුලා නොවේ. | අමෝහ වීමෙන් සත්‍යාවබෝධය වේ. |
| 11 | අධර්ම ශ්‍රවණය නොකිරීමෙන් වික්ෂිප්ත නොවේ. | ධර්ම ශ්‍රවණය කිරීමෙන් සංක්ෂිප්ත වේ. පෙළ ගැසේ. |
| 12 | ප්‍රමාදයෙන් සසර ගමන වේ. | අප්‍රමාදයෙන් සසර සැරීම නොවේ. |
| 13 | කාම සුඛල්ලිකානුයෝගී නොවූවෝ කාම ලොව නූපදී. | වීතරාගී වූවෝ නිවන් දකී. |
| 14 | අන්ත මග නොවූවෝ සසරට හේතු නොලබයි. | අරි අටඟි මග වූවෝ ආර්ය බව ලබයි. |
| | **මේ විදිහට දැනගෙන පස්සාස දහම් පහ කළ යුතුයි.** | **මේ විදිහට දැනගෙන අස්සාස දහම් ඇසුරු කළ යුතුයි.** |

මේ විදිහට පටිච්ච සමුප්පන්නව හේතු යුක්ති සහිතව ඵල ලබන ආකාරයත්, නිවන් දැකල පිරිනිවන් පාන කල් ඒ ඒ ගති ස්වභාව වශයෙන් අපි දකින ජාති නිවනට හේතු කාරක ජාති බවත් දැනගෙන, එක භවයකත් අතරමැදි ජාතිවල පහල වීම්, ප්‍රවෘත්ති ජාති වීම් තේරුම් ගත්තම නිවන් දකින කල් යන ජාති පරම්පරාව තේරුම් ගන්න පුළුවන්කම ලැබෙනවා. මේ ජාති පරපුර අනුසය නසමින් පූර්ණයට යනවා. එක භවයක් තුල යන මේ පටිච්ච සමුප්පාද ජාති පහල වන ආකාරය දන්නෙ නැත්නම් ඔහුට නිවන් මග නොපෙනෙන බව බුදු රජාණන් වහන්සේ දේශනා කරල තියෙනවා. අනුසය හා සම්බන්ධ නැතිව, සංසාර අනුසය නසමින් විරාග නිශ්‍රිතව නිරෝධ නිශ්‍රිතව නිවන් මග යන ජාති පහල වෙනවා.

මේ විදිහට පටිච්ච සමුප්පාද හා නිරෝධ දහම් න්‍යාය හඳුනගෙන කටයුතු කිරීමෙන් ආර්ය මාර්ගයේ වැඩීම සිද්ධ වෙනකොට සංස්කාර ධර්මස්කන්ධවල වටිනාකම අවලංගු කාසි වගේ වැටහෙනවා. අනුසය සිඳගෙන වැඩෙන නිසා ඇසුරු කළත් ඒක ආයාසයෙන් පරෝපකාරයටත්, අනාගත මාර්ග අනුගාමිකයන්ගේ මග වැඩීමට ආදර්ශයක් දීමටත් කරන කටයුතුවලට සීමා වෙනවා. තණ්හා උපාදාන නැති නිසා එහෙම කරන ඇසුරු කිරීම්වලදි ඒ කටයුතුවල ඇලීම් බැඳීම් වෙන්නෙ නෑ. චේතනාව දෙවෙනි වෙලා ප්‍රඥා චෛතසිකය මුල් වෙලා කටයුතු කරනවා.

මේ විදිහට මාර්ගය වඩන්න පටන් ගත්තම පංච මාර උපද්‍රව ඒ ඒ අවස්ථාවල නැගෙන්න පුළුවන්. **සාසන මාර්ගයෙන් ගිලිහීම මේ සාසනයේ මරණය නමින් හඳුන්වනවා. මස් ලේ කයේ සිද්ධ වෙන ස්වභාවික මරණයෙන් තමන් වඩපු සාසනය වනසන්න බෑ.** ඒ නිසා මාර විපත්වලින් මිදිල මග වඩන්න සිව්රඟ සේනාව වගේ සාසනයේ ආරක්ෂා 4 ක් තියෙනවා. ඒ තමයි බුද්ධානුස්සති, මෙත්තානුස්සති, අසුභානුස්සති, මරණානුස්සති කියන හතර සේනා මාර්ග ආරක්ෂකයෝ. මේ හතර මීට පෙරත් මේ සඟරාවෙන් වෙන වෙනම විස්තර කරල තියෙනවා (1 - 5 කලාප බලන්න). නමුත් අද මේ හතර සේනාව සඟවල මායා සේනා 4 ක් විද්‍යමාන වෙලා තියෙන බවත් පේනවා. විමසල බලල වටහා ගැනීම නැණවතුන් සතුයි.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් යළි මතු කළ සැඟවුනු දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ:*

**නීතිඥ චන්දන සිරිවර්ධන**


යබර


තොටිල්ල


මී ඉටි


පාවට්ටා

# සමාධිමය අත් බෙහෙත්...

වහරක අභයරතනාලංකාරමහ තෙරුන් වහන්සේ විසින් ලෝක සත්ත්වයා කෙරෙහි දයානුකම්පාවෙන්, ගිලාන ප්‍රත්‍ය කටයුත්තක් වශයෙන් සළකා මතු කර දුන් තවත් වටිනා ප්‍රත්‍යක්‍ෂ සමාධිමය අත් බෙහෙත් කිහිපයක් පින්වත් ඔබගේ ප්‍රයෝජනය පිණිස මෙවරත් සටහන් කරනවා. මීට පෙරත් සඳහන් කළා වගේ මේ සියලු බේත් ඒ ඒ පුද්ගලයන්ගේ කර්ම ශක්තීන්ට යටත්ව ප්‍රත්‍ය වෙන නිසා, කර්ම වේග ගෙවා හැරෙන විදිහට සාසනික ප්‍රතිකර්මත් එක්ක මේ බේත් පාවිච්චි කිරීමෙන් වඩාත් සාර්ථක ප්‍රතිඵල ලබා ගන්න පුළුවන්. ඒ වගේම මේ අමුද්‍රව්‍ය සඳහන් කරල තියෙන්නෙ යම් කිසි අනුපාතයකට අනුව නිසා, ඒ අනුපාතයම එන විදිහට තමන්ට අවශ්‍ය ප්‍රමාණවලින් අමුද්‍රව්‍ය අඩු වැඩි කර ගන්නත් පුළුවන්.

**<u>හිසේ සහ ශරීරයේ අඟපසඟවල ලේ නහර හිරවීම, මළ සමග රුධිර වහනය නැවැත්වීමට.</u>**

අවශ්‍ය අමුද්‍රව්‍ය : වතුර නොදා සකස් කර ගත් නවසි පොල්පිති ඉස්ම පත බාගයයි, වතුර නොදා සකස් කර ගත් අමු ඉඟුරු ඉස්ම පත 1/8 යි. තල් සූකිරි ග්‍රෑම් 50 යි, කටුවැල් බටු, ඇත්දෙමට මුල්, ඇට ඉවත් කර ගත් වේළිච්ච නෙල්ලි, වැල් මී, සුදුරු කලං 4 බැගින්.

මේවායින් තල් සූකිරි, පොල්පිති ඉස්ම සහ ඉඟුරු ඉස්ම හැර ඉතිරි සියල්ලම වතුර පත 12 ක් දමා, පත එකහමාරක් දක්වා හිඳගෙන එන දියරයට තල් සූකිරි, පොල්පිති ඉස්ම සහ ඉඟුරු ඉස්ම එකතු කරල (ප්‍රතික්‍රියා නොකරන මැටි භාජනයක් වගේ දෙයක) අව්වෙ තියල පත 1 ක් දක්වා අඩු වෙනකල් හිඳගන්න. උදේ, දවල්, රාත්‍රී කෑමට පෙර තේ හැඳි 1 බැගින් දින 14 ක් ගන්න.

**<u>හිසේ සහ පපුවේ සෙම නරක් වීම නිසා කාරන විට කොළ පාටට සෙම පිටවීම, කතා කරන විට සෙම ගඳ ගැසීම, සෙම තද වීම නිසා ඇතිවන හිසරදය... ආදී ආබාධවලට.</u>**

අවශ්‍ය අමුද්‍රව්‍ය : නිල් මානෙල් අල, අරළු, පාවට්ට කොළ, දළු, මල්, පොතු, මුල් (පස් පංගුව) යන මේ සියල්ලෙන්ම වෙන වෙනම කලං 4 බැගින්.

මේ සියල්ලම පත 8 එකට හිඳගෙන අනු පානයට ඇඟිලි දෙකකට අහුවන ප්‍රමාණයේ සහිඳ ලුණු සහ එඬරු තෙල් අවුන්ස භාගයක් දමා පළමු දින පත 1/2 ක් උදේ හිස්බඩ පානය කරන්න. ඉතිරි පත 1/2 දෙවෙනි දින උදේ ඉහත අනුපානයත් සමග හිස්බඩ පානය කරන්න. වඩි 14 යි. දින 28 යි.

ඊට අමතරව තමන්ට වේළකට සරිලන විදිහට ලුණු, මිරිස්, කරපිංච, ගම්මිරිස්, රතු ළූණු... ආදිය එකතු කරල ඒකට අමු ඉඟුරු, සුදු ළූණු කලං 2 බැගින් එකතු කරල අඹරගෙන ඇඹුලක් හදාගෙන උදේ, දවල්, රාත්‍රී ආහාර සමග ගන්න. දින 28 යි.

**<u>මළබද්ධය නිසා මහ බඩවැලේ සිවි වේළීමෙන් හට ගන්නා රුධිර වහනයෙන් හිසේ සහ ශරීරයේ අඟපසඟවල වේළීමට.</u>**

අවශ්‍ය අමුද්‍රව්‍ය : මී ඉටි, පැපොල් කිරි, සුදු හඳුන් කුඩු, වියලි නා මල් රේණු, වියලි සාදික්කා, වියලි ඉඟුරු පියළි ග්‍රෑම් 100 බැගින් සහ අංක එකේ කස්තූරි ග්‍රෑම් 1 යි (වෙළඳසැල්වලින් මිලදී ගන්න පුළුවන්). මී ඉටි වෙළඳසැලකින් ලබාගෙන අපද්‍රව්‍ය ඉවත් කිරීම සඳහා රත් කරල සුදු යකඩ පෙනේරයකින් පෙරාගන්න. පෙරා ගන්න පෙර පෙනේරයත් ලිපට අල්ලල ටිකක් රත් කරගන්න.

මේ සියල්ලම වතුර නොදා වේවැල්බොඩ ඉස්මෙන් අඹරගෙන කෝපි ගෙඩි තරමට ගුලි කරල අව්වෙ වේළගෙන උදේ, රාත්‍රී ආහාරයට පසු ගුලි 1 බැගින් අරගෙන උණු වතුර ටිකක් බොන්න. මාස 1 යි.

**<u>උපතින් / පටිසන්ධියෙන් බිහිරි නොවන (ජාති හදිරි නොවන), පසුකාලීනව ඇතිවන සෙම තද වීම නිසා කන් නෑසෙන අයට, ශරීරයේ සමබරතාවය නොමැති අයට, ක්‍ෂණිකව ඉරියව් මාරු කිරීමේදී අපහසුතා ඇති අයට තෙලක්.</u>**

අවශ්‍ය අමුද්‍රව්‍ය : ඉරමුසු ගහ සහමුලින්ම කලං 6 යි, තොටිල්ල ගහේ පස් පංගුව (මුල්, මල් හෝ කරල්, පොතු, දළු, කොළ) කලං 6 බැගින් වෙන වෙනම, ගරුඬ පාසානම් කලං 6 යි, දූවිලි යන තරමට සියුම්ව කුඩු කර ගත් පොළවේ යබර කුඩු කලං 6 යි, නීලාාදී තෙල් බෝතල් 1/2 යි. (යබර කුඩු වෙළඳසැල්වලින් මිලදී ගන්න පුළුවන්. නැත්නම් වත්තෙ ගිනි ගොඩවල් ගහල පුච්චනකොට ඒ ස්ථානයේ අළුත් එක්ක එකතු වන යබර කැට කුඩු කරල ගන්න පුළුවන්.)

ඉරමුසු සහ තොටිල්ල ගහේ පස් පංගුව හොඳින් කොටාගෙන වතුර පත 2 ක් දමා මිරිකගෙන එන ඉස්ම ටිකට යබර කුඩු සහ නීලාාදී තෙල් එකතු කරල ලිපේ තියල හිඳගන්න. තෙලේ සුදු දුම අඩු වෙනකොට ගරුඬ පාසානම් එකතු කරල දිය හිඳුනට පසු බාගන්න. දිනපතා උදේ 7.00 ත් - රාත්‍රී 7.00 ත් අතර (දවල් 11.00 - 1.00 හැර)



# සාසනය උදෙසා නොයෙක් දේ පූජා කිරීමේ ආනිසංස
03 කොටස

## පාවහන් පිදීමේ අනුසස්

ගෞතම බුදු සසුනේ වැඩ හිටපු පානධිදායක කියන රහතන් වහන්සේ, පෙර කල්පයක තථාගතයන් වහන්සේ ප්‍රමුඛ මහ සඟ රුවනට පාවහන් පූජා කරල විවිධ ආනිසංස ලැබුවා. හත්ථී යාන, අශ්ව යාන, සිවිකා රථ... මේවා හැට ලක්ෂයක් පමණ පිරිවර වශයෙන් හිටියා. මැණික්වලින්, කම්බිලියෙන්, රනින්, රිදියෙන් කළ පාවහන් පාද ඔසවන කොට පහළ වෙන්න ගත්තා. බුද්ධාදී උතුමන්ට පාවහන් පූජා කිරීමෙන් ඍද්ධි පාවහනකට නැගිල කැමති සේ වාසය කරන්න හැකියාව ලැබුනා. අවසානයේ සියලු කෙළෙස් නසල සිව්පිළිසිඹියා, අෂ්ට විමෝක්ෂ, ෂඩ් අභිඥා සහිතව අරිහත්වයට පත් වෙලා සසර දුක් නිමා කර ගත්තා.

## දිය පිහින වස්ත්‍ර පිදීමේ අනුසස්

බුදු රජාණන් වහන්සේ ප්‍රමුඛ සංඝ රත්නය උදෙසා දිය පිහින වස්ත්‍ර පූජා කිරීම නිසා ආනිසංස ලැබුව තෙරුන් වහන්සේ නමක් ගැන සඳහන් වෙනවා. ශරීරයේ රන්වන් පැහැ ඇතිවීම, රජස් නැතිවීම, ශරීරයෙන් නිකුත් වෙන රැස් ඇති වීම, ප්‍රතාපවත් බව, ශරීරයේ සම සිනිඳු වීම, ශරීරයේ කුණු නොඇලීම කියන කරුණු විපාක වශයෙන් ලැබුවා. අවසානයේ සසර ගමනත් නිමා කරගන්න ඒ පින උපනිශ්‍රය වුනා.

## සැරයටි පිදීමේ අනුසස්

දණ්ඩදායක කියන තෙරුන් වහන්සේ අතීතයේ උණ ලීයක් කපල සැරයටියක් සකස් කරල බුදුන් වහන්සේ ප්‍රමුඛ සංඝ රත්නය උදෙසා පූජා කළා. සැරයටි පිදීම හේතු කොටගෙන සසර ගමනෙදි විවිධ ආනිසංස ලැබුවා. කීකරු පුතුන් ලැබීම, තැති ගැනීමක් නැතිවීම, අනුන් විසින් පීඩාවක් කිරීමට නොහැකි වීම, සියලු ආරක්ෂාව ඇති වීම, වැරදි දේවල්වලට නොපෙළඹීම, සිත පීඩාවට පත් නොවීම තමයි ඒ ආනිසංස වුනේ. ප්‍රසන්න සිතින් සිදු කරගත්ත ඒ පිනෙන් දුගතියක ඉපදෙන්නෙ නැතිව සුගති සම්පත් ලබල ගෞතම බුදු සසුනේ අරිහත්වයට පත් වෙලා සසර ගමන නිමා කරගත්තා.

## යතුරු හා යතුරු කොපු පිදීමේ අනුසස්

මේවා පිදීමෙන් ආනිසංස ලබාගත්ත තෙරුන් වහන්සේ නමක් ගැන මේ විදිහට සඳහන් වෙනවා. බුදු රජුන්ට, සංඝ රත්නයට යතුරු පූජා කරල ධර්මය නමැති දොරටුව විවෘත කරන ඥානය නමැති යතුර ලබා ගත්තා. යතුරු තබා ගන්නා කොපු පූජා කිරීම හේතු කොටගෙන මඳ වූ ක්‍රෝධ ඇති කෙනෙක් වීම, වෙහෙස නැති කෙනෙක් වීම කියන ආනිසංස ලබා ගත්තා. සසර දුක් තරණය කළා.

## ආයෝග දනයේ අනුසස් (පටි පූජාව)

ආයෝග කියන්නෙ පටි විශේෂයක්. "අනුජානාමි භික්ඛවේ ද්වේ කාය බන්ධනානි පට්ටිකං සූකරන්තකං" පට්ටිකා, සූකරන්තකය කියල පටි වර්ග දෙකක් භික්ෂූන්ට අනුදැන වදාරල තියෙනවා. පට්ටිකා කියන්නෙ සාමාන්‍ය වියමනෙන් හෝ මාලු කටු පෙළක් වගේ වියපු පටිය. ඇතුලත කුහරය තියෙන විදිහට වියපු හෝ රෙදිවලින් මහපු පටිය සූකරන්තක කියල හඳුන්වනවා.

බොහෝ ලණු පොටවල් එකතු කරල, එකකින් වෙළල මිහිගු බෙර සටහනින් කරපු කාය බන්ධන, හවඩියක් විදිහට ගොතපු පටි, නොයෙක් පාට තියෙන නූල් එකතු කරල නොයෙක් වර්ණවලින් වියපු පටි, තැනින් තැන නූල් අඩු වැඩි කරමින් විසිතුරු විදිහට සකස් කරපු පටි, නොයෙක් රූප සටහන් තියෙන පටි විනයේ තහනම් කරල තියෙනවා.

අකප්පිය (අකැප) නොවන විනයානුකූල පටි බුදු රජුන්ට, සංඝයාට පූජා කිරීමේ විපාක වශයෙන් සමාධියේ නොසැලී සිටීම, සමාධියේ වශීභාවය, පරිවාර සම්පත් ලැබීම, තමන්ගෙ වචනය අනුන් විශ්වාස කිරීම, සසරෙදි නොයෙක් භෝග සම්පත් ලැබීම, එළඹ සිටි සිහි ඇති වීම, බියක් ඇති නොවීම... කියන ආනිසංස ලැබෙනවා.

---

පොල්කටු පුච්චල ගිනි ගන්න පෙර (අඟුරු වෙන්න පෙර) එන දුමට බුලත් කොළයක් අල්ලල එයින් කන් වටේට තවල ඉන් පසු තෙල් ආලේප කරන්න. මාස 6 කින් පමණ සුව වෙනවා.

**ඉනා බන්ධන ආදිය කැවීම නිසා අක්‍රිය වූ මහ බඩවැල, කුඩා බඩවැල, ආමාශය, වකුගඩු, අග්න්‍යාශය... ආදී අභ්‍යන්තර ඉන්ද්‍රිය පද්ධති යථා තත්ත්වයට පත් කිරීම සඳහා**

අවශ්‍ය අමුද්‍රව්‍ය : අසමෝදගම් ඇට, වියළි ඉඟුරු, ගම්මිරිස්, තිප්පිලි, සෙනෙහෙ කොළ, වැල් මී, හීන් ගොටුකොළ හෝ බෙත් ගොටුකොළ දඬු (කොළ ඉවත් කර ඉතිරිය), අරළු, සුදුරු

මේවා සම සමව ගෙන වේළල කොටාගෙන කුඩු කරල උදේ, හවස මේස හැඳි 1/2 කට එඬරු තෙල් මේස හැඳි 1/2 ක් මිශ්‍රකරල ගුලියක් හදාගෙන උණුවතුරෙන් බොන්න. දින 18 යි.

මේ සමගම සුදු ළූණු ග්‍රෑම් 200 ක් පුච්චගෙන බික් සුද්ධ කරගෙන ඒකට එළඟි තෙල් අවුන්සයක් මිශ්‍රකරල හොඳින් අඹරගෙන මඳ ගින්නේ කල්ක පදමට රත් කරගන්න. උදේ, දවල්, රාත්‍රී ආහාරයට පසු තේ හැඳි 1/2 බැගින් ඉහත බෙහෙත් ටික තියෙන කල් පාවිච්චි කරන්න.

සටහන

**නීතිඥ චන්දන සිරිවර්ධන**

ගෞතම බුදු සසුනේ වැඩ හිටපු මේඛලදායිකා තෙරණිය සිද්ධාර්ථ බුදු රජාණන් වහන්සේගේ ධාතු සෑය හදනකොට නවකම් සඳහා බඳ පටියක් (හවඩියක්) පූජා කළා. මහ සෑයේ වැඩ අවසන් වුනාට පසුවත් නැවත මහත් වූ බුද්ධ ප්‍රසාදයෙන් හවඩියක් පූජා කළා. මෙයින් 94 වන කල්පයේ යම් බඳ පටියක් පූජා කෙරුවද, එයින් දුගතියක් නොලබා සසර බොහෝ සුගති සම්පත් වින්දා. ගෞතම බුදු හිමි දවස සකල ක්ලේශයන් ප්‍රහීණ කරල අරිහත්වයට පත්වෙන්නත් ඒ පින උපනිශ්‍රය වුනා.

## මහ සැළි හා කරඬු පිදීමේ අනුසස්

සාසනය උදෙසා මහ හැළි සහ කරඬු පූජා කිරීමේ පුණ්‍ය විපාක වශයෙන් විවිධ ආනිසංස ලැබෙනවා. හැම වෙලාවෙම ආරක්ෂාව ලැබීම, සැප සම්පත්වලින් යුක්ත වීම, මහත් යසස් ඇතිවීම, විපත්ති නැතිවීම, සියුමැලි ශරීරයක් ලැබීම, අන්තරායන්ගෙන් මිදීම, මහත් ගුණයෙන් යුක්ත වීම, බිය නැතිවීම, හස්ති යානා, අශ්ව යානා ලැබීම, ඒ වස්තු අකාලයේ විනාස නොවීම විපාක විදිහට ලැබෙනවා. භාජනදායක තෙරුන් වහන්සේ එක අත්බැවක කුඹල්කරුවෙක් වෙලා ඉන්න කොට සංඝයාට භාජන පූජා කරල දුගතියක ඉපදෙන්නෙ නැතිව 53 වන කල්පයේ අනන්තජාලි නමින් සක්විති රජ වෙලා ගෞතම බුදු සසුනේ නිවන් අවබෝධ කරගත්තා.

## පුටු පූජා කිරීමේ අනුසස්

සුචින්තක කියන තෙරුන් වහන්සේ ගැන මේ විදිහට සඳහන් වෙනවා. අතීතයේ පහළ වුන තිස්ස කියන සර්වඥයන් වහන්සේට දැවමුවා පුටුවක් පූජා කළා. ඒ පිනෙන් මෙයින් 38 වන කල්පයේ "මහා රුචි" නමින් සක්විති රජ වුනා. එදා පිරිසිදු සිතින් කළ ඒ පින නැවත නැවත සිහි කළා. එතැන් පටන් දුගතියකට යන්නෙ නැතිව සුගති සම්පත් ලබමින් සසර ගමන් කරන කොට රුචි, උපරුචි, මහා රුචි නමින් නැවතත් 3 වරක් සක්විති රජ වුනා. ගෞතම බුදු හිමි ලොව පහළ වුනාම සාසනයේ පැවිදි වෙලා "සුචින්තක" තෙරුන් නමින් සිව්පිළිසිඹියා, අෂ්ට විමෝක්ෂ, ෂඩ් අභිඥා සහිතව අරිහත්වය පූර්ණ කර ගත්තා.

පුටු පූජාවේ ආනිසංස වශයෙන් උසස් කුලවල ඉපදීම, මහා භෝග සම්පත් ලැබීම, අන්‍යයන්ගේ ගරු බුහුමනට ලක් වීම, කීර්ති ගුණ ඝෝෂාව පැතිරීම, කල්ප ගණනක් මුළුල්ලේ ඉතා සැප පහසු පුටු පිරිවර වශයෙන් ලැබීම, පරිත්‍යාගයේ ඇළුණු කෙනෙක් වීම කියන සම්පත් ලැබිල සසර දුකින් එතෙර වෙන්න ඒ වගේ පිංකම් උපනිශ්‍රය වෙනවා.

## සිංහාසනදායක ථේරාපදානය

සිද්ධාර්ථ භාග්‍යවතුන් වහන්සේ පිරිනිවන් පෑවට පස්සෙ ධර්මය ලෝකයේ බැබලෙන කාලයක ප්‍රසන්න සිතින් සිංහාසනයක් සහ පා පුටුවක් සාසනය උදෙසා සකස් කරල පූජා කළා. සිංහාසනය තෙමෙන කොට ඊට උඩින් ගෙයකුත් සකස් කරල ඒ පිනෙන් තුසිත දෙව්ලොව ඉපදුනා. දෙව්ලොව දිගින් යොදුන් 24 ක් හා පළලින් යොදුන් 14 කින් යුක්ත විමානයක් පහළ වුනා.

දිව්‍ය කන්‍යාවන් ලක්ෂයක් පිරිවර වුනා. මනාව නිර්මිත වුන රන් පුටුවකුත් ලැබුනා. ඇත්, අශ්ව දිව්‍ය වාහන, මහගු ප්‍රාසාද, දෝලා, මිණිමුවා පර්යංක, රුක්මුවා පර්යංක පහළ වුනා. රන් රිදී පළිඟු වීදුරු පාවහන් පහළ වුනා. ඒ තමයි පා පුටු දානයේ විපාක. මෙයින් 94 වන කල්පයේ කරපු පුණ්‍ය කර්මයෙන් සතර අපායේ නොවැටී සුගති සම්පත් ලබමින් 77 වන කල්පයේ "ඉන්ද්‍රා" නමින් තුන් වරක් සක්විති රජ වුනා. 72 වන කල්පයේ සුමන නමින් රජ වුනා. නැවතත් සතර මහා දිවයිනට අධිපති වෙලා තුන් වරක් සක්විති රජ පදවි ලැබුවා.

සිංහාසනදායක තෙරුන් වහන්සේ පදුමුත්තර බුදු රජුන් පිරිනිවන් පෑවට පස්සෙ පහන් සිතින් තථාගතයන් වහන්සේ උදෙසා සිංහාසනයක් පූජා කළා. මෙලොව සුවගෙන දෙන ඒ සිංහාසනයට මල්, සුවඳ දුම් පූජා කළා. ප්‍රසන්න සිතින් බෝධියත් වන්දනා කළා. ඒ පිනෙන් කල්ප ලක්ෂයක් දුගතියේ නොගිහින් සුගතිවල ඉපදිලා "කප සිලුච්ච" නමින් අටවරක් සක්විති රජ වුනා. මේ විදිහට සසර බොහෝ සම්පත් විඳල ගෞතම බුදු රජුන් ජීවමානව වැඩ ඉන්න කාලයේ සාසනයේ පැවිදි වෙලා සසර කතරෙන් එතෙර වුනා.

## සයනදායක ථේරාපදානය

සයනදායක තෙරුන් වහන්සේ සිද්ධාර්ථ බුදු රජුන්ට සරසන ලද උතුම් ආසනයක් පූජා කළා. භාග්‍යවතුන් වහන්සේ ඒ අසුනේ වැඩ ඉඳල අහසට නැගුනා. බුදු රජුන්ට ආසනයක් පූජා කළ පිනෙන් දුගතිගාමී නොවී සුගතිවලම ඉපදෙමින් 41 වන කල්පයේ "වරුණදේව" නමින් සක්විති රජ වුනා. ගෞතම බුදු සසුනේ සියලු කෙලෙස් නසල සසර දුක් කෙළවර කර ගත්තා.

පදුමුත්තර බුදු රජුන් ලෝකයේ පහළ වෙලා ඉන්නකොට සයනදායක තෙරුන් උන්වහන්සේට ප්‍රසන්න සිතින් යහනක් පූජා කළා. ඒ දානයේ විපාක වශයෙන් යහපත් කෙතක සස්‍ය ආදී බොහෝ භෝග සම්පත් පහළ වුනා. මෙයින් පන් දහස් වන කල්පයේ "මහාවර" නමින් අට වරක් සක්විති රජ පදවිත් ලබල, තුන් දහස් හාර සියවන කල්පයේ සියක් වාරයක් මහ රජ වුනා. මේ විදිහට සසර සැරිසරාගෙන ඇවිත් ගෞතම බුදු සසුනේ පැවිදි වෙලා සාසනදායක තෙරුන් නමින් අරිහත්වයට පත් වුනා.

## ඵලකදායක ථේරාපදානය

ඵලකදායක තෙරුන් වහන්සේ අතීත බුද්ධ සාසනයක දක්ෂ වඩුවෙක් වෙලා ඉන්නකොට තථාගතයන් වහන්සේට පුවරුවක් (වාඩිවෙන්න හෝ හේත්තු වෙන්න ගන්න ලෑල්ලක්) පූජා කළා. ඒකෙ විපාක වශයෙන් දෙව්ලොව ඉපදුනාම රත්රන් විමානයක්, ඇත් අශ්ව යානා, පාසාද, දෝලා, රත්රන් කැමති විදිහට ලැබුනා. එතැන් පටන් දුගතිගාමී නොවී 57 වන කල්පයේ "නිම්මිත" නමින් හතර වතාවක් සක්විති රජ වුනා. ගෞතම බුද්ධ සාසනයේ සිව්පිළිසිඹියා, අෂ්ට විමෝක්ෂ, ෂඩ් අභිඥා සහිතව අරිහත් ඵලයට පත් වුනා.

## මණිපූජක ථේරාපදානය

පදුමුත්තර බුදු රජාණන් වහන්සේ හිමාලයට ආසන්නයේ ගලා යන ගංගාවක් අසළ වැඩ ඉන්නකොට පහන් සිතින් මිණි පළඟක් බුදු රජුන්ට පූජා කළා. ඒ පිනෙන් එතැන් පටන් දුගතිගාමී නොවී සුගති සම්පත් ලබමින් මෙයින් 12 වන කල්පයේ "සතරංසි" නමින් අට වරක් සක්විති රජ පදවි ලබල මේ සාසනයේ මණිපූජක තෙරුන් නමින් සියලු අභිඥා සිව්පිළිසිඹියා ලබල භව බන්ධනයෙන් මිදුනා.

## මඤ්චදායක ථේරාපදානය

මඤ්චදායක තෙරුන් වහන්සේ විපස්සී බුදු රජුන් දවස පහන් සිතින් ඇඳක් පූජා කළා. ඒ පිනෙන් දෙව්ලොව ඉපදිලා ඇත් අශ්ව දිව්‍ය යානාවන් ලබල සතර අපායේ නොගිහින්

සාසනය උදෙසා නොයෙක් දේ පූජා කිරීමේ ආනිසංස

ගෞතම බුදු සසුනේ සිව්පිළිසිඹියා, අෂ්ට විමෝක්‍ෂ, ෂඩ් අභිඥාලාභීව උතුම් නිවන් සාක්‍ෂාත් කර ගත්තා.

## මෙට්ට පිදීමේ ආනිසංස

උතුම් නිවනම ප්‍රාර්ථනා කරගෙන ආසනයක් සහ මෙට්ටයක් පූජා කළ පිනෙන් එතැන් පටන් සතර අපායට යන්නෙ නැතිව සුගතිවල ඉපදෙමින් මෙයින් 63 වන කල්පයේ "අසම" නම් සක්විති රජ කෙනෙක් වෙලා, මේ බුද්ධ සාසනයේ ෂඩ් අභිඥා සිව්පිළිසිඹියා සහිතව ඝෝර වූ සසරින් එතෙර වුන තෙරුන් වහන්සේ නමක් ගැන දහමේ සඳහන් වෙනවා.

සම වූ ශරීරයක් ලැබීම, අනුන්ගේ ගරු බුහුමනට ලක්වීම, මෘදු වූ සිරුරකින් යුක්ත වීම, දැකුම්කළු සිරුරක් ඇති වීම, නුවණ හා පරිවාර සම්පත් ලැබීම, පුළුන් මෙට්ට, විසිතුරු ඇතිරිලි, රන් රිදී කෙඳි මිශ්‍ර කරල වියන ඇතිරිලි ආදියත් මෘදු වූ උතුරු සළු, අඳුන් දිවි සම් කියන නොයෙක් වර්ගයේ ඇතිරිලිත් ආනිසංස විදිහට ලැබුනා. යම් කාලයක පටන් නුවණැති බවට පත් වුනාද එතැන් පටන් ධ්‍යානයෙන් තොර වුනේ නෑ. මේ තමයි මෙට්ට පිදීමේ විපාකය.

## කොට්ට පිදීමේ අනුසස්

සාසනය උදෙසා හිස තියන කොට්ට පූජා කරල අනුසස් ලැබුව තෙරුන් වහන්සේ නමක් ගැන සඳහන් වෙනවා. ලෝමවලින් කරන ලද, පද්මාකාර වූ ලෝහිත සඳුන්වලින් කරන ලද කොට්ටා හැම කාලයේම හිස තියන්න ලැබුනා. උත්තම වූ ආර්ය අෂ්ටාංගික මාර්ගයෙත් සතර මග සතර ඵල යන මේ ධර්මවලත් ඥානය ඇතිව වාසය කරනවා. ඉන්ද්‍රිය දමනයේ, සිත සමාධිගත කිරීමේ, රූපී, අරූපී ධ්‍යානවල නුවණ යොදවා වාසය කරනවා.

වතේ, ගුණයේ, ප්‍රතිපත්තියේ, ඇවතුම් පැවතුම් ක්‍රියාවල හැමවිටම නුවණ යොදවා වාසය කරනවා. සක්මන් කරන කොට, පධන් වීර්ය වඩන කොට සත්තිස් බෝධිපාක්‍ෂික ධර්ම තුල නුවණ මෙහෙයවා කටයුතු කරනවා. සීල, සමාධි, ප්‍රඥා, අනුත්තර විමුක්තිය යන ධර්මවල සුවසේ ඥානය මෙහෙයවා කටයුතු කරනවා. බුදු රජුන්, සංඝයා උදෙසා කොට්ට පූජා කිරීමේ විපාක තමයි මේ.




## තෙල් පූජා කිරීමේ අනුසස්

සංඝයා උදෙසා තෙල් පූජා කිරීමෙන් නිරෝගි බව, දැකුම්කළු රූපයෙන් යුක්ත වීම, වහා ධර්මය දැන ගැනීමට දක්‍ෂ බව, ආහාර පාන ලබන බව කියන මේ කරුණු විපාක වශයෙන් ලැබෙනවා. ආයුස, බලය, පිරිසිදු බව, යහපත් ගුණවන්ත ඥානවන්ත දරුවන් කියන ආනිසංස මේ හේතුවෙන් ලැබෙනවා.

අබ්භඤ්ජනදායකතෙරුන්වහන්සේ කොණ්ඩඤ්ඤ බුදු රජාණන් වහන්සේට ආලේපන තෙලක් පූජා කිරීමෙන් එතැන් පටන් දුගතියක ඉපදෙන්නෙ නැතිව සුගති සම්පත් ලබමින් මෙයින් 15 වන කල්පයේ "චිරජ්ජ" නමින් සක්විති රජ පදවි ලබල ගෞතම බුදු සසුනේ සිව්පිළිසිඹියා, අෂ්ට විමෝක්‍ෂ, ෂඩ් අභිඥා සහිතව අරිහත්වයත් සාක්‍ෂාත් කළා.

ඒ වගේම සංඝයා උදෙසා ලැබුණු තෙල් වර්ගයක් උන්වහන්සේලාගෙන් අහන්නෙ නැතිව ඇගේ ගල්වා ගැනීම නිසා කරරෝම නම් යක්‍ෂයෙක් වෙලා ගොරෝසු හමක් ලැබුන කෙනෙක් ගැනත් සඳහන් වෙනවා. **සාසනයේ දේවල් අවසරයකින් තොරව ගැනීමේ බරපතලකමත් මෙයින් සනාථ වෙනවා.**

## සුවඳ දුම් පිදීමේ අනුසස්

ධූපදායක තෙරුන් වහන්සේගේ ථේරාපදානයේ මෙහෙම සඳහන් වෙනවා. මම සිද්ධාර්ථ සර්වඥයන් වහන්සේගේ ගන්ධ කුටියේ වතාවත් කරමින් ප්‍රසන්න සිතින් සුවඳ දුම් ඇල්ලුවා. මෙයින් සිව් අනූ වන කල්පයේ කරපු ඒ පිනෙන් දුගතියකට යන්නෙ නැතිව සුගති සම්පත් ලබල මේ බුදු සසුනෙදි ෂඩ් අභිඥාලාභීව සිව්පිළිසිඹියා සහිතව සියලු දුක් නිමා කරගෙන සසර දුකෙන් මිදුනා.

සමන් මල්වලින් යුක්ත සුවඳ දේවල් සිද්ධාර්ථ බුදු රජුන්ට පූජා කළා. භික්‍ෂු සංඝයා පිරිවරාගෙන කේසර සිංහයෙක් වගේ වැඩ හිටිය තථාගතයන් වහන්සේට වන්දනා කරල උතුරු දිසාවට යන්න ගියා. සුවඳ ධූප පූජා කිරීම හේතු කොටගෙන එතැන් පටන් දුගතියක ඉපදුනේ නෑ. ධූපදායක තෙරුන් නමින් ගෞතම බුදු රජුන්ගේ ශ්‍රාවකයෙක් වෙලා නිවන් පූර්ණ කරගත්තා.

සුවඳ ධූප බුදු රජුන්ට, සංඝ රත්නයට පූජා කිරීම හේතුවෙන් බොහෝ ආනිසංස ලබන්න පුළුවන්. සුවඳ විහිදෙන සිරුරක් ඇති වීම, යසස් ඇති වීම, වහා අවබෝධ වෙන නුවණ ඇතිවීම, කීර්තිය ඇති වීම යන අනුසස් ලබල ශාන්ත පරම සුවය වූ නිවනත් අවබෝධ කර ගන්න ඒ පින උපනිශ්‍රය වෙනවා.

## එතෙර වීමට පහසුකම් සැලසීමේ අනුසස්

සැරියුත් මහ රහතන් වහන්සේගේ සහෝදරයෙක් වුන, ආරණ්‍ය භික්‍ෂූන් අතර අග තනතුර ලබපු කදිරවනිය රේවත හාමුදුරුවො පදුමුත්තර බුදු රජුන්ගෙ කාලයේ හිමාලයෙන් ගලන භාගිරථී ගංගාවේ සැඩ තීර්ථයක නැව්යෙක් විදිහට කටයුතු කරමින් හිටියා.

පදුමුත්තර බුදු රජාණන් වහන්සේ දහසක් භික්‍ෂූන් සමග ඒ ගඟෙන් එතෙර වෙන්න වඩින බව අහල නැව් රාශියක් එකතු කරල පාලමක් හදල බුදු රජුන් ඇතුළු දහසක් භික්‍ෂූන්ට වඩින්න ඒ නැව් පාලම පූජා කළා. නැවට නැංග බුදු රජාණන් වහන්සේ ගංගාව මැද වැඩ හිඳගෙන මේ විදිහට වදාළා.

රහතන් වහන්සේලා සමග මම එගොඩ කළ මොහු මෙයින් චුතව දෙව්ලොව ඉපිද බොහෝ සතුටට පත් වෙනවා. නැවේ හැඩයෙන්ම දෙව්ලොව විමානයක් පහල වෙලා, නිතර ආකාසයේ මල් මාලා එල්ලෙනවා. මෙයින් 58 වන කල්පයේ "තාරක" නමින් සක්විති රජෙකුත්, 57 වන කල්පයේ "චම්පක" නමින් ක්‍ෂත්‍රියෙකුත් වෙලා හිරු වගේ බැබලීමට පත් වෙනවා. ගෞතම බුදු රජුන්ගෙ කාලයේ රේවත නම් බමුණෙක් වෙලා ගිහි ගෙයින් නික්මිලා පැවිදි වෙනවා. කළ පුණ්‍ය විපාකයෙන් දුනු දියෙන් මිදුනු හීයක් වගේ කෙළෙස් දවා හැර මහා ශ්‍රාවකයෙක් වෙනවා.

## කරණීය ථේරාපදානය

භාග්‍යවත් අත්ථදස්සී බුදු රජාණන් වහන්සේ මහ සඟ රුවන සමග ගං තෙරට වැඩම කළා. මම දියෙන් පිරී ගිය ගංගාවෙන් බුදු රජුන් සහ ශ්‍රාවක පිරිස එතෙර කෙරෙව්වා. ඒ කර ගත්ත පින හේතුවෙන් දුගතියකට නොගිහින් ''සබ්බෝගවා'' නමින් සක්විති රජ වුනා. මම අන්තිම භවයේ බමුණු කුලයේ ඉපදිලා යහළුවන් තුන් දෙනෙක් සමග පැවිදි වෙලා සතර පටිසම්භිදා සහිතව අරිහත් වෙලා සසර දුකෙන් එතෙර වුනා.

## තරණීය ථේරාපදානය

මම මගීන්ගේ පහසුව සළකල ප්‍රසන්න සිතින් ඒදණ්ඩක් සකස් කළා. ඒ පිනෙන් සතර අපායෙන් වැළකිලා සුගතිගාමී වෙලා එයින් 50 වන කල්පයේ ''සමෝගධ'' නමින් සක්විති රජ පදවි ලැබුවා. මේ බුදු සසුනේ සියලු භව බැමි සිඳල නිවන් පුරයට වැඩියා.

## ගෝසීස නික්ඛේපක ථේරාපදානය

භික්ෂූන්ගේ ගමනාගමනය සඳහා මඩ වගුරක ගව හිස් කබලක් තියල ඒකට පය තියල මඩ නොගැවී යන්න පහසුකම් හදල දුන්නා. මේ පින හේතුවෙන් උතුම් කුලවල අශ්වයන් ලැබිල ඉතා වේගයෙන් ගමන් යන්න පහසුකම් ලැබුනා. සංඝයා උදෙසා කළ පින වෙනත් පිනකට සමාන කරන්න පුළුවන්කමක් නෑ. මේ පිනෙන් එතැන් පටන් සතර අපා දුකකට වැටෙන්නෙ නැතිව එයින් 77 වන කල්පයේ "සුප්පතිට්ඨික" නමින් සක්විති රජ පදවිය ලැබුවා. ගෞතම බුදු හිමිගෙ සසුනේ පැවිදි වෙලා සතර මග සතර ඵල පූර්ණ කරගෙන සසර කතරෙන් එතෙර වුනා.

## මග්ගදයක ථේරාපදානය

සිද්ධාර්ථ බුදු රජාණන් වහන්සේ කුඩා ගඟකින් එතෙර වෙලා වනයට වඩිනවා දැකපු මම උදැල්ලක් සහ කුඩයක් අරගෙන ඒ මාර්ගය සම කරල හදල තථාගතයන් වහන්සේට වැඳගෙන සිත පහදවා ගත්තා. ඒ මාර්ග දානයේ පිනෙන් අපායක ඉපදුනේ නෑ. එයින් 57 වන කල්පයේ "සුප්පබුද්ධ" නමින් සක්විති රජ පදවි ලබල මේ ගෞතම බුදු සසුනෙදිම සියලු කෙළෙස් නසල බුද්ධ සාසනය සම්පූර්ණ කර ගත්තා.

## ඇතිරිලි පූජාවේ අනුසස්

සාසනය උදෙසා ඇඳ ඇතිරිලි ආදිය පූජා කිරීමත් බොහෝ ආනිසංසදායක පිංකමක්. රාහුල හාමුදුරුවො අතීතයේ එක් අත්බැවක පදුමුත්තර භාග්‍යවතුන් වහන්සේට කැඩපතක් බඳු ඇතිරිල්ලක් පූජා කළා. සර්වඥයන් වහන්සේ දහසක් රහතන් වහන්සේලා පිරිවරාගෙන ගන්ධ කුටියට වැඩියා. ගඳ කිලියේ වැඩ හිඳගෙන මේ විදිහට වදාළා.

මට අගනා ඇතිරිල්ලක් පූජා කළ මේ තැනැත්තාට රන්, රිදී, මෙරළු මිණියෙන් කළ කැඩපත් ලැබෙනවා. 64 වරක් සක් දෙව් රජ පදවිය, දහස් වරක් සක්විති රජ පදවි ලබල එක්සිය විසි වන කල්පයේදී නැවතත් "විමල" නමින් සක්විති රජ වෙනවා.

යොදුන් 300 ක් දිග පළල ගඩොලින් කළ රේණුවතී කියන නගරයක් තියෙනවා. ඒකෙ කුළු ගෙවල්වලින් යුක්ත, සත්රුවනින් අලංකාර, විශ්ව කර්ම දෙව් පුත් විසින් නිර්මාණය කළ සුදස්සන කියල ප්‍රාසාදයක් තියෙනවා. ඒක දසවිධ ශබ්ද තියෙන, විද්‍යාධරයන්ගෙන් ගැවසී ගත් දෙවියන්ගේ සුදස්සන නගරය වගේ. හිරු උදා වෙන කොට බබලනවා. හාත්පස අට යොදුනක් රැස් විහිදෙනවා. කුසල බලයෙන් තුසිත දෙව් ලොවින් චුත වෙලා සිද්ධාර්ථ කුමරුගේ පුත්‍රයා වෙලා රාහුල නමින් උපදිනවා.

ගිහිගෙයි වාසය කළා නම් සක්විති රජ වෙන්නත් හේතු වාසනා තිබුනා. නමුත් එහෙම සිදු නොවී ගිහි ගෙයින් නික්මිලා පැවිදි වෙලා සියලු ආශ්‍රවයන් නසා අරිහත්වයට පත් වුනා. සික්ෂාකාමී භික්ෂූන් අතර අග තනතුර ලබල සිව්පිළිසිඹියා, අෂ්ට විමෝක්ෂ, ෂඩ් අභිඥා සහිතව මහා ශ්‍රාවකයෙක් වුනා.

## බෝමදයක ථේරාපදානය

විපස්සී සර්වඥයන් වහන්සේ පහල වෙලා වැඩ හිටපු කාලෙ මම වෙළෙන්දෙක් වෙලා භාර්යාවත් පෝෂණය කරමින් පිං දහම් කරමින් කාලය ගත කළා. දිනක් මාර්ගයේ වඩින බුදු සමිඳුන්ට කොමු පිළියක් (පට්ටාවල නූල්වලින් වියපු රෙද්දක්) පූජා කළා. ඒ කරගත්ත පුණ්‍ය විපාකයෙන් දුගතිගාමී නොවී සුගති සම්පත් ලබල එයින් 27 වන කල්පයේ සප්ත රත්නයෙන් සිව් මහා දිවයිනට අධිපති "සින්ධවසන්දන" නමින් සක්විති රජ වුනා. මේ බුදු සසුනේ පැවිදි වෙලා සසර දුක් නිමා කරගත්තා.

## සන්නිට්ඨාපක ථේරාපදානය

පදුමුත්තර තථාගතයන් වහන්සේ වැඩ හිටපු කාලයේ මම අටලෝ දහමට කම්පා නොවී ආරණ්‍යයක කුටියක් හදාගෙන වාසය කළා. පදුමුත්තර බුදු රජුන්, දහ දාහක භික්ෂු සංඝයා පිරිවරාගෙන ඒ සමීපයට වැඩියා. උන්වහන්සේට වැඩ ඉන්න තණ ඇතිරිල්ලක් පනවල පූජා කළා. ප්‍රසාද සිතින් කැකිරි සමග පැන් පූජා කළා. මේ ඇතිරිලි සහ දාන පූජාවේ විපාකයෙන් එතැන් පටන් දුගතියක ඉපදුන බවක් දකින්න නෑ. එයින් 41 වන කල්පයේ "අරින්දම" නමින් මහත් බල ඇති සක්විති රජ පදවිය ලැබුවා. සාසනයේ පැවිදි වෙලා උතුම් අරිහත් ඵලයෙන් නිවී සැනසුනා.

## තිණසන්ථරදයක ථේරාපදානය

හිමාලයට ආසන්නව පියුම්වලින් ගැවසී ගත්ත නා නා පක්ෂීන්ට වාසස්ථානයක් වුන මහ විලක් තිබුනා. ඒ කාලෙ තවුසෙක් වෙලා හිටපු මම ඒ විලට ආසන්නයේ වාසය කළා. දවසක් මම ස්නානයට විලට ගිය වෙලාවෙ ආකාසයෙන් වඩින තිස්ස බුදු රජාණන් වහන්සේ දැක්කා. මගේ අදහස දැන ගත්ත බුදු රජුන් එතනට වැඩම කළා. තණකොළවලින් ඇතිරිල්ලක් හදල බුදු රජාණන් වහන්සේට පූජා කළා. උන්වහන්සේකෙරෙහි චිත්තප්‍රසාදයෙන් වන්දනා කරල එතනින් යන්න ගියා. තණ ඇතිරිල්ලක් පූජා කිරීමේ විපාකයෙන් අපායෙ ඉපදුනේ නෑ. නිම්මාණරතී දෙව් ලොව ඉපදිලා දෙව් සම්පත් විඳල මෙයින් දෙවෙනි කල්පයේ "මිග" නමින් සක්විති රජ කෙනෙක් වුනා. සම්බුදු සසුනේ පැවිදි වෙලා අරිහත්වයට පත් වෙලා භව ගමන නිමා කරගත්තා.

## යවකලාපිය ථේරාපදානය

මම අරුණවතී නගරයේ යව (තණ) වෙළෙන්දෙක් වෙලා ඉන්න කාලෙ මහ මගදි සිඛී බුදු රජාණන් වහන්සේ හමු වුනා. උන්වහන්සේට වැඩ ඉන්න තණ ඇතිරිල්ලක් අතුරල දුන්නා. මගේ අදහස දැන ගත්ත උන්වහන්සේ ඒකෙ වැඩ සිටියා. නිර්මල වූ මහා ධ්‍යාන ඇති අසහාය බුදු රජුන් දැකල සතුටු උපදවාගෙන කළඹිය කළා. එතැන් පටන් දුගතිගාමී නොවී, කළ පිනෙන් සුගතිවල ඉපදෙමින් ඇවිත් ගෞතම බුදු සසුනේ පැවිදි වෙලා සියලු කෙළෙස් නසල සසර කතරින් එතෙර වුනා.

**පූජ්‍ය කිවුල්දෙණියේ විජිතනන්ද හිමි**

**නිග්‍රෝධාරාම සේනාසනය,**

**පොල්පිටිය, මැටිකුඹුර, පොල්ගහවෙල.**

**0716839346**

# හෙළ බොදු පියුම දහම් සඟරාවේ 85 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

## ශ්‍රම දයකත්වය

■ ධම්මික සේනාධීර මහතා - හසරු ප්‍රින්ටර්ස් - මාලබේ ■ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය ■ චතුර හිඳුරංගලගේ මහතා - නුගේගොඩ ■ අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර ■ සඳරුවන් පෙරේරා මහතා සහ මාරියස් පෙරේරා මහතා - මොරටුව ■ තුසිත මංගල මහතා - පාදුක්ක ■ එස්. ඒ. එස්. පෙරේරා මහතා - පානදුර ■ දිනේෂ් සම්පත් මහතා - පිළියන්දල ■ ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව ■ සුජීවනී ජයවර්ධන මෙනවිය - පාදුක්ක ■ කාංචනා ලක්මාලි මද්දුමගේ මෙනවිය - පිළියන්දල ■ ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය - පිටකෝට්ටේ ■ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය ■ නන් අයුරින් දයක වූ පින්වතුන්

## මූල්‍යමය දයකත්වය

■ ආසිරි වනිගරත්න මහතා සහ දීපිකා සන්දනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - මහරගම - රු. 25,000/- ■ ශානක ද සිල්වා මහතා, චරනි ද සිල්වා මහත්මිය, රහල් ද සිල්වා පුතා, ගනිඳු ද සිල්වා පුතා, දෙව්රූ ද සිල්වා දුව - දෝහාකටාර් - රු. 21,890/- ■ තුසිත නාකන්දල මහතා, සරූපා නාකන්දල මහත්මිය, දෙවින්යා දුව - ගල්කිස්ස - රු. 20,000/- ■ තිළිණ විජේරත්න මහතා සහ පවිත්‍රා දදිගම මහත්මිය - ඇමරිකාව - රු. 16,050/- ■ අසේල බෙන්තර මහතා සහ චතුරිකා කහඳුගොඩ මහත්මිය - ඇමරිකාව - රු. 14,000/- ■ චමිල ඉලංගකෝන් මහතා සහ මහත්මිය, රුවන් සමරසිංහ මහතා සහ මහත්මිය - හෝකන්දර, අශෝක ජයසුන්දර මහතා - මාතලේ, සංජීව පද්මනාත් මහතා සහ මහත්මිය - කහතුඩුව, චාමික පෙරේරා මහතා, නිසංසලා හතුරුසිංහ මහත්මිය, ප්‍රදීප කළ්‍යාණ මහතා, සුමුදු විද්‍යාලංකාර මහතා, ලීලානි රණසිංහ මහත්මිය, සෝමලතා කෝරලේ ආරච්චි මහත්මිය - පරපේ - රු. 10,500/- ■ චතුර හිඳුරංගලගේ මහතා, නදීරා අරම්පොල මහත්මිය, තනුරි හිඳුරංගලගේ සහ සනුරි හිඳුරංගලගේ යන දියණියන් - නුගේගොඩ - රු. 10,000/- ■ සමන් සිල්වා මහතා - කළුතර - රු. 10,000/- ■ නිලක්ෂි වීරකෝන් මහත්මිය - මාලබේ - රු. 10,000/- ■ චාරුත බණ්ඩාර මහතා සහ තිමිර බණ්ඩාර මහතා - ඇමරිකාව - රු. 8,025/- ■ අයේෂ් ගුණවර්ධන මහතා සහ නිරාෂා පෙරේරා මහත්මිය - ඇමරිකාව - රු. 8,025/- ■ සමීර පෙරේරා මහතා සහ නිලානි සුරවීර මහත්මිය - ඇමරිකාව - රු. 8,025/- ■ සජිත් සුරංජන් විජේරත්න, සුදේශ් විජේසිංහ, නිමල් විජේරත්න, චමීර වේල්ලගේ, සුනේත්‍රා සමරසිංහ, චමීරා දිල්හානි, සෙව්වන්දි විජේරත්න, හේෂානි නවෝද්‍යා, නිරංජනී පෙරේරා යන මහත්ම මහත්මීන් සහ සනුදි විජේසිංහ, නිසඳු විජේසිංහ යන දරුවන් - කළල්පිටිය - රු. 8,000/- ■ පූජ්‍ය කොච්චිකඩේ ප්‍රඥමූර්ති හිමි - රු. 5,000/- ■ සුජීවනී ජයවර්ධන මෙනවිය - පාදුක්ක - රු. 5,000/- ■ අමිත් හඳුගොඩ මහතා ඇතුළු පවුලේ සැම - අත්තිඩිය - රු. 5,000/- ■ ගයාන් පුෂ්පික ඉන්ද්‍රජිත් ලොකුමාන්න මහතා, හිරෝෂානි ලොකුමාන්න මහත්මිය, සෙනුත් ලොකුමාන්න පුතා, කෙනුලි ලොකුමාන්න දුව - ගල්කිස්ස - රු. 5,000/- ■ සොනාලි සමරදිවාකර මෙනවිය - මහරගම - රු. 5,000/- ■ අමිල සල්ගාදු මහතා සහ කාන්ති ඒකනායක මහත්මිය - බෝමිරිය - රු. 5,000/- ■ මෙරිල් ඩයස් මහතා, ඩිලානි ඩයස් මහත්මිය, ශවින්ද්‍රි ඩයස් සහ ප්‍රශානි ඩයස් යන දියණියන් - නාවින්න - රු. 5,000/- ■ එම්. ජයසූරිය මහතා - මාලබේ - රු. 5,000/- ■ එම්. පී. ෂේන් වාල්‍යා පතිරණ මෙනවිය, එම්. පී. ප්‍රේමරත්න මහතා,  එන්. ඒ. දයාසීලි මහත්මිය - කටුවාවල - රු. 4,500/- ■ ලක්ෂ්මන් සෙනෙවිරත්න මහතා ඇතුළු පවුලේ සැම - මහියංගනය - රු. 4,000/- ■ සී. වීරසිංහ මහතා - රු. 4,000/- ■ බුද්ධික බණ්ඩාරනායක මහතා සහ දිස්නා බණ්ඩාරනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - ඇමරිකාව - රු. 3,210/- ■ අසේල දික්කුඹුර මහතා - ඇමරිකාව - රු. 3,210/- ■ නිශාන්ත ජයවර්ධන මහතා සහ කවින්ද්‍යා සේනානායක මහත්මිය - ඇමරිකාව - රු. 3,210/- ■ කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනට සහභාගි වන පින්වතුන් - රු. 3,000/- ■ අසෝක රාජපක්ෂ මහතා ඇතුළු පිරිස - තිහාරිය - රු. 3,000/- ■ ජනක හපුආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - ගිනිගත්හේන - රු. 3,000/- ■ කේ. එම්. සමන්ත ප්‍රදීප් මහතා - කඹුරුගමුව, මාතර - රු. 3,000/- ■ නිශාන්ති ද සිල්වා මහත්මිය - මොරටුව - රු. 3,000/- ■ සුජාන් කරස්නාගොඩ මහතා සහ නිලූෂි දිසානායක මහත්මිය - ඕස්ට්‍රේලියාව  - රු. 3,000/- ■ රෝෂණ උමගිලිය මහතා, දුලානි මණ්ඩාවල මහත්මිය, රදීන් රාහුල් උමගිලිය පුතා සහ ටරිනි උමගිලිය, යෙනුලි උමගිලිය යන දියණියන් - පොළොන්නරුව - රු. 3,000/- ■ ටී. ටී. පී. සිල්වා මහත්මිය - නාගොඩ, කළුතර - රු. 2,500/- ■ ඩිලුදි ආදිත්‍යා පෙරේරා දුව - රණාල - රු. 2,500/- ■ ඩී. ඩී. විතාරණගේ මහතා ඇතුළු පවුලේ සැම - නුගේගොඩ - රු. 2,500/- ■ විමුක්ති සෙනෙවිරත්න මහතා සහ ජයමිණි ජයවර්ධන මහත්මිය - ඇමරිකාව - රු. 2,410/- ■ ජේ. කේ. සිසිර කුමාර සමරදිවාකර මහතා ඇතුළු පිරිස - එල්ලක්කල - රු. 2,130/- ■ සකුන්තලා ඒකනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - බත්තරමුල්ල - රු. 2,000/- ■ ජයනාත් සුබසිංහ මහතා - හෝමාගම - රු. 2,000/- ■ වෛද්‍ය තාරක රත්නායක මහතා සහ ලසන්ති රත්නායක මහත්මිය - නුගේගොඩ රු. 2,000/- ■ ගුණපාල ඉද්දගොඩ මහතා - විජේරාම - රු. 2,000/- ■ නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනට සහභාගී වන පින්වතුන් - රු. 2,000/- ■ ඔස්ටින් ප්‍රනාන්දු මහතා සහ සිසිර සිරිවර්ධන මහතා ඇතුළු පවුලේ සැම - පොල්ගහවෙල - රු. 2,000/- ■ ඉසුරු ගාල්ලගේ මහතා සහ මේනකා ශාන්තිනී මහත්මිය - කඩවත - රු. 2,000/- ■ ඩිලාරෝ වුඩ් කාවින් පුද්ගලික සමාගම - ගාල්ල - රු. 2,000/- ■ ජී. එච්. ඒ. පුබුදු ලක්ෂාන් පුතා ඇතුළු පවුලේ සැම - පිටකෝට්ටේ - රු. 2,000/- ■ එස්. ඩී. සමීර සුමිත් කුමාර මහතා සහ කේ. ඒ. දිලීනා සඳරුවනි මහත්මිය - කඹුරුපිටිය - රු. 2,000/- ■ නුවන් යාපා අමරසේකර මහතා සහ චරිතා කුමාරි හෙට්ටිආරච්චි මහත්මිය - රදවාන - රු. 2,000/- ■ රජිත් යාපා අමරසේකර මහතා - රදවාන  - රු. 2,000/- ■ ඩබ්. චන්ද්‍රරත්න මහතා ඇතුළු පවුලේ සැම - පාදුක්ක - රු. 2,000/- ■ නම සඳහන් නොකළ පින්වතෙක් - පිටකෝට්ටේ - රු. 2,000/- ■ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ■ ඒ. ඒ. එන්. අමරසිංහ මහතා ඇතුළු පවුලේ සැම - අවුලේගම - රු. 1,500/- ■ කේ. එම්. කේ. උදිත ලක්ෂාන් පෙරේරා මහතා සහ කේ. එම්. කේ. චන්ද්‍රිකා ප්‍රියානි පෙරේරා මහත්මිය - මිනුවන්ගොඩ - රු. 1,500/- ■ ලලිත් කුමාරසිංහ මහතා - පුත්තලම - රු. 1,230/- ■ එස්. ප්‍රසන්න ප්‍රියදර්ශන සිල්වා මහතා සහ මධුෂිකා ලක්මුතු පියදිගම මහත්මිය - ගල්කිස්ස - රු. 1,200/- ■ රසිකා අතුකෝරල මහත්මිය - පාදුක්ක - රු. 1,150/- ■ තිලකසිරි ජයරත්න, රොෂාන් මාලක, චතුරානි ඉන්දිකා යන මහත්ම මහත්මීන්, ඉමාෂා සේමිනි දුව, තිනෙත් හිමංෂ පුතා - පස්යාල - රු. 1,100/- ■ ඩබ්. ජී සුනිල් මහතා - අලව්ව - රු. 1,005/- ■ ශ්‍යාමල් බණ්ඩාර මහතා - කුරුණෑගල - රු. 1,000/- ■ සී. එම්. පී. සී. ලක්රුවන් මහතා - කළුතර - රු. 1,000/- ■ මෝක්ෂර තිලකසිරි පුතා - බැලුම්මහර - රු. 1,000/- ■ සමෘද්ධි තිලකසිරි පුතා - බැලුම්මහර- රු. 1,000/- ■ ප්‍රේමා ගීකියනගේ මහත්මිය ඇතුළු පිරිස - කුඩාඋඩුව - රු. 1,000/- ■ එල්. ඒ. කේ. ද සිල්වා මහතා - කිරුලපන - රු. 1,000/- ■ නිලූකා වෙල්ගම මහත්මිය ඇතුළු පවුලේ සැම - කඳන - රු. 1,000/- ■ පද්මිණී

සේනානායක මහත්මිය - කළගෙඩිහේන - රු. 1,000/- ■ රාහුල ඉන්ද්‍රකුමාර මහතා - මිනුවන්ගොඩ - රු. 1,000/- ■ වෛද්‍ය යෙනිකා කුමාරි මහත්මිය - එක්සත් රාජධානිය - රු. 1,000/- ■ එච්. එන්. ජී. වයි. නාඳුගල මහතා - රු. 1,000/- ■ සෝමා වික්‍රමසිංහ මහත්මිය - යක්කල - රු. 1,000/- ■ කේ. වසන්තා කුමාරි ආරියසිංහ මහත්මිය ඇතුළු පවුලේ සැම - නාගහහේන - රු. 1,000/- ■ වින්ද්‍යා නිර්මාණි දුව - රදවාන - රු. 1,000/- ■ කේ. ඒ. උපාලි ජිනදාස මහතා - දිවුරුම්පිටිය - රු. 1,000/- ■ දයා ගමඇතිගේ මහත්මිය - පිටකෝට්ටේ - රු. 1,000/- ■ සෙනෙහෙලතා ජයවික්‍රම මහත්මිය - ගම්පහ - රු. 1,000/- ■ අසංක ප්‍රේමතිලක මහතා - මරදගහමුල්ල - රු. 1,000/- ■ මැණිකේ දිසානායක මහත්මිය - කැලණිය - රු. 1,000/- ■ හසිත කසුන් බස්නායක මහතා - යක්කල - රු. 1,000/- ■ උදයමාලි රාජපක්ෂ මහත්මිය - වත්තල - රු. 1,000/- ■ නදීන් ඔමෙත් පතිරණ පුතා - කටුවාවල - රු. 1,000/- ■ එම්. එල්. එම්. සුමනසූරිය මහතා, ඩබ්. ඒ. එම්. සෙනෙහෙලතා මහත්මිය, එම්. එල්. දර්ශන මධුසංක මහතා, එම්. එල්. සසිඳු දුල්සික පුතා - වේවැල්දෙණිය - රු. 1,000/- ■ ඩබ්. ඒ. චන්ද්‍රාවතී මහත්මිය ඇතුළු පවුලේ සැම - මීරිගම - රු. 1,000/- ■ සම්පත් විජේකෝන් මහතා - යක්කල - රු. 1,000/- ■ ශ්‍රීනාත් සෙනෙවිරත්න මහතා - අත්තනගල්ල - රු. 1,000/- ■ මංජුලා පතිරණ මහත්මිය - නුගේගොඩ - රු. 1,000/- ■ ඩබ්. සුනන්ද රංජනී මහත්මිය - කහතුඩුව - රු. 1,000/- ■ ගීතා ගුණවතී මහත්මිය - පාදුක්ක - රු. 1,000/- ■ එල්. එම්. සුනිල් මහතා - දෙවිනුවර, මාතර - රු. 1,000/- ■ ශ්‍රියානි විජේසේකර මහත්මිය - උළුවිටිකේ, ගාල්ල - රු. 1,000/- ■ රංජිත් වික්‍රමසිංහ මහතා, පද්මාවතී වික්‍රමසිංහ මහත්මිය, සුභාෂිනී දිසානායක මහත්මිය - කඩිගමුව, උපුල් විජේනායක මහතා - මාවනැල්ල, මනෝජ් ජයසූරිය මහතා - මහරගම, එම්. ඩී. තිලකරත්න මහතා ඇතුළු පවුලේ සැම - වැලිපැන්න, තිස්ස බී. අතාවුද මහතා ඇතුළු පවුලේ සැම - ජාඇල, ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව, පී. ඩී. නයනි නිරෝෂිකා මහත්මිය - මීගොඩ, භාසිත කෙවින් පුතා - කඩුවෙල, විපුල සංජීව මහතා ඇතුළු පවුලේ සැම - හෝමාගම, කේ. ඒ. සී. කේ. කොතලාවල මහතා - රුවන්වැල්ල, සෙනරත් බස්නායක මහතා - යක්කල, රෝහිත අබේසිංහ මහතා - හෝමාගම - එකතුව - රු. 6,500/-, විවිධ පින්වතුන් විසින් ලබා දුන් පරිත්‍යාග - රු. 6,325/- එකතු වූ සියලු මුදල් පරිත්‍යාග - රු. 345,695/- ■ පළමු පිටපත් 15,000 සඳහා මුද්‍රණ වියදම රු. 395,250/- ■ අනෙකුත් වියදම් - 16,800/- ■ සම්පූර්ණ වියදම - රු. 412,050/- ■ එක් පිටපතක නිෂ්පාදන වියදම - රු. 27.47/- මුද්‍රණ කටයුතු සඳහා ගිය හිඟ මුදල සඟරා අලෙවියෙන් පියවා ගන්නා ලදී. සඟරා අලෙවියෙන් ලැබෙන ඉතිරි සියලු මුදල් නැවත මුද්‍රණ කටයුතු ඇතුළු දහම් කටයුතු සඳහාම යොදවනු ලැබේ.

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝසවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විහිදී පැතිරී පිහිටා සුගතිග ාමීව තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා! එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, නිදුක් නිරෝගී සුවය ලැබී, කරන කියන යහපත් රැකී රක්ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

---

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ පසුගිය කලාප ඇතුලු සියලු කලාප දැනට ලබාගත හැකි ස්ථානඃ

■ චන්ද්‍රල වෙළඳ විමන, අංක 104, හයිලෙවල් පාර, මහරගම 077 7258851 ■ හසරු ප්‍රින්ටර්ස් - මාලබේ. - 071 4220558 / 011 2744308 ■ පිනැකල් නෙට් - හයිලෙවල් පාර, ගොඩගම - 011 2895132 ■ තුෂාරා ෆැෂන් - හයිලෙවල් පාර, හෝමාගම - 011 2857572 ■ තුෂාරි සාරි සෙන්ටර් - කොළඹ පාර, පාදුක්ක - 076 6114237 ■ නිව් පියුමි කොමිනිකේෂන් - පීරිස් මාවත, කළුබෝවිල - 077 3742023 ■ නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනින් (බදාදා පෙ. ව. 9.00 සිට 3.00 දක්වා පමණි.) 077 2292677 / 071 3228571 ■ දෙහිවල කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරයේ සදහම් වැඩසටහනින් (සෙනසුරාදා උදේ 8.30 සිට සවස 2.00 දක්වා පමණි) (දෙහිවල පොලිස් ස්ථානය අසල) - 071 8059784, 077 2055098 ■ සෙනාරෝ සෙන්ටර් - අංක 35, රාජගිරිය පාර, රාජගිරිය - 075 5569555 ■ සීදේවි හෝටලය, වේයන්ගොඩ පාර, කිරිඳිවැල - 071 0118101 ■ කුමාර අයන් වර්ක්ස් - 209 ඒ, ගලහිටියාව, ගනේමුල්ල - 076 9604682, 071 3329621 ■ පෝලර් රීජන්ස් 402 සී, ගාලු පාර, පානදුර 038 2235369 ■ සරසවි පොත්හල - 330/ඒ, ගාලුපාර, අළුත්ගම - 077 3474081 ■ සුධීර කොමිනිකේෂන්, පිටිගල පාර, පැලවත්ත. - 071 2103177, 075 2679202 ■ සහන ෆාමසි - මූණගම, හොරණ - 071 2608776 ■ උපාලි පූජා භාණ්ඩ මන්දිරය - හොරණ 077 7722531 ■ සමනල පොත්හළ - නෙළුව - 071 2837757 ■ ස්ටුඩියෝ සෙවන් සීරෝ, තවලම හන්දිය, තවලම (ඉන්ධන පිරවුම් හල අසළ) 071 5827923 ■ ගේට්වේ අධ්‍යාපන ආයතනය - කලේගාන, ගාල්ල - 091 2242610 ■ නිව් මෙට්‍රෝ කම්පියුටර්ස් - කාලිදාස මාවත, මාතර - 041 2225118 ■ හෙළ බොදු සිසිල සෙනසුන - මුරුතමුරේ, හක්මන - 041 3021878 ■ පත්මසිරි ස්ටෝර්ස් - මුරුතමුරේ (පන්සල අසල) හක්මන - 071 4133487 ■ මෝලෙ කඩේ - මුදුන, වලස්මුල්ල - 071 1662643 ■ දිලුනෙත් - පාසල් මාවත, කඹුරුපිටිය - 071 9856555 ■ රාජපක්ෂ වෙළඳසැල - බැද්දෙගෙදර, මිද්දෙණිය පාර, වීරකැටිය - 07 12136329 ■ සංජීව සුපර් ග්‍රොසරි - ප්‍රධාන වීදිය, බඩල්කුඹුර 075 5863883, 055 2250051 ■ හොරණ වාසනා බේකර්ස්, අංක 31, තිස්ස පාර, වැල්ලවාය - 071 8375871 ■ අමර බුක් ෂොප් ඇන්ඩ් කොමියුනිකේෂන් - අංක 113/11 ඒ, බණ්ඩාරනායක මාවත, රත්නපුර - 071 2404242, 072 2404242 ■ සොබා දහම් ගොවිපොළ, සණස, උකුවෙල, මාතලේ - 071 8261500 / 066 2245353 ■ චන්ද්‍රල වෙළඳ විමන, අංක 124, කෙලින් වීදිය, මාතලේ - 077 3632966 ■ ඒකනායක මන්තින්දරාමය - ඉහළගම, මහඋඩගම, ගම්පොළ, නුවර - 077 541 64 61 / 081 020 57572 ■ අමිල ට්‍රේඩර්ස් , අංක ඩී1, ඒ. ඒ. ධර්මසේන මාවත, මහනුවර - 075 7246797 ■ අරිය චින්තාශ්‍රම හෙළ බොදු සෙනසුන, බාලදක්ෂ මාවත, ගල්කඩවල, අනුරාධපුර - 076 6442125 ■ අරි සිතුම් අරණ දහම් මැදුර, දේවගිරිපුර, ගල්ගමුව - 071 1211876 ■ හොරණ වාසනා බේකර්ස්, මැදවච්චිය (ඔරලෝසු කණුව ඉදිරිපිට) - 071 8375871 ■ ප්‍රජාපතී ගෝතමී ආරාමය, පහලගම, සියඹලන්ගමුව, මාස්පොත - 037 4902817 ■ පිවිතුරු අරණ සෙනසුන - කට්ටකඩුව, ආඬියාගල, දඹුල්ල - 025 5789988 ■ සීගිරි පොත්හළ, පොළ හන්දිය, මහව - 077 6243804 ■ ශෛල පබ්බතාරාමය, ගිජිදගම, පොල්ගහවෙල - 071 212 5880 ■ රුහුණු ෆුඩ් ලයින්, අංක 05, හලාවත පාර, කොච්චිකඩේ - 031 2277726 ■ චන්දන පූජා භාණ්ඩ - 100, බදුල්ල පාර, හාලිඇල - 055 2294999 ■ සෙව්වන්දි පොත්හළ, පාසල් මාවත (වැරෙන්කටගොඩ මහා විද්‍යාලය ඉදිරිපිට), වැරෙන්කටගොඩ, අම්පාර 077 4182684 / 077 0844980

**තැපෑලෙන් ගෙන්වා ගැනීම සඳහා විමසන්න - ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - අංක 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ - 0777794676**

***ඉහත ආයතන හිමි පින්වතුන් මෙම සද් කාර්ය ඉටු කරනු ලබන්නේ කිසිදු වෙළඳ ලාභයකින් තොරව සාසනික කටයුත්තක් වශයෙන් පමණි.***

# පේසකාර දුව

අලව් නුවරු වැසි දන හරසර පුදන
බලව් වෙහෙරැ සිරි අග්ගාලව කියන
දනව් එහි වසන බුදු හිමි වෙත පැමිණ
එබැව් පැවසු රිසි බව බුදු බණ අසන

හිමියෙනි අග්ගලාවට වඩිනු යහ පති
කුළුණෙනි සැමට ඇරයුම මුනිඳු පිළි ගති
නුවණෙනි බැලුව සඳ දැක දුවක පින ඇති
වෙසෙසෙනි පිහිට වෙමි සිතු ගමන යහ පති

තවදුර පෙනුනි ඇය මියයන බව එදින
මොහඳුර නසනු හැකි වෙයි පින සතු බැවින
බණවර ඇසුව කල තිලකුණු දැන හැඳින
පැනසර බව ලබනු ඇත මුනිඳුට පෙනින

දැරියනි කොහි සිටද පවසනු මෙහි ආවේ
හිමියනි නොදනිමියි දුවණිය පැවසූ වේ
සැබවිනි කොයිබටද යනු හිමි විමසූ වේ
සැකෙවිනි නොදනිමියි ඇගෙ පිළිතුර වූවේ

සෙසු පිරිසට නොවැටහුනි ඇයව නිසියුරු
දෙසු බුදු සමිඳු ගැඹුරුය ඇයගෙ පිළිතුරු
ඇසු සිරි දහම නික්මුනි ගෙදර අනතුරු
හසු විය මරුට විපතකි බලව බියකරු

දෑස පිරිදි සුරැකුව යහ ගුණ නිතින
පේස කාර දුව එම පිනටම ඇරුන
වාස නාව පෙර පින හිමි මුණ ගැසුන
දෝස නිවුනි වැටහුනි මග ඵල නිවන

පැණැස අහිමි දන අඳ පුහුලන් වැන්න
නැණැස ඇවැසි වෙයි ලොව දැහැමින් ඉන්න
අනිස බව සියලු දෙය මැනවින් දන්න
පිරිස හට හැකිය හොඳ බොදුවන් වන්න

කොහි සිට ආවෙමුද මෙහි අප හට නොදැනේ
කොහි යන්නෙමුද මරණින් මතු එය නොපෙනේ
කොහි සිටියා වුවද මරු පසු පස පැමිණේ
කොහි ඉපදුන නමුදු සිහි කළ යුතු මරණේ

(ධම්ම පදය - ලෝක වග්ගය ඇසුරෙනි)
පබැඳුම - කාව්‍ය ශිරෝමණී පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා





# සීමා වැට කඩොලු ඇයි බණ දෙසුමකට ?

පදවැල් අකුරු සීමා නැත දෙසන විට
නිදහස ඇත බෙදන්නට පද දහමෙ සිට
අදහස පමණි ගත යුතු ලොව වැටහුමට
බැඳ නැත බුදුන් දෙසු දම් කඳ පමණකට

පොතකට කොටුව බුදු හිමි දෙසු බණක් නැත
සිතකට නැගෙන දම් අවබෝධයක් දෙත
සත හට නිවන දෙයි නම් එහි ගුණක් ඇත
කොතැනට ගියද ඉන් සසරෙහි ජයක් වෙත

කට පාඩමින් නොව බණ දම් දිය යුත්තේ
සිට අවබෝධයෙනි දෙන දම් ඵල ඇත්තේ
යට කර බසට කවුරුද දම් දැක ගත්තේ
සෙට බුදු වදන දුලභයි හැම කල නැත්තේ

අසූ හාර දහසක් දම් කඳ මේවා
දෙසූ සම්ඳු එදවස පෙළහර පෑවා
විසූ රහත් උතුමන් පරපුර ගාවා
ඇසූ සව්වනට මතු නිවනම වූවා

නිදසුන් අඩි වචන උපමා නැත සීමා
විදසුන් වඩන්නට නිදහස ඇත බෝමා
පුදසුන් බලෙන් ගන්නට හැකි වෙද කෝමා
හරසුන් බවයි පෙන්වන්නේ නිති සේමා

අන් පිරිවැජි බණක් ලෙස බුදු දහම ගෙන
ඉන් සීමා දමයි සමහරු නොගැලපෙන
සුන් කර දෙසන නිදහස හිමි කරුවෝ මෙන
උන් හිටි තැන් පවා නැති වෙයි මරණයෙන

හිමිකරුවන් නොමැත බුදු දම තුල කිසිදා
බොදු දරුවන් පමණි බුදු හිමි පිය රජිඳා
ගුණ පිරුවන්ට ඇත සසරෙහි ජය මතු දා
දොස දැරුවන් නොමැත ජය ගෙන ගුණ නොරඳා

මුබ පරපුරෙන් ගෙන ආ බුදු දහම එදා
දැක නැති අයට පොත පමණයි පිහිට සදා
සැක හැර දකින්නට මිස පොත කුමට බදා
රැක ගෙන හිටිය පළියට නැත නිවන මෙදා

නිවන මෙයයි පනවන ලොව වදන් නැත
සවණ වැකුන විට අවබෝධයක් දෙත
ඉගෙන කිවත් පොතකින් අද නොයෙක් මත
දකින අයට ලොවිතුරු මග පසක් වෙත

බුදු දහමෙහි තරම් නිදහස නොමැත ලොවේ
පොදු දම් මගට සීමා බැම් සුදුසු නොවේ
පුදුමෙකි නිවන ගැන කියවෙන විටදි දැවේ
සිදුවන විපත මනු බව තුළ නොලැබ සුවේ

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

1085 RS.25.00
HELA BODHU PIYUMA 85

නීතිඥ චන්දන සිරිවර්ධන විසින් සංස්කරණය කර නුගේගොඩ ගංගොඩවිල වනාත පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කරවා ප්‍රසිද්ධ කරන ලදී.